# 01 තිලොවග බුදු පදවි ලබති

සතර පෙර නිමිති දුටු අප සිදුහත් බෝසතාණන් වහන්සේට මහලු වීම, ලෙඩ වීම, මරණය යනාදී විපත්වලින් පිරුණු ජීවිතයේ ඇලී ගැලී සිටීමේ හරයක් නොමැති බව වැටහිණ. එනිසා මේ දුක් ගිනිවලින් තොර වූ නිවීමක් සොයා යන්නට උන්වහන්සේ තීරණය කළහ. ඒ අනුව ඇසළ පොහෝ දිනක මහාභිනිෂ්ක්‍රමණය කළ සේක. අවුරුදු විසි නවයේ (29) දී මෙසේ රජසැප හැරදමා සත්‍යය සොයා යන උන්වහන්සේට මුලින් ම ආළාර කාලාම යන ගුරුවරයාත් දෙවනුව උද්දකරාමපුත්ත යන ගුරුවරයාත් මුණ ගැසුණි. සිදුහත් බෝසතාණෝ ඔවුන්ගෙන් නේවසඤ්ඤානාසඤ්ඤායතනය දක්වා අෂ්ට සමාපත්ති පුරුදු පුහුණු කළහ. එහෙත් එය දුක නිවීමට මග නොවන බව උන්වහන්සේට වැටහිණ.



ඉන් අනතුරුව ශරීරයට අපමණ දුක් දෙමින් දුෂ්කර ක්‍රියාව ආරම්භ කළහ. උන්වහන්සේ මෙම කාලය තුළ තම සිරුරට මිනිසෙකුට විඳිය නොහැකි තරම් උපරිම දුක් දෙමින් සත්‍යය සෙවූහ. මෙය අත්තකිලමථානු යෝගය ලෙස හැඳින්වේ. මේ කාලය තුළ උන්වහන්සේට උපස්ථාන කළේ කොණ්ඩඤ්ඤ, වප්ප, භද්දිය, මහානාම, අස්සජි යන තවුසන් පස්දෙනා ය. කෙසේ වූවත් ශරීරයට දුක් දීම ද සත්‍ය සෙවීමේ නිසි මග නොවන බව උන්වහන්සේට අන්තිමේ දී

වැටහිණ. එබැවින් ශරීරයට අපමණ දුක් දීමත්, සැපදීමත් යන අන්ත දෙකින් ම මිදී මධ්‍යම ප්‍රතිපදාවට පිවිසුණහ. පිණ්ඩපාතයෙන් යැපෙමින් ශරීරයේ දුබල බව දුරුකරගෙන සත්‍යය සෙවීමේ උත්සාහය අත්නොහැර දිගමට භාවනාවෙහි යෙදුනහ. ශරීරයට සැපදීමෙන් කිසි දා බුදුවිය නොහැකි යැයි ඇදහූ පස්වග තවුසෝ මේ අවස්ථාවේ දී කළකිරී උන්වහන්සේ අතහැර ගියහ.

වෙසක් මස තුදුස්වක දිනය උදා විය. උන්වහන්සේ පිඬු පිණිස සේනානි නම් නියම් ගම බලා වැඩියහ. කාලය එළඹෙන තුරු එහි අජපාල නුගරුක මුල වැඩ සිටින අතර සුජාතා නම් සිටුදුවක් පුණ්ණා නම් දාසිය ද කැටුව දිය නොමුසු කිරිබතක් රැගෙන එහි ආවා ය. රුක් දෙවියාට භාරයක් ඔප්පුකිරීමට ගෙන ආ එම පූජාව රන්තලිය ද සමගින් ම බෝසතාණන් වහන්සේට පුදා ''මාගේ පැතුම ඉටුවූවා සේ ම ඔබ වහන්සේගේ පැතුමත් ඉටුවේවා'' යි කියා ඕතොමො පිටත් ව ගියා ය.

එම කිරිබත සහිත රන්තලිය රැගෙන බෝසතාණන් වහන්සේ වැඩම කළේ නේරංජනා ගංතෙරට ය. එහි දිය නා කිරිබත රැගෙන පිඬු හතළිස් නවයක් කොට වැළඳූහ. උන්වහන්සේට එය, ඉදිරියට ගතකිරිමට ඇති දින හතළිස් නවයකට ප්‍රමාණවත් විය. වළඳා රන්තලිය නේරංජනා නදියට දැමූ උන්වහන්සේ '' ඉදින් අද මා බුදුවන්නේ නම් මේ රන්තලිය උඩුගං බලා යේවා යි '' අධිෂ්ඨාන කළහ. රන්තලිය උඩුගං බලා ගමන් කළේ ය. එදින ම බුදුබව ලැබීම නියත බව එයින් පසක් විය.

සවස් කාලයේ ජය ශ්‍රී මහා බෝධින් වහන්සේ දෙසට වැඩම කරන උන්වහන්සේට සොත්ථිය නැමැති බමුණෙක් කුසතණ අට මිටක් පූජා කළේ ය. උන්වහන්සේ බෝධි මූලයේ නැගෙනහිර දිසාව බලා කුසතණ අසුනක් සේ අතුරාගෙන එහි වැඩහුන් හ. එසේ වැඩහිඳිමින් සතර ආකාරයකින් දැඩි වීර්යයක්, දැඩි අධිෂ්ඨානයක් උපදවා ගත්හ.

1. සිරුරේ සම ගැලවී විසිර ගියත් බුදු වී මිස නො නැගිටිමි.
2. සිරුරේ නහර ගැලවී විසිර ගියත් බුදු වී මිස නො නැගිටිමි.
3. සිරුරේ ඇට කටු ගැලවී විසර ගියත් බුදු වී මිස නො නැගිටිමි.
4. සිරුරේ මස් ලේ වියළී ගියත් බුදු වී මිස නො නැගිටිමි.

යනු ඒ සතර යි.

'' චතුරංග සමන්නාගත වීර්යය '' ලෙස හැඳින්වෙන්නේ එය යි.

මේ මොහොතේ උන්වහන්සේගේ බුදුවීමේ අදහස දැන වහා එහි ආ වසවත් මරු උන්වහන්සේ බියකර පළවා හැරීමට සුළඟ, වැස්ස, ගල්, ආයුධ, අඟුරු, අළු, වැලි, මඩ, අඳුර යන බිහිසුණු වර්ෂා නවයක් වැස්ස වීය. ඒ සෑම වර්ෂාවක් ම උන්වහන්සේ වෙත ළඟා වූයේ පූජාවන් ලෙස ය. උන්වහන්සේට බිඳකුදු හානියක් නොවී ය. කිසිවක් කර කියාගත නොහැකි වූ මාරයා තමා ම පැමිණ උන්වහන්සේට අභියෝග කර සිටියේ ය. '' ශ්‍රමණ ගෞතමයනි, ඔය වජ්‍රාසනය මගේ යැයි '' හේ ගුගුළේ ය. ''ඔබට ඊට ඇති සාක්ෂි මොනවාදැ'යි බෝසතාණෝ විමසූහ. මාරයා තම සේනාව දෙස අත දිගු කළේ ය. දස බිම්බරක් සෙනග ''අපි සාක්කි''යැයි නැගූ හඬින් මුළු ලෝක ධාතුව ම ගිගුම් දුන්නේ ය. ගෞතමයනි, ඔබට මෙහි ඇති අයිතිය කුමක්දැයි මාරයා විචාළේ ය. '' මෙහි මට සාක්ෂියට කිසිවෙක් නැත. එහෙත් මේ සඳහා මා සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් දානාදී පාරමිතා පිරූ බවට මේ මිහිකත සාක්ෂි යැ'යි උන්වහන්සේ මහපොළව දෙසට අත දිගු කළහ. එකෙණෙහි කම්පා වූ මහපොළව ඉවසිය නොහැකි තරම් මහා ගර්ජනාවකින් ගුගුරා ගියේ ය. බියපත් මරසෙනඟ හිස් ලූ ලූ අත පලා ගියෝ ය.

අනතුරුව එහි රැස්වූ ගරුඬ, නාග, දිව්‍ය බ්‍රහ්ම සමූහයා බුදුරදුන්ට මෙසේ ස්තුති ගීතිකා ගයමින් ප්‍රීතිඝෝෂා කරන්නට වූහ.

ජයො හි බුද්ධස්ස සිරීමතො අයං
මාරස්ස ච පාපිමතො පරාජයො
උග්ඝොසයුං බොධිමණ්ඩෙ පමොදිතා
ජයං තදා දෙව ගණා මහෙසිනො

'' මහා සිරි සැපතින් හෙබි මුනිවරයාණන් වූ බුදුරදුන්ට ජය අත්විය. පාපී වූ මාරයාට පරාජය අත් වී යැයි එදා බෝ මැඩට රැස් වූ දේව සමූහයා බුදුරජාණන් වහන්සේට ජය ඝෝෂා නැගූහ. ''

රාත්‍රියේ පළමු යාමය උදාවිය. ප්‍රථම ධ්‍යානය, ද්විතීය ධ්‍යානය, තෘතිය ධ්‍යානය, චතුර්ථධ්‍යානය යන ධ්‍යාන පසුකොට උන්වහන්සේ පෙර

ආත්ම භාවයන් දැකීමේ නුවණ වූ **පුබ්බේනිවාසානුස්සති ඤාණය** උපදවා ගත්හ. රාත්‍රියේ මධ්‍යම යාමය වනවිට අනෙකුත් සත්ත්වයන්ගේ ඉපදීම මියයෑම, සුගති, දුගති ආදිය දතහැකි **චූතුපපාත ඤාණය** හෙවත් **දිබ්බචක්ඛු ඤාණය** උපදවා ගත්හ. රාත්‍රිය අවසාන භාගයේ හෙවත් පශ්චිම යාමයේ සියලු කෙලෙසුන්ගෙන් මිදීමෙන් ලබන **ආසවක්ඛය ඤාණය** අවබෝධ කොට වදාළහ. මෙසේ වෙසක් පුර පසළොස්වක පුන් පොහොදා අළුයම උන්වහන්සේ සාරාසංඛෙය්‍ය කල්ප ලක්‍ෂයක් පිරූ පාරමිතා බලය මුදුන්පත් කරමින් සියලු කෙලෙසුන් නසා සර්වඥතා ඤාණය අවබෝධකර ගෙන උතුම් වූ සම්මා සම්බුද්ධත්වයට පත් වූ සේක. එ සැණින් සියලු බුදුවරුන් බුදු වූ මොහොතේ පළකරන ප්‍රීති වාක්‍යය මෙසේ පළකර වදාළහ.

" නැවත නැවත ඉපදීම දුකකි. එබැවින් මේ පඤ්චස්කන්ධය නැමැති ගෙය සාදන වඩුවා සොයමින් මෙතෙක් කල් සසර සැරිසැරූයෙමි. තණ්හාව නමැති වඩුව, මා විසින් නුඹ දක්නා ලද්දෙහි ය. කෙලෙස් නැමැති පරාල බිඳ දැමුවෙමි. නැවත නුඹ මට ආත්මභාව නැමැති ගේ නොතනන්නෙහි ය. අවිද්‍යා නැමැති කැණිමඬල සුණු විසුණු කරන ලදී. තණ්හාව සිඳී ගියේ ය. මාගේ සිත නිවනට පත්විය." යනු උන්වහන්සේගේ ප්‍රීති උදාන ය යි.

### පුහුණුවට

අනෙක ජාති සංසාරං - සන්ධාවිස්සං අනිබ්බිසං
ගහකාරකං ගවෙසන්තො - දුක්ඛා ජාති පුනප්පුනං
ගහකාරක දිට්ඨොසි - පුන ගෙහං න කාහසී
සබ්බා තෙ ඵාසුකා භග්ගා - ගහකූටං විසංඛිතං
විසංඛාර ගතං චිත්තං - තණ්හානං ඛයමජ්ඣගා

### අභ්‍යාස

1. පහත සඳහන් විද්‍යාවන්ගේ සිංහල තේරුම් මතකයෙන් කියන්න.

   I. පුබ්බේ නිවාසානුස්සති ඤාණය
   II. චුතුපපාත ඤාණය
   III. ආසවක්ඛය ඤාණය

02. දසබිම්බර මාර සෙනග බුදුන් වහන්සේට කරදර කළ අයුරු චිත්‍රයට නගන්න.

# 02 සත් සති ගෙවුණු හැටි



පඨමං බොධි පලලංකං - දුතියඤ්ච අනිමමිසං
තතියං චංකමණං සෙට්ඨං - චතුත්ථං රතනාඝරං
පඤ්චමං අජපාලඤ්ච - මුචලින්දෙන ඡට්ඨමං
සත්තමං රාජායතනං - වන්දෙ තං මුනි සෙවිතං

එකුන්විසි වියේ දී අභිනිෂ්ක්‍රමණය කළ බෝසතාණන් වහන්සේ පන්තිස් වන වියේදී බුදුබව පසක් කළ සේක. එතැන් සිට තමන් ලැබූ විමුක්ති සුවය විඳිමින් උන්වහන්සේ සති හතක් බෝමැඩ අවට ම ගත කළ සේක.

## පළමු සතිය

බුදුරජාණන් වහන්සේ බුදු වූ විදුරසුනේ ම එක ම පර්යංකයෙන් සමවත් සුව විඳිමින් පළමු සතිය බෝමැඩ ම කල් ගෙවූහ. එහි දී පටිච්ච සමුප්පාදය අනුලෝම ප්‍රතිලෝම වශයෙන් මෙනෙහි කළහ. මෙසේ බුදුරදුන් බෝ මුල ම වැඩහිඳිනු දුටු දෙවියන්ගේ සිත් තුළ '' සිද්ධාර්ථ ගෞතමයන් තවම බුදුවී නැද්දෝ' යි සැකයක් උපණි. උන් වහන්සේ එය දුරුකරනු

පිණිස ආපෝ කසිණයෙන් තේජෝ කසිණයටත්, තේජො කසිණයෙන් ආපෝ කසිණයටත් වහ වහා සමවදිමින් ප්‍රාතිහාර්යයක් පෑ සේක. ඒ මොහොතේ බුදු සිරුරින් එකවර ගිනි කඳක් හා දිය කඳක් පිට වෙන්නා සේ දිස්විය. මෙය බුදුරජාණන් වහන්සේ නමකට පමණක් ම පෑ හැකි **යමක මහා ප්‍රාතිහාර්ය** යි. එයින් දෙවියන්ගේ සැක දුරුව ගියේ ය.

## දෙවන සතිය

එම විදුරසුනින් නැගී සිටි උන්වහන්සේ ඊළඟ සතිය සිටිවන ම ගතකළ සේක. ඒ සතිය පුරා තමාට බුදුවීමට උපකාර වූ ඇසතු බෝධීන් වහන්සේ දෙස ඇස්පිය නොහෙලා බලා සිටිය හ. සිත් පිත් නැති ගසකට පවා, කළ උපකාරයට කළගුණ දැක්විය යුතුය යන උදාර ගුණය ලොවට පෙන්වා වදාළ මේ අපූර්ව සිදුවීම **අනිමිස ලෝචන පූජාව** යනුවෙන් හැඳින්වේ.

## තෙවන සතිය

අනතුරුව උන්වහන්සේ අනිමිසලෝචන පූජාව කළ ස්ථානයත් ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේත් අතර සක්මන් කරමින් සතියක් ම කල් ගෙවූහ. මෙය **රුවන් සක්මන** ලෙස හැඳින්වේ.

## සිව්වන සතිය

බුදුරජාණන් වහන්සේ සිව්වන සතිය පුරා බෝධීන් වහන්සේට වයඹ දෙසින් පිහිටි රුවන්ගෙහි වැඩ වාසය කළහ. මෙහි දී උන්වහන්සේ අභිධර්මය මෙනෙහි කළ සේක. එයින් උපන් ධර්ම ප්‍රීතිය නිසා උන්වහන්සේගේ බුදු සිරුරින් සවණක් ඝන බුදුරැස් විහිදෙන්නට විය. අභිධර්මයේ සප්තප්‍රකරණ නැමැති රත්නයන් මෙනෙහි කළ තැන බැවින් එය රතනාඝර චෛතිය (රුවන්ගේ) යන නමින් හැඳින්වේ.

## පස්වන සතිය

මෙසේ සති හතරක් ම බෝමැඩ අවට වැඩසිටි බුදුරජාණන් වහන්සේ පස්වන සතියේ දී අජපාල නුගරුක මුලට වැඩම කළ සේක. එහි දී

තමන් වහන්සේ අවබෝධ කළ නිවන් සුවය විඳිමින් සතියක් කල් ගෙවූහ. එහිදී කවරෙකුට වුවද ගුරුවරයෙකු නැතිව විසීම දුකකැයි උන්වහන්සේට සිතිණ. එහෙත් තමාට ගුරුවීමට තරම් කිසිවෙකු නොමැති හෙයින් අන්තිමේ දී අවබෝධ කළ ධර්මය ම ගුරු තනතුරෙහි තබාගත් සේක. මේ අතර හ්ම් හ්ම්..... යන අනුකරණයෙන් මානයෙන් අනුන් හෙළා දකින (හුහුංක ජාතික) බ්‍රාහ්මණයෙක් පැමිණ බ්‍රාහ්මණයෙකු වීමට උවමනා කරන ධර්ම විමසා සිටියේ ය. ඊට පිළිතුරු දෙන බුදුරජාණන් වහන්සේ '' සැබෑ බ්‍රාහ්මණයා නම්, පව් බැහැර කළ, මානයෙන් අනුන් හෙළා නො දකින, කෙලෙස් කසට නැති, සතර මාර්ග ඥානයෙන් සත්‍යාවබෝධයේ කෙළවරට ගිය තැනැත්තා ය.'' යි වදාළ සේක. උන් වහන්සේ මෙහි බ්‍රාහ්මණ නමින් හැඳින් වූයේ රහතන් වහන්සේ ය.

මේ අතර දිනක් වසවර්ති මාරයා උන්වහන්සේ වෙත පැමිණියේ ය. සත් වසක් මුළුල්ලේ උන්වහන්සේගේ අඩු පාඩුවක් සොයමින් ලුහුබැන්දත් ඔහුට කිසිවක් හමු නොවීය. එයින් දුකට පත් හෙතෙම බුදුරදුන් වෙත පැමිණ බිම ඉරි අඳිමින් සිටියේ ය. මේ මොහොතේ තණ්හා, රතී, රගා යන මාර දූවරු එහි පැමිණියෝ ය. වසවර්ති නම් සිය පියා අස්වසනු පිණිස ඔවුහු නැටුම් ගැයුම්, වැයුම්වලින් බුදුරදුන් පොළඹවා ගන්නට තැත් කළහ. එහෙත් බුදුරජාණන් වහන්සේ ඒ දෙස වත් නොබැලූහ. ඒ සියලුදෙනා ලැජ්ජාවට පත්ව පලාගියෝ ය.

## හයවන සතිය

ඒ සත් දවස ඇවෑමෙන් බුදුරජාණන් වහන්සේ නේරංජනා නදී තීරයේ පිහිටි මුචලින්ද විලට නුදුරු මිදෙල්ල ගසක් මුලට වැඩම කළහ. එහි සමාධි සුවයෙන් ගතකරද්දී දැඩි සීත සුළං සහිත හත් දා වැස්සක් ඇද හැළුණේ ය. මෙහි දී එතනට පැමිණි මුචලින්ද නම් දිව්‍ය නාගරාජයා බුදුරජාණන් වහන්සේගේ සිරුර සිය දරණ වැලින් සත් වටයක් වෙලාගෙන හිසට ඉහළින් තම පෙනය කුඩයක් සේ විහිදුවාගෙන බුදුරජාණන් වහන්සේ නොතෙමෙන ලෙස සිටියේ ය.

## සත්වන සතිය

සත්වන සතියේ දී බුදුරජාණන් වහන්සේ රාජායතන නම් කිරිපලු රුක මුල සමාපත්ති සුවයෙන් වැඩසිටි සේක. ඒ අතරතුර උක්කලා නුවර

සිට ආ **තපස්සු** හා **භල්ලුක** යන වෙළඳ දෙබෑයෝ බුදුන් වහන්සේ දැක පැහැදී විළඳ සහ මීපිඬු පූජා කළහ. බුදුරජාණන් වහන්සේ ඔවුන්ට දහම් දෙසූහ. ඔවුහු බුදුන් හා දහම් සරණ ගියෝ ය. ඒ වන විට සංඝරත්නය ලොව පහළ වී නොතිබූ නිසා එකම **ද්වේවාචික** උපාසකයෝ ඔවුහු ය.

මෙම උපාසක දෙපල තමාට පිදීම ට වස්තුවක් දෙන්නැයි බුදුන් වහන්සේගෙන් ඉල්ලූ විට උන්වහන්සේ සිය හිස පිරිමැද කේශධාතු ස්වල්පයක් දුන්සේක. ඔවුන් එය රැගෙන විත් ලංකාවේ තිරියායේ තැන්පත් කොට චෛත්‍යක් සෑදූ බව සඳහන් වේ.

## අභ්‍යාස

01. පහත සඳහන් වගුව ( ඔබගේ අභ්‍යාස පොතේ සටහන් කර ) පුරවන්න.

| සතිය | වැඩසිටි ස්ථානය | සිදුවූ විශේෂතා |
|---|---|---|
| පළමු සතිය | | |
| දෙවන සතිය | | |
| තෙවන සතිය | | |
| සිව්වන සතිය | | |
| පස්වන සතිය | | |
| හයවන සතිය | | |
| සත්වන සතියය | | |

02. සත් සතියේ ඔබ වඩාත් සිත්ගත් සතිය චිත්‍රයට නගන්න.

# 03 පස්වග තවුසන් සොයා යාම

සත් සති ගෙවා නිමවූ බුදුරජාණන් වහන්සේ රාජායතනයෙන් පිටත් වී පෙරළා අජපාල නුගරුක මුලට වැඩමකළ සේක. එහි දී උන්වහන්සේට මෙවැනි සිතුවිල්ලක් පහළ විය.



'' මා ඉතා දුක සේ අවබෝධ කළ මේ ධර්මය ශාන්ත ය, ප්‍රණීත ය, තර්කයෙන් වටහාගත නොහැකි ය. එය ගැඹුරු ය. කෙනෙකුට පහසුවෙන් දැකිය නොහැකි ය. අවබෝධය දුෂ්කර ය. තවද ලෝකයේ සත්වයෝ රාග ද්වේශාදියේ ඇලී ගැලී රත්වී වෙසෙන්නෝ ය. ඔවුන්ට මේ ධර්මය අවබෝධ කිරීම පහසු නැත. එනිසා එය දේසනා කිරීමට යෑමෙන් මට වන්නේ වෙහෙසක් පමණි. ''

බුදුරජාණන් වහන්සේගේ මෙම අදහස දැනගත් සහම්පතී මහා බ්‍රහ්මයා සැණෙකින් එහි පැමිණියේ ය. පැමිණ '' ස්වාමීනි, දහම් අවබෝධ කිරීමට සමත්, කෙලෙස් අඩු සත්වයෝ බොහෝ වෙති. බණ අසන්නට නොලැබීමෙන් ඔවුහු පිරිහෙන්නෝ ය. සුගතයන් වහන්ස, එහෙයින් අනුකම්පාකොට දහම් දෙසනු මැනැවැයි '' ආරාධනා කළේ ය.

ඉන් අනතුරු ව උන්වහන්සේ කා හට පළමුව දහම් දෙසම් දැයි සළකා බැලූහ. මුලින් ම උන්වහන්සේගේ සිහියට නැගුණේ සත්‍ය සොයමින්

යනවිට තමාට ගුරු වූ ආළාර කාලාම හා උද්දකරාමපුත්ත යන තවුසන් දෙදෙනා ය. එහෙත් ආළාර කාලාම තුමා ඉන් සතියකට පෙරත් උද්දකරාමපුත්ත තුමා පෙරදින රාත්‍රියේත් මියගොස් තිබුණි.

ඉන්පසුව තමාට දුෂ්කර ක්‍රියා සමයේ උපකාර කළ පස්වග තවුසන්ට දහම් දෙසන්නට තීරණය කළහ. ඒ අනුව උන්වහන්සේ බරණැස් නුවර ඉසිපතනයේ මිගදාය බලා පිටත් වූහ. බෝධීන් වහන්සේටත් ගයාවටත් අතරමග දී උන්වහන්සේට උපක නම් ආජීවකයෙක් හමු විය.

උපක බුදුරජාණන් වහන්සේ දැක පැහැදී ''ඔබේ ඉඳුරන් ප්‍රසන්න ය. ඔබේ ශරීර වර්ණය පැහැපත් ය. ඔබගේ ගුරුවරයා කවරෙක්ද? ඔබ අදහන්නේ කාගේ ධර්මයක්දැ යි'' විමසී ය. එයට පිළිතුරු දෙමින් බුදුරජාණන් වහන්සේ

සබ්බාභිභූ සබ්බවිදූහමස්මි
සබ්බේසු ධම්මේසු අනූපලිත්තො
සබ්බඤ්ජහො තණ්හක්ඛයේ විමුත්තො
සයං අභිඤ්ඤාය කමුද්දිසෙය්‍යං

'' මම සියල්ල අභිබවා සිටිමි. දත යුතු සියල්ල දතිමි. කිසිදු දෙයක නො ඇලී සිටිමි. සියලු කෙලෙස් දුරුකොට නිර්වාණය අවබෝධ කළෙමි. සියලු දේ තමා ම අවබෝධ කරගත් මම ගුරුවරයා ලෙස කවරෙකු දක්වම් ද ''යි පැවසූහ.

මෙය අසා සිටි උපක එසේ නම් ඔබ '' අනන්ත ජින '' විය යුතු යැයි කීය. බුදුරජාණන් වහන්සේ සියලු පාපයන් නැසූ තමන් ජින යැයි කීමට සුදුසු බව පැවසූහ. එය අසා '' එසේ වන්නටත් පුළුවන් '' කියා උපක යන්නට ගියේ ය. බුදුරජාණන් වහන්සේ බරණැස බලා වැඩම කළහ.

ඒ ඇසළ පුණු පොහොය දිනයක් විය. ගංගානම් නදිය පසුකරමින් ඉසිපතනයට ළඟා වූ උන්වහන්සේ සවස් කාලයේ පස්වග තවුසන් හමුවට වැඩම කළහ. උන්වහන්සේ වැඩම කරනු දුරදී ම දුටු ඔවුහු '' ශ්‍රමණ ගෞතමයන් දුෂ්කර ක්‍රියාවෙන් පැරදී සිව්පස බහුල භාවයට වැටී

බුදු විය නොහැකිව ආපසු එන්නේ ය. ඇවැත්නි, අප ඔවුන් වැඳිය යුතු නැත. හුනස්නෙන් නැගිටිය යුතු නැත. පාසිවුරු පිළිගත යුතු නැත. සම්භාවනීය පවුලක උපන් කෙනෙකු වන බැවින් කැමැතිනම් හිඳගන්නට අසුනක් පමණක් දෙමු ''යැයි කතිකා කර ගත්හ.

බුදුරදුන් ළං වන විට සිය කතිකාවතෙහි පිහිටා සිටින්නට ඔවුහු අපොහොසත් වූහ. එක් කෙනෙක් පෙරගමන් ගොස් පාසිවුරු ගත්තේ ය. තවත් කෙනෙක් දෙපා දෝවනය කළේ ය. තවත් කෙනෙක් ආසනයක් පිළියෙල කළේ ය. උන්වහන්සේ ඔවුන් පිළියෙල කළ ආසනයේ වැඩ සිටියහ.

බුදුරජාණන් වහන්සේ සමග සතුටු සාමීචියේ යෙදෙන ඔවුහු '' ඇවැත්නි, ගෞතමයෙනි '' කියා බාල කෙනෙකු අමතන'' ආවුසෝ '' වාදයෙන් කතා කරන්නට වූහ. එහි දී උන්වහන්සේ බුදුකෙනෙකුට ආවුසෝ වාදයෙන් ඇමැතීම සුදුසු නොවන බව පෙන්වා දුන්හ. එහෙත් දුෂ්කර ක්‍රියාවෙන් තොර ව බුදුවීමක් නැතැයි විශ්වාස කළ ඔවුහු උන්වහන්සේගේ බුදුබව නොපිළිගත්හ; දිගට ම ආවුසෝ වාදයෙන් ම ඇමතූහ. දෙවන වර කියද්දීත් ඒ කරුණ නොපිළිගත් විට තුන්වන වර පස්වග තවුසන් ඇමැතූ බුදුරජාණන් වහන්සේ'' මහණෙනි, මා මීට පෙර කිසිදා ඔබට බුදුවූ බවක් කියා ඇත්දැ'යි විමසූහ.

ඔවුහු '' ඔබ වහන්සේ කවදාවත් අපට එසේ ප්‍රකාශ කොට නැත. කිසි දිනක අපි රවටා නැතැ '' යි කියා බුදුරදුන්ගේ බසට එකඟ වූහ. එවිට බුදුරජාණන් වහන්සේ මහණෙනි මම සම්මා සම්බුද්ධ වෙමි. මට ඇහුම්කන් දෙන්න. මම දහම් දෙසමි. ඒ දහම් පිළිපැදීමෙන් සත්‍යාවබෝධය කොට වාසය කරන්නැයි වදාළහ.

## පුහුණුවට

අහං හි අරහා ලොකෙ - අහං සත්‍ථා අනුත්තරො
එකොම්හි සම්මා සම්බුද්ධො - සීතිභූතොස්මි නිබ්බුතො

(අරිය පරියේසන සූත්‍රය)

## අභ්‍යාස

01. බුදුරජාණන් වහන්සේ මුලින් ම ධර්මය දේශනා කිරීමට තීරණය කළේ කාට ද?

02. බුදුරජාණන් වහන්සේ උපක ආජීවකයාට තමන් කවුදැයි හඳුන්වා දුන්නේ කෙසේ දැයි පන්තියට ඉදිරිපත් කරන්න.

# 04 මංගල ධර්ම දේශනය

එදා ලස්සන දවසක්. ඇසළ පොහෝදා රාත්‍රී සඳ එළියෙන් බරණැස ඉසිපතන මිගදායේ මුළු පරිසරය ම ආලෝකමත් වී තිබිණි. පැණවූ ආසනයේ බුදුරජාණන් වහන්සේ මංගල ධර්මදේශනය පැවැත්වීමට සූදානමින් වැඩ සිටියහ. ධර්ම ශ්‍රවණයට සූදානම් වූ පස්වග තවුසෝ ඉදිරියෙන් වාඩිවූහ. දිව්‍ය බ්‍රහ්මයෝ සියුම් වෙස් ගෙන එහි රැස්වූහ. සතා සිව්පාවුන් පවා නිශ්ශබ්දව සිටියේ ධර්ම ශ්‍රවණය කිරීමේ හුරුපුරුදු උවසුවන් ලෙසිනි. අනතුරුව බුදුරජාණන් වහන්සේ සියලු පිරිස අමතමින් දම්සක් පැවතුම් සූත්‍රය දේශනා කළසේක.

එහි දී මේ සසර දුකින් එතර වන්නට යන තැනැත්තා විසින් අත්හළ යුතු අන්ත දෙකක් බුදුරජාණන් වහන්සේ පෙන්වා දුන්හ.

1. කාමසුඛල්ලිකානුයෝගය - ශරීරයට සැප දෙමින් දුක යටපත් කිරීමේ වෑයම.
2. අත්තකිලමථානුයෝගය - ශරීරයට දුක් දීමෙන් දුකින් දුක නැසීමේ වෑයම.

කම්සැප විඳීමෙන් දුක නසන්නට යාම හීන වූ, ග්‍රාම්‍ය වූ, අනුවණ පුහුදුන් පුද්ගලයන්ගේ ගතියකි. ආර්යයන් වහන්සේලාට නොගැළපෙන්නකි. අවැඩ පිණිස හේතු වන්නකි. එමගින් දුකින් මිදිය නොහැකි ය.

දුෂ්කර ක්‍රියාවලින් ශරීරයට නොයෙක් දුක් දීමේ ප්‍රතිපත්තිය ම දුකකි. එය ද නිවන් පිණිස හේතු නොවේ. එය බුද්ධාදී උතුමන්ගේ පිළිවෙත නොවේ.

සසර දුකින් එතෙර වීමට බලාපොරොත්තුවන තැනැත්තා කළ යුත්තේ මෙම අන්ත දෙකින් වෙන් වූ මධ්‍යම ප්‍රතිපදාව හෙවත් ආර්ය අෂ්ටාංගික මාර්ගය අනුගමනය කිරීම යි. මේ මාර්ගයේ ගමන් කිරීමට නම් අප මේ සසර දුක මනාව වටහා ගත යුතු ය. මේ නිසා බුදුරජාණන් වහන්සේ ප්‍රථම ධර්ම දේශනාව මගින්

ලෝක සත්‍යය සතර ආකාරයකින් පෙන්වා වදාළ සේක. ඒවා චතුරාර්ය සත්‍ය ය නම් වේ.
එනම්,

1. දුකක් ඇත - දුක්ඛ ආර්ය සත්‍යය
2. දුකට හේතුවක් ඇත - දුක්ඛ සමුදය ආර්ය සත්‍යය
3. දුක නැතිකළ හැක - දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය
4. දුක නැසීමට මගක් ඇත - දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය

## 1. දුක්ඛ ආර්ය සත්‍යය

මේ ලෝකයේ මිනිසුන් මුහුණ දෙන දුක් දොළසකි. ඉපදීම දුකකි, වයසට යෑම දුකකි, ලෙඩ වීම දුකකි, මරණයට පත් වීම දුකකි, අප්‍රියයන් හා එක්වීම දුකකි, ප්‍රියයන්ගෙන් ඈත් වීම දුකකි. කැමැති දේ නොලැබීම දුකකි, කෙටියෙන් කිවහොත් මෙම පඤ්චස්කන්ධය මම ය මාගේ යැයි අල්ලාගෙන සිටින තුරු ම දුකකි. සත්ත්වයා මේ දුක්වල හිරවී සසර සැරිසරයි.

## 2. දුක්ඛ සමුදය ආර්ය සත්‍යය

රෝගයක් වේ නම් රෝගයට නිදානයක් තිබෙන්නා සේ ම දුකට ද හේතුවක් තිබේ. අප එම හේතුව ද දැනගත යුතු ය. එය නම් තණ්හාව යි. සත්ත්වයා මෙසේ සසර ඉපදෙමින් මැරෙමින් යන්නේ ද තණ්හාව නිසයි. මෙම තණ්හාව පස්කම් රසයෙහි ගිජුකම (කාම තණ්හා), නැවත නැවත ඉපදෙමින් පැවතීමේ කැමැත්ත (භව තණ්හා), ජීවිතය මරණින් අවසන් ය යන විශ්වාසය හා ඊට ඇති කැමැත්ත (විභව තණ්හා) වශයෙන් කොටස් තුනකට බෙදේ. සත්ත්වයා මේ තණ්හාව හෙවත් ආශාව නිසා සසර බැඳීම් ඇති කරගනී. ඒ මගින් නැවත නැවත සසර දුක ඇති වෙයි.

## 3. දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය

දුක්ඛ නිරෝධය නම් දුකින් මිදීම යි. ඒ සඳහා අප කළ යුත්තේ කුමක් ද? ඉහත කී කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා යන තුන්

ආකාර තණ්හාව නැති කිරීමයි. එම තණ්හාව සහමුලින් ම සිඳීම නිර්වාණයයි. දුක්ඛ නිරෝධ යනු ඒ නිර්වාණයට ම නමකි.

## 4. දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යය

සසර දුකක් බව වටහාගෙන, එය ඇති වීමට හේතුවත් දැනගෙන, එය නැති කළ හැකි බවත් තේරුම් ගත් තැනැත්තා එය නැති කිරීමේ මාර්ගය සොයනු ඒකාන්ත ය. ඒ සඳහා ඇති එකම මාර්ගය සොයාගත්තේ බුදුරජාණන් වහන්සේ ය. එම මාර්ගය අංග අටකින් යුක්ත ය.

| | | | |
|---|---|---|---|
| 01. | සම්මා දිට්ඨි | - | යහපත් දැකීම |
| 02. | සම්මා සංකප්ප | - | යහපත් කල්පනාව |
| 03. | සම්මා වාචා | - | යහපත් වචනය |
| 04. | සම්මා කම්මන්ත | - | යහපත් ක්‍රියා |
| 05. | සම්මා ආජීව | - | යහපත් දිවි පැවැත්ම |
| 06. | සම්මා වායාම | - | යහපත් උත්සාහය |
| 07. | සම්මා සති | - | යහපත් සිහිය |
| 08. | සම්මා සමාධි | - | යහපත් සමාධිය (සිතේ එකඟබව) |

ගිහි පැවිදි අප කවුරුත් කරන්නේ මේ අංග අට පිළිපැදීමයි. බෞද්ධ ප්‍රතිපදාව එයයි. එය හරිහැටි දැන පිළිපැදීමෙන් නිවන් අවබෝධ කළ හැකි ය.

## භික්ෂු සාසනය ආරම්භවීම

මංගල ධර්ම දේශනාව ඇසූ පස්වග තවුසන්ගෙන් කොණ්ඩඤ්ඤ තාපසතුමා පළමු වතාවේ ම සෝවාන් විය. බුදුරජාණන් වහන්සේ ඔහුට '' මහණ, එන්න මෙහි බඹසර හැසිරෙන්නැ'යි වදාළ සේක. එය ම උන්වහන්සේට පැවිද්ද හා උපසම්පදාව විය. '' ඒහි භික්ඛු '' පැවිද්ද යනු එයයි. බුදු සසුනේ පළමුව චතුරාර්ය සත්‍යය අවබෝධකළ නිසා කොණ්ඩඤ්ඤ තෙරුන් අඤ්ඤාකොණ්ඩඤ්ඤ යන නාමයෙන් හඳුන්වනු ලැබේ. ඉන් අනතුරු ව පිළිවෙළින් වප්ප, භද්දිය, මහානාම, අස්සජි යන තවුසන් සතර දෙනා ද සෝවාන් වූ අතර ඒහි භික්ඛු භාවයෙන් ම පැවිද්ද හා උපසම්පදාව ද ලැබූහ.

පසු දිනක බුදුරජාණන් වහන්සේ අනිත්‍ය දුක්ඛ, අනාත්ම යන ත්‍රිලක්ෂණය ඇතුළත් වූ අනත්තලක්ඛණ සූත්‍රය දේශනා කළ සේක. මෙම සූත්‍ර දේශනාව අවසානයේ පස්වග මහණුන් සියලුදෙනා ම සියලු කෙලෙසුන් නසා රහත් භාවයට පත් වූහ.

## පුහුණුවට

දුක්ඛං දුක්ඛ සමුප්පාදං - දුක්ඛස්ස ච අතික්කමං
අරියඤ්චට්ඨංගිකං මග්ගං - දුක්ඛූපසමගාමිනං
ඒතං ඛො සරණං ඛෙමං - ඒතං සරණ මුත්තමං
ඒතං සරණමාගම්ම - සබ්බ දුක්ඛා පමුච්චති

## අභ්‍යාස

1. ආර්ය මාර්ග අංග අට තේරුම් සහිත ව පිළිවෙළින් ලියා දක්වන්න.

2. මංගල ධර්ම දේශනාව පිළිබඳ පින්තූරයක් සොයා ඔබේ අභ්‍යාස පොතේ අලවා ඒ පිළිබඳ කෙටි විස්තරයක් ලියන්න.

# 05 බුදු සසුනේ ප්‍රථම ධර්ම දූත මෙහෙවර ඇරැඹෙයි

" චරථ භික්ඛවෙ චාරිකං බහුජන හිතාය බහුජන සුඛාය ලොකානුකම්පාය අත්ථාය හිතාය දෙව මනුස්සානං මා එකෙන දෙව අගමිත්ථ. දෙසෙථ භික්ඛවේ ධම්මං ආදි කල්‍යාණං මජ්ඣෙ කල්‍යාණං පරියොසාන කල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවල පරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙථ "

යස යනු බරණැස් සිටුවරයාගේ පුත්‍රයා ය. සිටු පුතෙකු වූ බැවින් ඔහුට සැපසම්පතින් අඩුවක් නොවීය. එහෙත් පිරුණු පින් ඇතිව අවසන් ආත්ම භාවයෙහි සිටි ඔහුට පස්කම් සැපතෙහි ඇල්මක් නොවී ය. එය තාවකාලික සුවයක් පමණක් බව තේරුම්ගෙන කල්පනා කරමින් කල් ගෙවී ය.

මෙසේ මේ නිසරු ජීවිතය ගැන කලකිරි සිටි යස දිනක් උදෑසන රහසින් ම නිවසින් පිටව ගියේ ය. " මේ ජීවිතය සම්බාධක සහිත යි. කරදර සහිත යි " යනුවෙන් මුමුණමින් හෙතෙම ඉසිපතනාරාමය අසලින් ගමන් කරයි. සක්මනෙහි යෙදී සිටි බුදුරජාණන් වහන්සේට ඔහුගේ වදන් ඇසිණි. උන්වහන්සේ ඔහු ඇමැතූහ. " යස මෙහි එන්න. මේ මහණකම සම්බාධකවලින් තොර යි. සැහැල්ලු යි. එන්න මම ඔබට ඒ ගැන කියාදෙමි " යි වදාළ සේක.

එය ඇසුණු සැණින් මිරිවැඩි සඟල ආරාම දොර අබියස ගලවා තැබූ යස බුදුරජාණන් වහන්සේ වෙත එළඹියේ ය. උන්වහන්සේට වැඳ නමස්කාර කොට එකත්පසෙක හුන්නේ ය. බුදුරජාණන් වහන්සේ ඔහුට අනුකම්පාවෙන් දහම් දෙසූහ. මෙම දේශනාව අසා සිටි යසකුල පුත්‍රයා සෝවාන් වීමට තරම් වාසනාවන්ත විය.

දින කිහිපයක් තිස්සේ කල්පනා භරිත ව සිටි තම පුත්‍රයා හිටිහැටියේ අතුරුදහන් වීම ගැන දෙමාපියෝ කළබල වූහ. බරණැස් සිටුතුමා සේවකයන් සතර දෙනෙකු සතර පැත්තට යවා තමා ද තම පුතු සොයා පිටත් විය. අතර මග පුතුගේ මිරිවැඩි සඟලේ සටහන් දැක හෙතෙම ඒ ඔස්සේ ඉදිරියට ගියේ ය. මිරිවැඩි සඟල හමුවිය. තම පුතු ඉසිපතනාරාමයට ගොස් ඇති බව ඔහුට වැටහිණ. සිටිතුමා ද ආරාමයට පිවිසියේ ය.

ඔහු පැමිණෙනු දුරදීම දුටු බුදුරජාණන් වහන්සේ ඔහුට පුතු නොපෙනෙන්නට අධිෂ්ඨාන කළහ. සිටුතුමා පැමිණ තම පුතු දුටුවේ දැ යි බුදුරදුන්ගෙන් විමසී ය. ' ඔබට පුතු දැකිය හැකියි, වාඩිවෙන්නැ යි ' බුදුරජාණන් වහන්සේ දන්වා සිටියහ. ඒ අනුව හෙතෙම වැඳ එකත්පසෙක හුන්නේ ය. බුදුරජාණන් වහන්සේ ඔහුට දහම් දෙසූහ. එය අසා සිටුතුමා සෝවාන් විය. ඉතා ප්‍රීතියට පත් හෙතෙම බුද්ධං සරණං ගච්ඡාමි, (බුදුන් සරණ යමි), ධම්මං සරණං ගච්ඡාමි, (දහම් සරණ යමි), සංඝං සරණං ගච්ඡාමි, (සඟුන් සරණ යමි)යි තෙරුවන් සරණ ගියේ ය. මේ අනුව බුදු සසුනේ ප්‍රථම **තේවාචික** උපාසකතුමා වූයේ බරණැස් නුවර සිටුතුමාය. තම පියාට දේශනා කළ ධර්ම දේශනාව අසා සිටි යසකුල පුත්‍රයා ද රහත් විය.

ඉන් පසුව බුදුරජාණන් වහන්සේ බරණැස් සිටුවරයාට යසකුල පුතු පෙනෙන්නට සැළැස්වූහ. තම පුතු දැක ප්‍රීතියෙන් ඉපිලගිය සිටුවරයා '' පුත, නුඹේ මව ශෝකයෙන් වැළපෙන්නී ය. පැමිණ ඇයට ජීවිතය දෙන්නැ'' යි කීය. එවිට බුදුරජාණන් වහන්සේ '' සිටුතුමනි, දැන් ඔබේ පුතු රහත් කෙනෙකි. ඔහු දැන් පෙර සේ ගිහියෙකු ලෙස ගෙදරට නොඑන්නේ යැ'' යි වදාළ සේක. මෙය ඇසූ සිටුතුමා වඩාත් සතුටට පත් විය. '' ස්වාමීනි, අපේ පුත්‍රයා රහත් වීම මහත් භාග්‍යයකි. එසේ නම් ස්වාමීනි, පුත්‍රයාත් සමග අද දින දහවල් අප නිවසේ දනට වඩිනු මැනැවැ'යි ආරාධනා කොට පිටත්ව ගියේ ය. ඔහු ගිය මද වේලාවකින් බුදුරජාණන් වහන්සේ යසකුල පුත්‍රයා ද ඒහි භික්ඛු භාවයෙන් පැවිදි උපසම්පදා කළ සේක.

බුදුරජාණන් වහන්සේ දහවල් යස තෙරුන් කැටුව බරණැස් සිටු මැදුරට දානය සඳහා වැඩම කළහ. දන්වළඳා අවසානයේ කළ ධර්ම දේශනාව අසා යස මහරහතන් වහන්සේගේ මව හා ගිහිකල බිරිඳ ද සෝවාන් වූහ.

දෙදෙනා ම තෙරුවන් සරණ ගියහ. ඒ අනුව තෙරුවන් සරණ ගිය පළමු උපාසිකාවන් දෙදෙන වීමේ වාසනාව ද එම දෙපල හිමිකර ගත්හ.

යසකුල පුත්‍රයා පැවිදිවූ බව අසා විමල, සුබාහු, පුණ්ණජී, ගවම්පති යන ඔහුගේ හොඳම යහළුවෝ සතරදෙනා පැමිණ බුදුරජාණන් වහන්සේගෙන් බණ අසා සෝවාන් වී පැවිදිබව ලබා රහත් වූහ. ඉන් අනතුරුව ඔවුන්ගේ යහළුවෝ පණස් දෙනෙක් ද පැමිණ බණ අසා පැවිදිව රහත් වූහ. මේ අනුව මේ වනවිට බුදුරජාණන් වහන්සේත් සමග රහතන් වහන්සේලා හැට එක් නමක් වූහ.

## ධර්ම දූතයන් වහන්සේලා පිටත් වෙති

අනතුරුව තම ශ්‍රාවක හැට නම අමතා බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළහ. ''මහණෙනි, බොහෝ දෙනාට හිත පිණිස, සුව පිණිස ලොවට අනුකම්පා පිණිස, දෙවිමිනිසුන්ට වැඩ පිණිස චාරිකාවේ හැසිරෙන්න. දෙනමක් එකමගින් නොයන්න, මහණෙනි, මුල මැද අග යහපත් වූ අර්ථ සහිත ව්‍යඤ්ජන (නිවැරදි පද, වාක්‍ය උච්චාරණ) සහිත සැම ආකාරයෙන් ම පිරිපුන් ධර්මය දෙසන්න. මේ පිරිසිදු බ්‍රහ්ම චරියාව ප්‍රකාශ කරන්න''

මෙසේ ප්‍රථම ධර්මදූත පිරිස පිටත්කර යවා තමන් වහන්සේත් දහම් දෙසනු පිණිස උරුවෙල් දනව්ව බලා වැඩම කළ සේක. මෙසේ සත්ත්වයා සසර දුකින් එතෙර කිරීමේ මහා මෙහෙවර දියත් විය. සම්බුදු දහම ලෝවැසියාගේ දෙසවන් කරා ගෙන යන මහා ධර්මදූත සේවය ඇරඹිණ.

### අභ්‍යාස

01. පළමු රහතන් වහන්සේලා හැට නම නම් කරන්න.

02. ගුරු හිමියන්ගේ උදව් ඇතිව චරථ භික්ඛවේ........ යන පාඩමේ මුලින් සඳහන් පාඨය හා සිංහල තේරුම කටපාඩමින් කියන්න.

# 06 දහම එතෙර මෙතෙර පැතිර යයි

## භද්දවග්ගිය කුමාරවරුන් තමන් ගැන සෙවීම

බුදුරජාණන් වහන්සේගේ පළමුවන වස බරණැස ඉසිපතනාරාමයේ ගතවිය. ධර්මදූත පිරිස පිටත්කර යවා උරුවෙල් දනව්ව බලා වැඩම වන උන්වහන්සේ අතර මග ගසක් මුල විවේක සුවයෙන් වැඩ හුන් සේක. මේ අතර භද්දවග්ගිය කුමාරවරු තිස්දෙනෙක් භාර්යාවරුන් සමග වනයෙහි සංචාරය කරමින් සිටියෝ ය. එක් කුමාරයෙකුට බිරියක් නොසිටි බැවින් සහායට වෙසඟනක් කැදවාගෙන අවුත් සිටියා ය. ඇය ඔවුන්ගේ පමාවක් බලා රන්රිදී බඩු පැහැරගෙන පලාගියා ය. ඇය සොයා වනය පීරමින් යන කුමාරවරුන්ට බුදුරදුන් මුණ ගැසුණි.

ඔවුහු බුදුන් වහන්සේ හමුවට ගොස් '' ස්වාමීනී, මෙතැනින් කාන්තාවක් යනවා දුටුවේ දැ යි '' විමසූහ. එවිට බුදුරජාණන් වහන්සේ '' කුමරුනි, වඩා උතුම් කුමක්ද? අනුන් සෙවීම ද නැතිනම් තමා ගැන සෙවීම දැ යි'' ඇසූහ. '' ස්වාමීනී, තමන් ගැන සෙවීම අපට උතුම් වේ' යැයි ඔහුහු පිළිතුරු දුන්හ. කුමාරයෙනි, එසේ නම් හිඳගන්න මම ඔබට දහම් දෙසන්නෙමි යි උන්වහන්සේ වදාළහ. ඔවුහු හිඳගෙන සවන් යොමු කළහ. උන්වහන්සේ දහම් දෙසූහ. බණ ඇසූ භද්දවග්ගිය කුමාරවරු සියල්ලෝ ම එම අසුනෙහි ම සෝවාන් වූහ. පසුව ඔවුහු ඒහිභික්ඛු භාවයෙන් පැවිද්ද හා උපසම්පදාව ලැබූහ. එම පිරිස ද ධර්ම දූත මෙහෙය සඳහා විවිධ දිශාවන්හි යවා උන් වහන්සේ උරුවෙල් දනව්ව බලා වැඩම කළ සේක.

## මහ බලවත් ජටිලයෝ දමනය වෙති

උරුවෙල් දනව්වේ උරුවේල කාශ්‍යප, ගයා කාශ්‍යප, නදී කාශ්‍යප යනුවෙන් ජටිල තාපස සොහොයුරෝ තිදෙනෙක් තොටුපොළවල් තුනක අසපු තනාගෙන විසූහ. එයින් වැඩිමහලු උරුවේල කාශ්‍යප තුමා රජගහ නුවර කීර්තිමත් තවුසෙකි. එතුමාගේ පිරිවර තවුසෝ පන්සීයයකි. දෙවැනි

සොයුරු නදී කාශ්‍යප තුමාගේ පිරිවර තුන්සීයයකි. බාල සොයුරු ගයා කාශ්‍යප තුමාට පිරිවර දෙසියයක් වූහ. දිනක් උරුවේල කාශ්‍යප තුමාගේ ආරාමයට වැඩි බුදුරජාණන් වහන්සේ '' කාශ්‍යප, ඔබට කරදරයක් නැත්නම් මම රැය ගිනිහල්ගෙහි වසන්න දැ 'යි විමසූහ.



එවිට උරුවේල කාශ්‍යපතුමා ''මහා ශ්‍රමණය, අපට නම් බරක් නැත. එහෙත් එහි වෙසෙන විෂඝෝර නාගයාගෙන් ඔබට හිරිහැර වීමට ඉඩ ඇතැ'' යි කීය. ''නාගයාගේ පීඩාවෙන් කම් නැත. ඔබ අවසර දෙන්නේ නම් මම එහි රැය ගෙවන්නෙමි'යි උන් වහන්සේ වදාළහ. ''මහා ශ්‍රමණය කැමැතිනම් වෙසෙන්නැ'' යි එතුමා අවසර දුන්නේ ය.

නවාතැන් ගැනීමට ගිනිහල්ගෙට වැඩම කළ බුදුරජාණන් වහන්සේට නාගයා කෝප වී විෂ දුමක් පිට කළේ ය. බුදුරජාණන් වහන්සේ ද ඍද්ධි බලයෙන් දුමක් පිට කළහ. නාගයා තවත් කිපී ගිනි ජාලාවක් පිටකළේය. බුදුරජාණන් වහන්සේ ද ගිනි ජාලාවක් පිට කළහ. මුළු මහත් ගිනිහල් ගේ ම ගිනි දැල්ලෙන් වැසී ගියේ ය. නාගයා කිපී මහා ශ්‍රමණයන් වහන්සේ දවා හළු කරන්නට ඇතැයි සියල්ලෝ සිතූහ. එහෙත් සිදුවී තිබුණේ අනෙකකි. උදෑසන බුදුරජාණන් වහන්සේ නාගයා පාත්‍රයට ගෙන උරුවේල කාශ්‍යපතුමා වෙත දිගුකොට '' කාශ්‍යප මෙන්න ඔබේ නාගයා යැයි දැක්වූහ. එවිට උරුවේල කාශ්‍යපතුමා මේ මහා ශ්‍රමණයා විෂඝෝර නාගයන් පවා දමනය කළ හැකි මහත් ආනුභාව ඇති ඍද්ධිමතෙකි. එහෙත් මා මෙන් රහත් කෙනෙකු නොවේ යැ යි සිතී ය.

මෙසේ තමන් රහත් ය යන මානයෙන් මත්ව සිටි උරුවේල කාශ්‍යප තවුසාණන්ගේ මානය බිඳීමට බුදුරජාණන් වහන්සේ බොහෝ ප්‍රාතිහාර්ය දැක්වූ සේක. (මෙහිදී ප්‍රාතිහාර්ය තුන්දහස් පන්සියයක් දැක් වූහ යි. ජාතක අටුවාවේ සඳහන් වේ). එයින් උරුවෙල කාශ්‍යපතුමාගේ මානය බිඳිණි. අනතුරුව පන්සියයක් දෙනා බුදුරදුන්ගෙන් බණ අසා සෝවාන් වූහ. පසුව ඒහි

භික්ෂු භාවයෙන් පැවිදි උපසම්පදව ලැබූහ. ඔවුහු සියලු දෙනා සිය ජටා මඬුලු ආදී ජටිල පිරිකර ගඟේ පාකර යැවූහ.

එය දැක සොහොයුරාට විපතක් වී දැයි කලබලයෙන් පැමිණි තොටුපලේ සිටි ගයා කාශ්‍යප තවුසාණන් ඇතුළු තුන්සියයක් පිරිස ද බුදුරදුන් ගෙන් බණ අසා පැවිදි වූහ. ඔවුන්ගේ පිරිකර ද එම ගඟේම පාකර හරින ලදී. ඒ දැක පැමිණි නදී කාශ්‍යප තවුසාණන් ඇතුළු පිරිස ද පෙරසේ ම බණ අසා පැවිදි වූහ. අන්තිමේ දී **ආදිත්ත පරියාය** සූත්‍ර ධර්මය අසා ඒ සියලු දෙනා රහත් වූහ. මෙසේ තවත් එක්දහස් තුන් නමක් රහතන් වහන්සේලා බුදුසසුනට එකතු වූහ.

## බුදුරජාණන් වහන්සේ අපේ රටට වැඩි පළමු ගමන



බුද්ධත්වයෙන් නවවන මස දුරුතු පුන් පොහොද උදා විය. මහා කරුණාවෙන් ලොව බලා වදාරන බුදුරජාණන් වහන්සේට ලක්දිව පෙනුණි. එකල ලක්දිව විසූ යක්ෂයෝ දෙපිරිසකට බෙදී සංග්‍රාමයකට සූදානම්ව මහවැලි ගංඉවුරේ මහානාග නම් උයනට රැස් වූහ. එවෙලෙහි අද මහියංගණ ස්තූපය පවතින ස්ථානයේ අහස්කුස වැඩ හුන් බුදුරජාණන් වහන්සේ තමන් වහන්සේට වැඩ හිඳිනා තැනක් ඉල්ලා සිටියහ. යක්ෂයෝ පත්කඩක් එලාගන්නට තැනක් දුන්හ. එහි වැඩහුන් බුදුරජාණන් වහන්සේ සෘද්ධි බලයෙන් පත්කඩය ගිනි දැල්වෙන්නට සලස්වා ගින්න පතුරුවා හරිමින් යක්ෂයන් වෙරළ දක්වා යවා ගිරි

දිවයිනට පිටත් කළ සේක. එයින් ම යුද්ධය නිමා විය. යක්ෂයෝ ද මෙරටින් තුරන් වූහ.

ඉන්පසු දෙවියෝ එහි රැස්වූහ. බුදුරජාණන් වහන්සේ ඔවුන්ට දහම් දෙසූහ. සමන්තකූට වාසී සුමන සමන් දිව්‍යරාජයා ද එහි දී සෝවාන් විය. අනතුරුව හෙතෙම පිදීමට වස්තුවක් ඉල්ලා සිටියේ ය. උන්වහන්සේ හිස පිරිමැද කේසධාතු මිටක් දුන්හ. හෙතෙම එය තැන්පත් කොට මහියංගණ චෛත්‍යය සත්රියන් උසට තනා පූජා කළේය. බුදුරජාණන් වහන්සේ ආපසු උරුවෙල් දනව්වට වැඩි සේක.

## බුදුසසුනේ පළමු ආරාම පූජාව

උරුවෙල් දනව්වට වැඩම කළ බුදුරජාණන් වහන්සේ උරුවෙල කාශ්‍යප තෙරුන් ඇතුළු දහසක් සංඝයා සමග දුරුතු පොහොය දා ම රජගහ නුවර බලා වැඩම කළසේක. එහි තල්වනයක සුප්පතිට්ඨ නම් මහ නුගරුකක් ඇත . උන් වහන්සේ සංඝයා සමග ඒ ගස මුල වැඩහුන් සේක. එම ආරාංචිය ඇසූ බිම්බිසාර රජතුමා සහපිරිවරින් පැමිණ බුදුරදුන් බැහැදුටුවේ ය. ඒ සමග පැමිණි පිරිසට කුකුසක් ඇතිවිය. එනම් ගෞතමයන් වහන්සේ උරුවේල කාශ්‍යපතුමාගේ ශ්‍රාවක වීද, නැතහොත් උරුවේල කාශ්‍යපතුමා ගෞතමයන් වහන්සේගේ ශ්‍රාවක වීද කියා ය. මෙය තේරුම්ගත් බුදුරජාණන් වහන්සේ '' ඔබ කුමක් හෙයින් ගිනිපිදීම අත්හළේදැ''යි උරුවේල කාශ්‍යප තෙරුන්ගෙන් විමසූහ. එවිට තමන් බුද්ධ වචනය අසා ගිනිපිදීමේ නිෂ්ඵල බව තේරුම්ගෙන එය අත්හළ බවත් තමන් බුදුරදුන්ගේ ශ්‍රාවකයෙකු බවත් කාශ්‍යප තෙරණුවෝ පැවසූහ. එයින් ඒ ජනයාගේ සැකය දුරු විය.

උරුවේල කාශ්‍යපතුමන් දමනය කිරීම ගැන මහජනයා මහත් ප්‍රසාදයෙන් කතාබහ කරන්නට වූහ. එවිට බුදුරජාණන් වහන්සේ තමන් පෙර දවසත් ඔහු දමනය කළ බව වදාරා මහා නාරද කාශ්‍යප ජාතකය දෙසූ සේක. ඒ සමගම දෙසූ ධර්මය අසා බිම්බිසාර රජතුමා ඇතුළු ලක්ෂයකට අධික පිරිස සෝවාන් වූහ. තිසරණගත උපාසකයෙකු බවට පත් වූ රජතුමා පසුදා දනට රජ මැදුරට වඩින ලෙස බුදුරදුන්ට ඇරයුම් කොට නික්ම ගියේ ය.

පසුදා බුදුරජාණන් වහන්සේ මහසඟන පිරිවරා රජමැදුරට වැඩමකළ සේක. රජතුමා බුද්ධ ප්‍රමුඛ සහා සංඝයාට මහදන් පිළිගැන්විය. දන් වළඳා අවසානයේ බුදුරජාණන් වහන්සේගේ වාසයට තැනක් ගැන රජතුමා කල්පනා කළේ ය. එය ගමට ඉතා දුර නොවූත් ළං නොවූත් උවමනා කෙනෙකුට පහසුවෙන් යා හැකි තැනක් වගේ ම දවාලට සෙනඟ නොගැවසෙන, රාත්‍රියට ඝෝෂාවක් නැති තැනක් විය යුතුය. ඒ සඳහා සුදුසු ම තැන රජ උයන යැයි සැලකූ එතුමා වේළුවන උයන බුදු පා මොක් මහ සඟනට පිදී ය. එය පිළිගත් බුදුරජාණන් වහන්සේ එතැන් පටන් භික්ෂූන් වහන්සේලාට ආරාම පිළිගැනීම අනුමත කළ සේක.

එදා රෑ නින්දට ගිය රජතුමාට අමනුෂ්‍යයන්ගේ බියකරු හඬක් ඇසිණ. රජතුමා බියෙන් නොනිද පහන් කළේ ය. පසුදා උදෑසන ම එතුමා බුදුරදුන්ට මේ බව සැළ කළේ ය. එවිට උන්වහන්සේ '' මහරජ බියවිය යුතු නැත. ඔබගේ පැරැණි නෑ පිරිසක් ප්‍රේත ලෝකයේ ඉපිද ඔබෙන් පින් ගන්නට බලාපොරොත්තුවෙන් සිටියා, නමුත් පින් නොලැබුණ නිසා ඔවුන් ඔබ බිය කළා යැයි වදාළහ. අනතුරු ව රජතුමා බුදුරදුන්ගේ උපදෙස් පරිදි එදා දහවල් බුද්ධ ප්‍රමුඛ සංඝයාට මහදන් දී ඔවුන්ට පින් අනුමෝදන් කළේ ය. පින් ලබා ප්‍රේතයෝ සුවපත් වූහ. මෙය නිමිති කොට බුදුරජාණන් වහන්සේ **තිරෝකුඩ්ඩ සූත්‍රය** දේශනා කළ සේක.

## උපතිස්ස කෝලිත යහළුවෝ පැවිදි වෙති

මේ අතර කෝලිත උපතිස්ස නම් ධනවත් තරුණ බමුණු යහළුවෝ දෙදෙනෙක් වූහ. ගිහිගෙයි කළකිරුණු ඔවුහු සංජය බෙල්ලට්ඨිපුත්ත ශාස්තෲ තුමන් වෙත පැවිදි ව තවුස්දම් පිරූහ. එහෙත් එතුමාගේ ධර්මයෙන් විමුක්තිය නොලැබෙන බව වටහාගෙන නැවත දෙදෙනා වෙන වෙන ම සත්‍යය සොයා පිටත් වූහ. මේ අතර උපතිස්ස පරිබ්‍රාජකයාට බුදුරජාණන් වහන්සේගේ පස්වග ශ්‍රාවකයන් අතර වැඩ සිටි අස්සජි මහරහතන් වහන්සේ හමුවිය. උන්වහන්සේ ගෙන් ''යේ ධම්මා හේතුප්පභවා'' යන බණ පදය අසා හේ සෝවාන් විය. ඒ පණිවුඩය තම යහළු කෝලිතට කී විට හෙතමේ ද සෝවාන් විය. දෙදෙනා ම බුදුරදුන් සොයා අවුත් ඒහි භික්ෂු භාවයෙන් පැවිදි බව ලැබ රහත් වූහ. පසුව උන් වහන්සේලා **සාරිපුත්ත** තෙර හා **මොග්ගල්ලාන** තෙර නමින් අග්‍රශ්‍රාවක බවට පත්වූහ.

## පුහුණුවට

යෙ ධම්මා හෙතුප්පභවා - තෙසං හෙතු තථාගතො ආහ
තෙසං ච යො නිරොධො - එවං වාදි මහා සමණො

## අභ්‍යාස

1. තිරෝකුඩ්ඩ සූත්‍රයේ එන මියගිය අයට පින්දීමේ දී භාවිත කරන ගාථා 3 ක් සොයා අර්ථ සහිත ව ලියන්න.

# 07 උපන් ගමට වැඩම වීම

සක්විති රාජ්‍යය පවා අතහැර ගිය සිද්ධාර්ථ ගෞතමයන් වහන්සේ උතුම් බුදුපදවි ලැබූ පුවත සුදොවුන් රජතුමාට අසන්නට ලැබී බොහෝ කල් ය. තම අතිජාත බුදු පුතණුවන් දකින තුරු එතුමා සිටියේ නො ඉවසිල්ලෙනි. ඇමැතිවරයෙකුට අණකළ රජතුමා දහසක පිරිසක් සමඟ බුදුරදුන් වැඩමවාගෙන ඒමට රජගහ නුවරට පිටත් කර හැරියේ ය. බුදුරදුන් බැහැදුටු ඔවුහු බණ අසා පැහැදී පැවිදි බව ලබා රහත් වූහ. රාජකාරිය එතැනින් ඇණහිටියේ ය. බොහෝ කල් බලා සිටි රජතුමා තවත් ඇමැතිවරයෙකු දහසක පිරිසක් සමඟ යැවීය. ඔවුන්ට සිදුවූයේ ද එය ම ය. මෙසේ නව වාරයක් නව දහසක පිරිසක් සමග ඇමැතිවරු නව දෙනෙක් යැවූ නමුදු බලාපොරොත්තුව ඉටු නොවී ය. ඉන් රජතුමා මහත් කණස්සල්ලට පත්ව සිටියේ ය. අවසානයේ දී එම රාජකාරිය පැවරුණේ බෝසත් සිදුහත් කුමරු සමග එකදා උපන් කාළුදායී ඇමැති තුමාට ය. තමාට පැවිදිවන්නට අවසර දෙන්නේ නම් බුදුරදුන් වැඩමවා ගෙන එන්නෙමි යි හෙතෙම කියා සිටියේ ය. රජුගෙන් ඊට අවසර ලැබිණ.

කාළුදායී ඇමැතිවරයා ද දහසක පිරිසක් සමග බුදුරජාණන් වහන්සේ වෙත ගියේ ය. ඒ සියල්ලෝමත් බුදුරදුන් හමුවී බණ අසා පැවිදිව රහත් වූහ. කල්යල් බලා සිටි කාළුදයි තෙරණුවෝ සුදුසු අවස්ථාවක බුදුරදුන් හමුවී තමා ගෙනා පණිවුඩය මෙසේ පැවසූහ.

අඞගාරිනොදානි දුමා භදන්තෙ
ඵලෙසිනො ඡදනං විප්පහාය
තෙ අච්චිමන්තො ව පභාසයන්ති
සමයො මහාවිර භගීරථානං

'' ස්වාමිනි, දැන් ගස් වැල්වල පැරණි කොළ හැලී, ගිනි අඟුරු වැනි මල් දලු හටගෙන පල දැරීමටත් ලංවී තිබෙයි. ඒ සියලු ගස්වැල් පහන්සිළු වාගේ මැනවින් බබළයි. මහා වීරයන් වහන්ස, ශාක්‍යයන්ට අනුග්‍රහ කිරීමට මේ කාලය යි.''

යනාදී ගාථා හැටකින් පමණ කරන සුන්දර වර්ණනාවකින් උන්වහන්සේ ඒ ආරාධනය කළහ. එහි දී රජගහ නුවර සිට කිඹුල්වතට යන සැට යොදුන් මාර්ගයත්, ඒ අවධියේ පැවැති ඍතුගුණයේ චමත්කාරයත් වර්ණනා කළ උන්වහන්සේ දැන් මව්බිම බලා වැඩම වීමට සුදුසු කාලය යැයි දන්වා සිටියහ. ආරාධනාව පිළිගත් බුදුරජාණන් වහන්සේ විසිදහසක් මහසඟන පිරිවරා මැදින් පුර පසළොස්වක පොහොය දින කිඹුල්වත් පුර බලා පිටත්වූ සේක.

## ශාක්‍යයන්ගේ මානය දුරු කිරීම

ගමනට දෙමසක් ගත විය. බුදුරජාණන් වහන්සේ වෙසක් පුර පසළොස්වක පොහොය දා කිඹුල්වත් පුරයට සැපත්වූ සේක. මුළු නුවර ම සරසා තිබිණ. විසිදහසක් මහ සඟන පිරිවරාගත් උන්වහන්සේ පිළිගැනීමටත්, උන්වහන්සේලාට වැඩහිඳීමටත් පිළියෙළකර තිබුණේ නිග්‍රොධ ශාක්‍යයාගේ උයන යි.

ශාක්‍යයෝ මාන්නාධික පිරිසකි. ඔවුන් බුදුරජාණන් වහන්සේ පිළිගැනීමට මුලින් ම පෙරමගට යැව්වේ කුඩා දරුවන්ය. අනතුරුව තරුණයන් ය. සියල්ලට ම පසුව වැඩිහිටියෝ ද මල් සුවඳගෙන පෙරමගට ගියෝ ය. බුදුරදුන් වැඩීමේ දී ද බාල පිරිස ලවා වැන්දවූවත් වැඩිහිටියෝ නොවැන්දහ. එහිදී ශාක්‍යයන්ට බුදුබලය කොතරම් ද යි පෙන්වනු පිණිස උන්වහන්සේ යමා මහ පෙළහර දක්වා වදාළ සේක. එයින් ඔවුන්ගේ මානය දුරුවිය. සියල්ලෝ ම උන්වහන්සේ පාමුල වැඳ වැටුනහ. පිය රජතුමා ද මේ මාගේ තුන්වන වැඳීම යැයි කියමින් බුදු පාමුල වැඳ වැටුණේ ය. ඒ මොහොතේ මල් වැස්සක් ඇද හැලිණ. ඒ ප්‍රාතිහාර්යය නිමිතිකරගෙන බුදුරජාණන් වහන්සේ වෙස්සන්තර ජාතකය වදාළසේක.

සියල්ලෝ බණ අසා බුදුන් වැඳ නිවෙස් බලා ගියෝ ය. කිසිවෙක් පසුදා දනට ඇරැයුම් කළේ නැත. බුදුරජාණන් වහන්සේ පසුදා පෙරවරුවේ විසිදහසක් රහතුන් පිරිවරාගෙන කිඹුල්වත් නුවර මහමග පිඬු පිණිස වැඩි සේක. මේ පුවත යශෝධරා දේවියගෙන් පිය රජතුමාට සැළවිය. මහත් කළබලයට පත් සුදොවුන් රජතුමා සළුව හඳිමින් ම බුදුරදුන් වෙත දිව ගියේ ය.

රජතුමා බුදුරජාණන් වහන්සේ වැඳ '' ස්වාමීනි, අපට ලැජ්ජා කරවන්නේ ඇයි? සිඟා ඇවිදින්නේ කුමට ද? මේ භික්ෂු පිරිසට අහර සැපයීමට රජ වූ මට නොහැකි යැයි අඟවන සේක් ද? '' යි විමසීය. '' මහරජ , මේ අපේ වංශයේ සිරිත ය'' යි බුදුරජාණන් වහන්සේ වදාළහ. '' **ස්වාමීනි, අපේ වංශය මහාසම්මත ක්ෂත්‍රිය වංශය යි. එහි සිඟා කෑ රජෙක් නැතැයි** මහරජු කීය. එයට බුදුරජාණන් වහන්සේ '' **මහරජ ඒ ඔබේ වංශය යි. අපේ වංශය දීපංකර ආදී බුදුවරුන්ගේ වංශයයි.** සියලු බුදුවරු පිඬුසිඟා වැඩියෝ යැ'' යි වදාරා එහි දීම රජතුමාට උත්තිට්ඨෙ නප්පමජ්ජෙය්‍ය ආදි ගාථාවෙන් දහම් දෙසූහ. ඒ දෙසූ ධර්මය අසා සුද්ධෝදන රජතුමා සෝවාන් විය. අනතුරු ව රජතුමා බුදුරජාණන් වහන්සේ වැඩමවාගෙන රජමාලිගයට ගියේ ය. එහි දී දන් වැළඳූ බුදුරජාණන් වහන්සේ අනුමෙවෙනි දහම් දෙසූහ. එය අසා සිටි සුදොවුන් රජතුමා සකෘදාගාමී විය. සුළු මව වූ මහා ප්‍රජාපතී ගෝතමිය සෝවාන් වූවාය.

## පතිදම් රැකි සිල්වත් යශෝධරාවෝ

බුදුරජාණන් වහන්සේ වැඩි බව අසා රජමාළිගයේ සිටි සියලු ම කාන්තාවෝ බණ ඇසීමට පැමිණියහ. එහෙත් යශෝධරා දේවිය පමණක් පැමිණියේ නැත. '' මාගේ යම් පතිව්‍රතා ධර්මයක් වේ නම්, යම් සීලයක් වේ නම් බුදුරජාණන් වහන්සේ මා වෙත වැඩම කරනු ඇතැයි '' කියා ඇය සිය මැදුරට වී සිටියා ය. බුදුරජාණන් වහන්සේ පියරජු පළමුව පිටත් කොට යවා අගසව් දෙනම සමගින් එතුමියගේ මැදුරට වැඩම කළහ. ඇය බුදුරජාණන් වහන්සේ දැක බිම වැටී උන්වහන්සේගේ සිරිපා යුවල අල්ලාගෙන හිස ඒ මත තබාගෙන හඬන්නට වූවා ය. රජතුමා එය වැළැක්වීමට උත්සාහ ගත්ත ද බුදුරජාණන් වහන්සේ ඇගේ ශෝකය නිවෙන තුරු හඬන්නට ඉඩ දෙන්නැයි රජතුමන් වළකාලූහ.

ඇයගේ ආවේගය සංසිඳී ගිය පසු පිය රජතුමා තම ලේලිය වූ යශෝධරාව ගැන සඳහන් කරමින් '' බුදුරජාණන් වහන්ස, මේ යශෝධරාව පුදුම කාන්තාවක්. අප්‍රමාණ පති භක්තියකින් යුතු දියණියක්. ඔබ වහන්සේ රජමාලිගයෙන් ගිය දා පටන් ඇයත් රජසැප අත්හැරියා. ඔබ වහන්සේ කහවත් හඳින බව දැනගත් ඇ කහවත් ඇන්දා. මල්ගඳ විලවුන් සහ රන් රිදී අබරණ නොදරන බව අසා ඇයත් ඒවා අත්හැරියා. එක් වේලක් වළඳන බව අසා

ඇයත් එක් වේලක් ආහාර ගත්තා. උස් අසුන් මහ අසුන් අත්හළ බව අසා ඇයත් එසේ කළා. බොහෝ කුමාරවරු ඇය සරණපාවා ගැනීමට කැමැත්ත පළ කළත් ඇය ඒම යෝජනා ප්‍රතික්ෂේප කළා. ඇය ඔබ වහන්සේ වෙනුවෙන් ම ජීවිතය ගතකළා '' යනුවෙන් ඉතා දීර්ඝ ගුණ වර්ණනාවක් කළේ ය.

එය අසා සිටි බුදුරජාණන් වහන්සේ '' මහරජ මේ යශෝදරාවන් මෙසේ මා වෙත සෙනහසින් ගත කළේ අද පමණක් නොවේ. මෙබඳු මිනිස් ආත්මවලදී පමණක් නොව තිරිසන් භව වලදී පවා අසීමිත පති භක්තියකින් යුතු වූ කාන්තාවකැයි '' වදාරා සඳකිඳුරු ජාතකය දේශනා කළසේක.

## අභ්‍යාස

01. බෝසතුන් සමග ම උපන් (සහ ජාත) වස්තු සත සොයා ඔබේ අභ්‍යාස පොතේ සටහන් කර ගන්න.

02. චන්දකින්නර ජාතකය ජාතක පොතින් කියවා ශිෂ්‍ය සමිතියට ඉදිරිපත් කරන්න.

## පුහුණුවට

උත්තිට්ඨෙ නප්පමජ්ජෙය්‍ය<br>
ධම්මං සුචරිතං චරෙ<br>
ධම්මචාරී සුඛං සෙති<br>
අස්මිං ලොකෙ පරම්හිච

භික්ෂූන් වහන්සේ පිඬුසිඟා යාමට මැලි නොවීය යුතු ය. නිවැරදි ලෙස සිවුපසය සෙවීමෙ සුචරිත ධර්මය පිරිය යුතුය. ඒ සුචරිත ධර්මය පුරන මහණ තෙම මෙලොව පරලොව දෙකෙහි ම සුවසේ වසන්නේ ය.

(ධම්මපද - ලෝකවග්ග 2)

# 08 සිව්වනක් පිරිස සපිරෙයි

## නන්ද කුමරු මංගල දිනයේ පැවිදිවෙයි

බුදුරජාණන් වහන්සේ කිඹුල්වත් පුරයට වැඩම කොට දෙවනි දවස උදාවිය. මහා ප්‍රජාපති ගෝතමියගේ පුත් වූ උන්වහන්සේගේ සොහොයුරු නන්දකුමරුගේ ආවාහය, රාජාභිෂේකය සහ ගෙට ගෙවැදීම යන මංගල අවස්ථා තුන ම එදිනට යෙදී තිබිණි. උන්වහන්සේ මහ සඟන පිරිවරා රජගෙට වැඩම කළ සේක. රජතුමා ඇතුළු පිරිස ප්‍රණීත භෝජනයෙන් උන්වහන්සේලා වැළඳවූහ. බුදුරජාණන් වහන්සේ දන් වළඳා අනතුරුව අනුමෙවෙනි බණ වදාරා රජගෙදරින් පිටත් වෙද්දී තම පාත්‍රය නන්ද කුමරු අතට දුන් සේක. කුමාරයා ද කීකරුව පාත්‍රය රැගෙන උන්වහන්සේ පසුපස ගියේ ය.

විවාහ ගිවිසගෙන සිටි ජනපද කළ්‍යාණියගේ මැඳුර තිබුණේ ද ඒ මග අසල ය. කුමරු බුදුරදුන් පසුපස යනු සඳළුතලයේ සිට බලා සිටි ජනපද කළ්‍යාණිය කුමරුට අත වනා ඉක්මනින් ආපසු එන්-නැයි කිවාය. කුමරු ඒ වදන් සිත තබාගෙන ම නිහඬව ගමන් කළේ ය.

ඔහු දැන් යන්නේ ''බුදුහාමුදුරුවන් පාත්‍රය දැන් ගනී, දැන් ගනී'' යැයි සිතමිනි. එහෙත් බුදුරජාණන් වහන්සේ විහාරයට වඩින තුරු ම පාත්‍රය නොගත් සේක. විහාරය තුළ දී පාත්‍රය අතට ගත් බුදුරජාණන් වහන්සේ, ''නන්ද ඔබ පැවිදි වෙන්න කැමැති දැ'' යි ඇසූහ.

ජනපද කළ්‍යාණියගේ වදන්, ආවාහය, රජ පදවිය, ගෙවදීම යන සුවිශේෂී කරුණුත් බුදුරජාණන් වහන්සේගේ යෝජනාවත් මැද කුමාරයා අතරමං විය. එහෙත් බුදු වදනට පිටුපෑමට නොහැකි වූ හෙතෙම හිස සළා අකමැත්තෙන් වුවද කැමති බව හැඟවීය. බුදුරජාණන් වහන්සේ නන්ද කුමරු පැවිදි කරවූ හ. ගතින් පැවිදි වූවත් සිතින් උන්වහන්සේ සිටියේ ජනපද කළ්‍යාණිය වෙත ය. උන්වහන්සේගේ සිත වෙනස් කිරිමට බුදුරජාණන්

වහන්සේ කළේ අපූරු උපක්‍රමයකි. ඍද්ධිබලයෙන් නන්ද තෙරුන් දෙව්ලොවට කැඳවාගෙන ගොස් එහි දී දෙවඟනන් පෙන්වා ජනපද කල්‍යාණිය පිළිබඳ සිත වෙනස් කළහ. පසුව නන්ද තෙරණුවෝ ඒ අදහස් අත්හැර හොඳින් මහණදම් කොට රහත් බවට පත්වූහ.

## රාහුල කුමරුටත් පිය උරුමය හිමි වෙයි

බුදුරජාණන් වහන්සේ කිඹුල්වත් නුවර වැඩම කොට සත්වන දවස එළඹිණි. විසිදහසක් රහතුන් පිරිවරාගෙන මහ මග පිඬු සිඟා වඩින බුදුරජාණන් වහන්සේ සඳළුතලයේ සිටි යශෝධරාවට පෙනිණි. මෙතෙක් තම පියා නොදුටු සත් හැවිරිදි රාහුල කුමරුට ඈත වඩින බුදුරදුන් පෙන්වා ඇය මෙසේ පවසන්නට වූවාය.

චක්කවරංකිත රත්ත සුපාදො - ලක්ඛණ මණ්ඩිත ආයත පණ්හි
චාමර ඡත්ත විභූසිත පාදො - එස හි තුය්හ පිතා නරසීහො

" උතුම් වූ චක්‍ර ලක්ෂණයන් ගෙන් යුතු, රතු පැහැ, සිරිපා යුවලක් ඇති, දිගු විළුඹ ඇති, සෙමෙර සේසත් ආදී මඞ්ගල ලක්ෂණයන්ගෙන් ශෝභමාන වූ, සිරිපා ඇති අර එන නරශ්‍රේෂ්ඨයා ඔබේ පියාණන් වහන්සේ යි "



මෙසේ නරසීහ ගාථා අටකින් පියාගේ අසිරිය ඉගැන්වූ යශෝධරාව, සිය පුතණුවන් දායාදය ඉල්ලාගෙන එන්නැයි මාලිගය අසලින් වඩින බුදුරදුන් වෙත පිටත්කර හැරියා ය. පුංචි කුමාරයා ද වහා දිවගොස් '' බුදුපියාණන් වහන්ස, ඔබගේ සෙවණත් මට සැපයැ යි'' සුරතල් බස් දොඩමින් උන්වහන්සේගේ සිවුරු කොණක එල්ලී පසුපසින් ම ගියේ ය. මෙසේ යන අතර පියාණෙනි, මට ඔබේ දායදය දෙනු මැනැවැයි '' ද කීය. උන් වහන්සේ විහාරය දක්වා ම නිහඬ ව වැඩම කළහ. එහි දී සැරියුත් තෙරුන් අමතා ''ශාරිපුත්‍රය, මේ දරුවා මගෙන් දායාද ඉල්ලයි, මට ඇති එක ම දායාදය සසර දුකින් මිදෙන පැවිදි බව යි. එය මේ දරුවාට දෙන්නැයි'' වදාළහ. සැරියුත් මහරහතන් වහන්සේ රාහුල කුමාරයා පැවිදි කළහ.

මේ පුවත සුදොවුන් රජුගේ කණ වැකිණි. තමාට තිබුණු එක ම සැනසිල්ලත් අහිමිවීමේ දුක එතුමාට වාවාගත නොහැකි විය. ඔහු විහාරයට ගියේ දිවගෙන ය. වැඳ එකත් පසෙක සිටි රජතුමා

> '' ස්වාමීනි, දරු දුක කියන්නේ මහ පුදුම දෙයක්. එය මේ සිවිය සිඳ, හමටත්, සම සිඳ මස්වලටත්, මස් සිඳ නහර වලටත්, නහර සිඳ ඇටවලටත්, එතැනින් ඇටමිදුළු දක්වාත් ගමන් කරන්නක්. ස්වාමීනි, මම ඔබ වහන්සේ ගිහිගෙය හැරදා ගිය පසු නන්දකුමරු හා රාහුල කුමරු ගැන සිතා හිත හදා ගත්තා. ඔබ වහන්සේ නන්ද කුමාරයා මහණ කළා. ඊළඟට රාහුල පුතු ඉන්න නිසා හිත හදා ගත්තා. දැන් ඔහුත් මට අහිමි වුණා. ස්වාමීනි, මට වූ මේ දුක වෙනත් කිසිම මව් කෙනෙකුට පිය කෙනෙකුට නොවේවායි මා පතනවා. ඒ නිසා මට එක වරයක් දෙනු මැනවි. මින් මතු මව්පියන්ගේ අවසරය නොමැතිව කිසි කෙනෙකු පැවිදි නොකරනු මැනැවැයි '' ඉල්ලා සිටියේ ය.

බුදුරජාණන් වහන්සේ මෙම ඉල්ලීම පිළිගත්හ. භික්ෂූන් වහන්සේ අමතා මෙතැන් පටන් මව්පියන්ගේ අවසරයක් නොමැති ව දරුවන් පැවිදි නොකරන්නැ'යි වදාරා ඒ පිළිබඳ විනය නීතියක් ද පැණවූ සේක.

## දෙව්දත් කුමරුත් සසුනට පිවිසෙයි

නන්ද කුමරු පැවිදි වූ තැන් සිට ශාක්‍ය තරුණයෝ බොහෝ දෙනා පැමිණ බුදු සුසුනේ පැවිදි වූහ. එහෙත් භද්දිය, අනුරුද්ධ, ආනන්ද, භගු, කිම්බිල, දේවදත්ත යන ප්‍රධාන පෙළේ ශාක්‍ය කුමාරයන් හයදෙනා තව ම පැවිදි වී නැත. ඔවුන්ගේ දෙමාපියෝ පවා මොවුන් පැවිදි නොවන්නේ බුදුරදුන්ගේ නෑදැයන් නොවන නිසා දැයි දොස් කියන්නට වූහ. අන්තිමේ දී ඔවුහු සයදෙනා උපාලි කරණවෑමියා ද සමග බුදුරදුන් සොයා ගියහ. ඒ වන විට උන්වහන්සේ වැඩ සිටියේ මල්ල රට අනෝමා ගංතෙර අනුපිය අඹ වනයෙහි ය. පිරිවර ආපසු යවා එහි ගිය ඔවුහු බුදුරදුන් වෙතින් පැවිද්ද ඉල්ලා සිටියහ. එසේ ම තම මානය නැති වනු පිණිස උපාලි නම් කරණවෑමියා පළමු ව පැවිදි කරන ලෙස ද කුමාරවරු ඉල්ලා සිටියහ. බුදුරජාණන් වහන්සේ එසේ කළහ. පසු කාලයේ දී විනයධර භික්ෂූන් අතර අගතැන් ගත්තේත්, ප්‍රථම සංගායනාවේ දී විනය දේශනා කළේත් මේ උපාලි තෙරුන් ය.

බුදුරදුන්ගේ පිය පරපුරේ ශාක්‍ය දේශයත්, මව් පරපුරේ කෝලිය දේශයත් පැවතුනේ රෝහිණී ගඟ දෙපස ය. එහි කුඹුරුවලට ජලය බෙදා ගැනීමේ දී ගොවියන් අතර ඇතිවූ ගැටුමක් අන්තිමේ දි රාජ්‍ය දෙක අතර යුද්ධයක් බවට පත්විය. තම නෑ දෙපිරිස යුදයෙන් වැනසෙන්නට යනු දුටු බුදුරජාණන් වහන්සේ යුද පිටියට වැඩම කොට අහස්කුස සිට සම්මෝදමාන ජාතකය ආදී ජාතක කතාවලින් සමගියේ අගය වදාරා ඔවුන් සමගි කළහ. බුදුරදුන් කිඹුල්වත් නුවර වැඩ සිටින අතරතුර දී මහා ප්‍රජාපතී ගෝතමිය ඇතුළු කාන්තාවෝ පැවිදි වන්නට දෙවරක් ම අවසර ඉල්ලා සිටියහ. එහෙත් ඊට ඉඩ නොලැබිණි.

## කාන්තාවෝ පැවිද්ද දිනා ගනිති

බුදුරජාණන් වහන්සේ කිඹුල්වත් නුවරින් විශාලා මහනුවර බලා වැඩම කළහ. පැවිදිවීමේ අදහස අත් නොහළ මහා ප්‍රජාපති ගෝතමිය ඇතුළු පන්සියක් ශාක්‍ය කාන්තාවෝ හිස මුඩුකොට කසාවත් හැඳ පාගමනින් ම විශාලා මහනුවර බලා පිටත් වූහ. ඔවුහු විශාලා මහනුවරට පැමිණ එහි කූටාගාර ශාලාවේ ලැගුම් ගත්හ. කිසිදා මෙතරම් දුර පාගමනින්

නොගිය මේ සියුමැලි කාන්තාවන්ට එය ඉතා දුෂ්කර ගමනක් විය. ඩහදියෙන් සිරුර තෙමී, දූවිල්ලෙන් නැහැවී සිටියහ. සමහරුන්ගේ පතුල් පැලී ලේ ගැලී තිබුණි. බුදුරදුන්ගේ සුළු මව ඇතුළු මේ කාන්තාවන් විඳින පීඩාවත් ඔවුන්ගේ නොපසුබස්නා උත්සහායත් දුටු අනඳ තෙරණුවෝ නොපමාව ඔවුන්ගේ ඉල්ලීම බුදුරදුන්ට ඉදිරිපත් කළහ. එහෙත් බුදුරජාණන් වහන්සේ අනඳ හිමියන්ගේ ඉල්ලීම ද දෙවරක් ම ප්‍රතික්ෂේප කළහ.

ආනන්ද හාමුදුරුවන් නැවත බුදුරජාණන් වහන්සේ වෙත පැමිණ කාන්තාවන් වෙනුවෙන් කරුණු ඉදිරිපත් කරමින් '' ස්වාමිනි, භාග්‍යවතුන් වහන්ස, කාන්තාවකට මෙම සසුනෙහි පැවිදිව සතර මඟ පල පසක් කරන්නට නොහැකි වේ දැ''යි විමසූහ. බුදුරජාණන් වහන්සේ කාන්තාවට හැකි බව වදාළහ. '' ස්වාමිනි, එසේ නම් මේ මහා ප්‍රජාපතී ගෝතමිය ඔබ වහන්සේට ඉතා උපකාරී වූවා ය. සුළු මව ය. ඔබ වහන්සේගේ අත්පා වැඩුවා ය. පෝෂණය කළා ය. මෑණියන් කළුරිය කළ පසු ඔබ වහන්සේට කිරි පෙව්වා ය. ස්වාමීනි එවන් කාන්තාවන් මේ සාසනයෙහි පැවිද්ද ලබන්නේ නම් මැනවැ යි '' ආනන්ද හිමියෝ පැවසූහ. ආනන්ද හිමියන්ගේ අදහසට එකඟ වූ බුදුරජාණන් වහන්සේ ගරු ධර්ම නමින් නීති අටක් පණවා "මේවා පිළිගන්නේ නම් එයින් ම ඔවුන්ට පැවිද්ද හා උපසම්පදාව ලැබෙන්නේ යැ"යි වදාළහ.

මහා ප්‍රජාපතී ගෝතමිය ඇතුලු පිරිස ඒ ගරු ධර්ම අට හිස මුදුණින් පිළිගත් හ. එයින් ඔවුහු සසුනේ පැවිදි උපසම්පදාවට හිමිකාරියෝ වූහ. මේ ආකාරයෙන් බුදු සසුනේ මෙහෙණි සස්න ඇරැඹිණි.

ඒ අනුව භික්ෂුණී සාසනයේ පළමු භික්ෂූණීන් වහන්සේ ලෙසින් මහා ප්‍රජාපතී ගෝතමිය පැවිද්ද ලැබුවා ය. පසුව ඇය රහත් බව ලබා චිරාත්‍රඥ භික්ෂූණීන් අතර අග තනතුර ද ලැබුවා ය. ඇය සමග යසෝදරා දේවිය ඇතුළු ශාක්‍ය කුමාරිකාවෝ පන්සියයක් මෙහෙණි සස්න ඇරඹීමට දයක වූහ.

මෙසේ ආරම්භ වූ භික්ෂුණී සාසනය තුළ බොහෝ කාන්තාවන් ඇවිත් පැවිදි වූ අතර ඔවුහු මාර්ගඵල ලැබීමටත් සමත් වූහ. මේ නිසා ම භික්ෂුන් වහන්සේලාට මෙන් ම භික්ෂුණීන් වහන්සේලාටත් අගතනතුරු ලැබිණි.

භික්ෂුණී පිරිස වැඩි වන විට අර්බුද වැඩි වූ නිසා ඔවුන් හික්මවීම පිණිස භික්ෂුණී ප්‍රාතිමෝක්ෂයක් ද පණවන ලදී.

## අභ්‍යාස

01. නරසීහ ගාථා සොයා වනපොත් කරන්න.

02. අෂ්ට ගරුධර්ම සොයා ඔබේ අභ්‍යාස පොතේ ඔබේ බසින් පිටපත් කරන්න.

03. දෙව්දත් හිමි සමග පැවිදි වූ අයගේ නම් මොනවා ද?

# 09 අග්‍ර උපස්ථායක ආනන්ද හාමුදුරුවෝ

එදා ගංගාතිලක පිරිවෙණට විශේෂ දවසක්. මහා ශිෂ්‍ය සංගමය මගින් පොසොන් පොහොය නිමිති කරගෙන පවත්වනු ලබන වැඩසටහන් මාලාවේ තවත් දවසක්. එදිනට නියමිත ව තිබුණේ ධර්ම සාකච්ඡාව යි. ඊට පිරිවෙණේ ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලා සියලු දෙනා මෙන් ම ශිෂ්‍ය දරුවෝ ද සහභාගී වූහ. එය මෙහෙයවන ලද්දේ අප පිරිවෙනේ ත්‍රිපිකට ධර්ම විෂය භාර ආචාර්ය අස්සජී හිමිපාණන් වහන්සේ විසිනි. කෘත්‍යාධිකාරී ලොකු හාමුදරුවන් වහන්සේත් පිරිවෙණේ තවත් පණ්ඩිත හාමුදුරුවන් වහන්සේලා දෙනමකුත් සාකච්ඡා මණ්ඩපයට සහභාගී වූහ. උපදෙස් හා විනිශ්චය සඳහා සහභාගී වූ උන්වහන්සේලා වේදිකාවේ පැණවූ අසුන් හි වැඩහුන් අතර සෙසු ඇදුරු මඬුල්ල ද සෙසු ශිෂ්‍යයෝ ද ශාලාවේ ඉදිරිපස අසුන්ගෙන සිටියහ.

මෙහි දී ධර්ම සාකච්ඡාවේ අරමුණ හා මාතෘකාව පැහැදිලි කළ අස්සජී පණ්ඩිත හාමුදුරුවන් වහන්සේ දන්වා සිටියේ මෙම සාකච්ඡාව වඩාත් ම ප්‍රයෝජනවත් වන්නේ ශිෂ්‍යයන්ට බැවින් ප්‍රශ්න ඇසීමටත් දන්නා කරුණු ඉදිරිපත් කිරීමටත් පසුබට නොවන ලෙස යි.

නියමිත මාතෘකාව වූයේ '' අග්‍ර උපස්ථායක ආනන්ද මහරහතන් වහන්සේ '' යන්නයි. ඒ පිළිබඳ මූලික ප්‍රවේශය වශයෙන් කරුණු දැක්වූයේ පිරිවෙණේ කෘත්‍යාධිකාරී ජිනරතන ලොකු හාමුදුරුවන් වහන්සේ යි.

**කෘත්‍යාධිකාරී නා හිමියෝ** :- ''ආනන්ද හාමුදුරුවන් ගැන කතා කරනකොට බොහොම අය දන්නේ උන්වහන්සේ බුදුරජාණන් වහන්සේගේ අග්‍ර උපස්ථායක හාමුදුරුවන් වන බව විතර යි. බොහෝ ඇසුපිරූ ඇත්තවුන් අතර අග තනතුර (බහුස්සුතානං), අවබෝධ ශක්තිය ඇත්තවුන් අතර අග තනතුර (සුතිමන්තානං), ධෛර්ය ඇත්තවුන් අතර අගතනතුර (ධිතිමන්තානං), ගුණවන්තයන් අතර අගතනතුර (ගුණවන්තානං) යන තවත් අග තනතුරු කිහිපයක් ම උන්වහන්සේට ලැබී තිබුණා.

**නන්දරතන පොඩි හාමුදුරුවෝ :-** නායක හාමුදුරුවනේ, ආනන්ද හාමුදුරුවෝ පැවිදිවූ දවසේ තවත් කිහිප දෙනෙක් පැවිදිවුණා නේද?

**කෘත්‍යාධිකාරී නා හිමියෝ :-** ඔව්, ඒක හොඳ ප්‍රශ්නයක්. ආනන්ද කුමාරයා සමග භද්දිය, අනුරුද්ධ, භගු, කිම්බිල, දේවදත්ත යන ශාක්‍ය කෝලිය කුමාරවරුත් උපාලි නම් කරණවෑමියාත් පැවිදි වුණා.

**සුචිත්ත පොඩි හාමුදුරුවෝ :-** නායක හාමුදුරුවනේ, මං දැනගන්න කැමැතියි ආනන්ද හිමියන් මේ තරතුරට පත්වූනේ කොහොමද කියලා.

**පියරතන පණ්ඩිත හාමුදුරුවෝ :-** පොඩි හාමුදුරුවනේ, බුද්ධත්වයෙන් වසර විස්සක් යන තුරු ම බුදුරජාණන් වහන්සේට හරිහැටි උපස්ථායකයෙක් සිටියේ නැහැ. උපස්ථායකයන් වහන්සේලා කිහිප නමක් වරින් වර ඒ කටයුත්ත කළා. ඔය අතරතුරේ සුනක්ඛත්ත හාමුදුරුවෝ කෝරක්ඛත්තිය කියන තවුසෙකු දැකලා බුදු හාමුදුරුවන් අතහැර ගියා. ඒ වගේ ම මේඝිය හාමුදුරුවෝ බුදුරජාණන් වහන්සේ තනිකොට මහණදම් පුරන්න තියෙනවා කියා ගියා. මේ වගේ සිද්ධි නිසා බුදුරජාණන් වහන්සේ තනිවුණා. ඒ නිසා ස්ථිර උපස්ථායකයෙකු පත්කරගැනීමේ උවමනාව හොඳට ම ඇතිවී තිබුණා.

**ධම්මික පොඩි හාමුදුරුවෝ :-** අවසරයි හාමුදුරුවනේ, ඔය කියන මේඝිය හාමුදුරුවෝ, සුනක්ඛත්ත හාමුදුරුවෝ හැරුණු විට ඒ මුල් කාලයේ සිටි අනිත් උපස්ථායකවරු කවුද කියලා දැනගන්න කැමැතියි.

**පියරතන පණ්ඩිත හාමුදුරුවෝ :-** ඔව්' පොඩි හාමුදුරුවනේ වරින් වර බුද්ධොපස්ථානයට අට නමක් හිටියා. ඒ තමයි නාගසමාල, නාගිත, උපවාන, සුනක්ඛත්ත, සාගත, රාධ, මේඝිය, චුන්ද සාමණේර කියන හාමුදුරුවරු.

**නන්දරතන පොඩි හාමුදුරුවෝ :-** අවසර යි, පණ්ඩිත හාමුදුරුවනේ එහෙනම් ස්ථිර උපස්ථායකයෙකු පත්කළ යුතු ය කියන යෝජනාව ගෙනාවේ කවුද? ඒකට ආනන්ද හාමුදුරුවෝ ම තේරුණේ කොහොම ද?

**පියරතන පණ්ඩිත හාමුදුරුවෝ :-** ඔව්, ඒ ප්‍රශ්නය අහපු එක හොඳයි.
මම කියන්නයි හැදුවේ. කලින් කී විදියට බුදුහාමුදුරුවෝ අපහසුවට පත්වුණේ

උන්වහන්සේගේ උපස්ථානයට වගකියන කෙනෙක් නොසිටි නිසයි. ඒ නිසා දිනක් සංඝයා රැස්කරවා තමාට නිත්‍ය උපස්ථායකයෙකු අවශ්‍ය කාලය පැමිණ ඇතිබව උන්වහන්සේ වදාළා. ඒ වෙලාවේ සැරියුත් මුගලන් ආදී මහා ශ්‍රාවක හාමුදුරුවරු හැමදෙනා ම ඉතා කැමැත්තෙන් ඊට ඉදිරිපත් වුණා. නමුත් ඒ සඳහා ම පෙරුම් පුරාගෙන පැමිණි ආනන්ද හාමුදුරුවෝ ඒ තනතුර ඉල්ලුම් කරන තුරු ම බුදුහාමුදුරුවෝ සියලු ඉල්ලීම් ප්‍රතික්ෂේප කළා. ආනන්ද හාමුදුරුවෝත් එකවර ම ඉල්ලුවේ නැහැ. අනෙක් හාමුදුරුවරුන්ගේ බලවත් ඉල්ලීමෙන් පසුවයි ඉදිරිපත් වුණේ.

**නන්ද පොඩිහාමුරුවෝ :-** පණ්ඩිත හාමුදුරුවනේ ආනන්ද හාමුදුරුවො එකපාර ම උපස්ථායක තනතුර නොගෙන කොන්දේසි අටක් ඉදිරිපත් කළා කියනවා නේද?

**පියරතන පණ්ඩිත හාමුදුරුවෝ :-** අපි කොන්දේසි අටක් කියා කියනවාට වඩා ඒවා ඉල්ලීම් හතරක් හා ප්‍රතික්ෂේප කිරීම් හතරක් කියා කිව්වොත් තමයි හරි. හොඳයි, මුලින් ම අපි ඒ අට මොනවද කියා බලමු. එයින් ප්‍රතික්ෂේප හතර මොනවාද කියා දන්න පොඩි නමක් ඉන්නවා නම් පිළිවෙළින් කියන්න බලන්න.

**නන්දරතන පොඩි හාමුදුරුවෝ :-** පණ්ඩිත හාමුදුරුවනේ මම කියන්න ද?

**ධම්මික පණ්ඩිත හාමුදුරුවෝ :-** හා, හොඳයි, කියන්න බලන්න.

**නන්දරතන පොඩි හාමුදුරුවෝ :-**

1. බුදුහාමුදුරුවන්ට ලැබෙන සිවුරු මට නොදෙනු මැනවි.
2. බුදුහාමුදුරුවන්ට ලැබෙන ප්‍රණීත ආහාරපාන හෙවත් පිණ්ඩපාතය මට නොදෙනු මැනවි.
3. බුදුහාමුදුරුවන්ගේ හා එක ම කුටියේ වාසය කිරීමට ඉඩ නොදෙනු මැනවි.
4. බුදුහාමුදුරුවන්ට ලැබෙන පෞද්ගලික ආරාධනාවලට මා කැඳවාගෙන නොවඩිනු මැනවි.

කියන හතර යි.

**ධම්මික පණ්ඩිත හාමුදුරුවෝ :-** හොඳයි, ඊළඟට කවුරු හරි කියන්න බලන්න ඉල්ලීම් හතර මොනවාද කියලා.

**චන්දරතන පොඩි හාමුදුරුවෝ :-**

1. **මම බාරගත් ආරාධනයට බුදුරජාණන් වහන්සේ වැඩම කරනු මැනවි.**
2. **බුදුහාමුදුරුවන් හමුවීමට එන අවශ්‍ය ම අය කැඳවාගෙන ඒමට ඕනෑම වෙලාවක ඉඩ දුන මැනවි.**
3. **මට සැකයක් ඇතිවූ විට එය ඇසීමට අවසර දෙනු මැනවි.**
4. **මා නැති තැනක යම් ධර්ම දේශනයක් කළේ නම් ඒ ධර්ම දේශනාව මට නැවත දේශනා කරනු මැනවි.**

**ධම්මික පණ්ඩිත හාමුදුරුවෝ :-** බොහොම හොඳයි. අපට පේනවා ඒ ඉල්ලීම බොහොම වැදගත් ඒවා බව. ඒ කරුණු අටෙන් ප්‍රතික්ෂේප කිරීම්වලින් කියවුනේ තමන් වහන්සේ ලාභ ප්‍රයෝජන බලාගෙන, පහසුකම් බලාගෙන මේ තනතුර භාර නොගන්නා බව යි. ඒක ආනන්ද හාමුදුරුවන්ගේ විශේෂ ගුණයක්. ගුරු උපස්ථානය, මාපිය වැඩිහිටි උපස්ථානය ගිලානොපස්ථානය වැනි ඕනෑම උපස්ථානයක් කරන අයට හොඳ ආදර්ශයක්. ඒ වගේ ම තමයි ඉල්ලීම් හතර. ඒවායින් කියවුණේ තමන්ගේ මෙහෙවර බුදුරජාණන් වහන්සේ වෙත පැමිණෙන්නන් සඳහාත් සාසනයේ යහපත සඳහාත් කරන්නට තමන්ට අවසරය ලැබිය යුතු බව යි.

ඒ අතර අවසාන ඉල්ලීම ඉතාමත් වැදගත්. එදා උන්වහන්සේ බුදුහාමුදුරුවන්ගෙන් තමන් වහන්සේ නැති තැන දෙසූ ධර්මය නැවත දේශනා කරන්න කියා ඉල්ලීම් කළා වගේ ම උන්වහන්සේ එම ධර්මය මතක තබා ගත්තා. ඒ නිසා තේ උන්වහන්සේ '' ධර්ම භාණ්ඩාගාරික '' කියා හඳුන්වන්නේ. එදා ආනන්ද හාමුදුරුවන් වහන්සේ බුදුහාමුදුරුවන්ගෙන් ඒ ඉල්ලීම නොකළා නම් අද අපිට දේශනා කරන්න බණක් නොතිබෙන්නත් තිබුණා.

**නන්ද පොඩිහාමුදුරාවෝ :-** හාමුදුරුවනේ, මං අහලා තියෙනවා බුදුහාමුදුරුවෝ පිරිනිවන් පෑවාට පස්සේ ආනන්ද හාමුදුරුවෝ හුඟක් ඇඬුවා කියලා. රහත් වුණ අය අඬන්නේ නැහැ නේද හාමුදුරුවනේ ?

**පියරතන පණ්ඩිත හාමුදුරුවෝ :-** කාරණා දෙකම හරි. බුදු හමුදුරුවෝ පිරිනිවන් පෑවාට පසු එම දුක දරාගත නොහැකිව ආනන්ද හාමුදුරුවෝ හොඳට ම අඬපු බව ඇත්ත. රහතන් වහන්සේලා අඬන්නේ නැහැ. එකත් ඇත්ත. උන්වහන්සේලා ධර්ම සංවේගය පහළ කරගන්නවා. හැබැයි බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාන අවස්ථාව වනවිට ආනන්ද හාමුදුරුවෝ රහත්වෙලා හිටියේ නැහැ. උන්වහන්සේ සෝවාන් වෙලයි හිටියේ. ඒකත් උන්වහන්සේ සේවයට කැපවූ නිසා සිදුවූ දෙයක්. අවුරුදු විසි පහක් ම දිවා රෑ දෙක ම බුද්ධොපස්ථානය ම කළා මිස උන්වහන්සේ තමන්ගේ විමුක්තිය ගැන මහන්සි වුණේ නැහැ. උවමනා වුණා නම් රහත් වෙන්නට උන්වහන්සේට තරම් අවස්ථා වෙන කිසි කෙනෙකුට තිබුණෙත් නැහැ.

**නන්දරතන පොඩි හාමුදුරුවො :-** අග්‍රඋපස්ථායක වශයෙන් උන්වහන්සේ කරපු සේවය අපට හොඳට පැහැදිලි වුණා. අවසරයි හාමුදුරුවනේ. ධර්ම භාණ්ඩාගාරික වශයෙන් උන්වහන්සේගේ සේවය මොන වගේ ද කියලා පැහැදිලි කරලා දෙනවා නම් හොඳයි.

**ධම්මික පණ්ඩිත හාමුදුරුවෝ :-** ඔව්, උන්වහන්සේගේ අවසාන ඉල්ලීම ගැන අපි කලින් දැන ගත්තා. ඒකේ හොඳම ප්‍රතිඵලය ලැබුණේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවාට පස්සේ. පරිනිර්වාණයෙන් මාස තුනකට පසුව යි පළමු ධර්ම සංගායනාව පැවැත්වුණේ. එදා හාරසීය අනූනව නමක් රහතන් වහන්සේලා සංගායනා ශාලාවට රැස්වුණා. ආනන්ද හාමුදුරුවෝ රහත්වෙලා වඩින තුරු සංගායනාව පටන් නොගෙන බලා සිටියා. මොකද, ආනන්ද හාමුදුරුවෝ නැතිව ධර්ම සංගායනාව කරන්න බැරි නිසා. බුදුහාමුදුරුවන් දෙසූ සෑම ධර්මයක් ම අඩුවක් නැතිව මතක තබාගෙන හිටියේ ආනන්ද හාමුදුරුවෝ. උන්වහන්සේට බහුශ්‍රැත භික්ෂූන් වහන්සේලා අතර අගතනතුර ලැබුණේත් ඒ නිස යි. ආනන්ද හාමුරුදුරුවෝ අවුරුදු එකසිය විස්සක් වැනි දීර්ඝ කාලයක් ඉඳලයි පිරිනිවන් පෑවේ.

ආනන්ද හාමුදුරුවන්ගේ චරිතයේ විශේෂ ගුණාංග රාශියක් තිබෙනවා. ඒ හැම එකක් ම හැදෙන පොඩි හාමුදුරුවන්ට හරිම වැදගත්. උන් වහන්සේගේ චරිතය ඉතා රසවත්ව ලියලා තියෙනවා **ගණේගම**

සරණංකර හාමුදුරුවන්ගේ '' ආනන්ද හාමුදුරුවෝ '' කියන පොතේ, මම මේ පොඩි හාමුදුරුවන්ට මතක් කරනවා ඒ පොත හැමදෙනාම කියවන්න කියලා.

## අභ්‍යාස

01. ආනන්ද මහරහතන් වහන්සේට තිබූ අග තනතුරු මොනවා ද?

02. ආනන්ද හිමියන් බුදුරජාණන් වහන්සේගේ අග්‍ර උපස්ථායක වන්නට පෙර එම කටයුත්ත කළ ශ්‍රාවකයන් වහන්සේලාගේ නම් මොනවා ද?

03. ආනන්ද හාමුදුරුවෝ යන මාතෘකාව යටතේ ශිෂ්‍ය සමිතියට කථාවක් ඉදිරිපත් කරන්න.

# 10 මහා ධර්මපාල ජාතකය

අප මහ බෝසතාණන් වහන්සේ සා අවුරුද්දක් දුෂ්කර ක්‍රියා කළ සේක. ශරීරයට අපමණ දුක් දුන්හ. අන්තිමේ දී ආහාර වැළැදීම ක්‍රමයෙන් අඩුකොට බොහෝ කල් නිරාහාර ව සිටීමට පුරුදු වූහ. බඩේ හම පිටේ හමට ඇලෙන තරමට කෘශ වූහ. මේ සියල්ලටමත් වඩා බිහිසුණු දුෂ්කර ක්‍රියාව වූයේ අප්‍රාණක ධ්‍යානය යි. එහිදී හුස්ම ගැනීම සහමුලින් ම නවතා සිටීමට පුරුදු වූහ. අන්තිමේ දී උන්වහන්සේ සිහිසුන් ව ඇද වැටුණි. නැගිට ගන්නට බොහෝ වේලා ගත විය. බෝසතුන් මිය ගියේ යැයි සිතූ දෙවියෝ ඒ බව සුද්ධෝදන රජුට දැන්වූහ. මා පුතු මිය ගියේ බුදුවී ද නැතිව දැ යි පෙරලා රජු විමසීය. බුදු නොවී මියගියේ යැයි දේවතාවෝ කීහ. මා පුතු කිසි දිනක බුදු නොවී මිය නොයන්නේ යැයි කී රජතුමා එම ආරංචිය නොපිළිගත්තේ ය.

බුදු වී පළමු ව කිඹුල්වත් පුරයට වැඩි අවස්ථාවේ පියරජතුමා මේ පුවත උන්වහන්සේට සැළකර සිටියේ ය. එවිට උන්වහන්සේ " මහරජ ඔබ මා මළහ'යි යන ආරංචිය නොපිළිගත්තේ අද පමණක් නොවේ පෙර දිසාපාමොක් ඇදුරන් ධර්මපාල කුමාර ව සිටි මා මිය ගියේ යැයි ඇටකටු ගෙනහැර පෑද්දීත් නොපිළිගත්තේ යැයි වදරා මහා ධර්මපාල ජාතකය දෙසූ සේක. ඒ කෙසේ ද යත් :-

යටගිය දවස බරණැස ධර්මපාල නම් ගමක් විය ඒ ගමට ධර්මපාල යන නම කෙසේ ලැබුණේ ද යත්, ඒ ගම්පති ධර්මපාල නම් බ්‍රාහ්මණයාගේ පටන් නැදෑයන් මෙන් ම දැසි දස් කම්කරුවන් දක්වා ම නිතිපතා පන්සිල් ද පොහොය අටසිල් ද රකින්නා හ. දස කුසල දහම් ද පුරන්නාහ. ඒ හෙයින් ඒ ගමටත් ඒ බමුණු කුලයටත් ධර්මපාල යන නම අන්වර්ථ විය.

ඒ මහා ධර්මපාල බ්‍රාහ්මණයා තම පුත් ධර්මපාල කුමාරයන්ට මසුරන් දහසක් දී සිප් සතර ඉගැනීමට දිසාපාමොක් ඇදුරන් සමීපයට යැවී ය. ඒ කුමරු සෙසු පන්සියයක් අත වැසියන් අතර හිඳිමින් සිප් සතර උගනී. මේ අතර දිසාපාමොක් ආචාරීන්ගේ පුතණු කෙනෙක් මළහ.

දිසාපාමොක් ආචාරීන් ඇතුළු සියල්ලෝ ම ශෝකයෙන් හඬා වැලපී ආදාහනය කළහ. මේ පිළිබඳ ව අතවැස්සන් අතර කථාබහ ඇති වූ විටක ධර්මපාල කුමාරයා එතනට අවුත් මෙසේ බාලවියේ දීත් මිනිස්සු මිය යද්ද ? මෙය පුදුම දෙයකැයි පැවසී ය. එවිට සෙසු කුමාරවරු '' ඇයි ධර්මපාල කුමරුවනි, මරණය බාල යැයි මහලු යැයි කියා වෙනසක් ඇද්ද? කවර වියක සිටියත් මරණය තමා කරා එන බව නොදන්නේ දැ''යි කීහ. එවිට ධර්මපාල කුමාරයෝ මරණය පැමිණෙන බව දනිමි. එහෙත් මෙසේ බාල කාලයේ මිය යන්නෝ අප අතර නැතැයි කීහ. මේ පුවත සෙසු අතවැසියෝ දිසාපාමොක් ඇදුරන්ට දැන් වූහ. ඇදුරු තුමා ද ධර්මපාල කුමරු ගෙන්වා '' සැබෑ ද ඔබගේ පරපුරේ මහලුව මිස බාල වියේ මිය යන්නේ' නැද්දැ'යි විචාළෝ ය. '' එසේය ආචාරීන් වහන්ස'යි කුමාරයෝ කීහ. එසේ වී නම් එය පරීක්‍ෂා කළ මැනැවැයි සිතූ දිසාපාමොක් ඇදුරුතුමා මළා වූ එළුවකුගේ ඇටකටුවක් සෝදා පසුම්බියක දමාගෙන අතවැසියකු ද සමග ධර්මපාල ගමට ගොස් මහා ධර්මපාල බමුණාණන් හමුවිය. ධර්මපාල බමුණාණන් ද ඇදුරුතුමන් අසුනක හිඳුවා පිළිසඳර කථාකරමින් උන්නේ ය.

එවෙලෙහි දිසාපාමොක් ඇදුරු තුමා "ඔබගේ පුතණුවෝ හොඳින් ශාස්ත්‍රය හා ත්‍රිවේදය ඉගෙනිමෙන් සිටින අතර එක්තරා රෝගයකින් මළහ"යි කී ය. එවිට මහලු ධර්මපාල බමුණා අත්පොළසන් දී සිනාසී අපගේ දරුවෝත් බාලකාලයේ මියෙද්ද, ? එය විය නොහැක්කකැයි කීය. දිසාපාමොක් ඇදුරුතුමා එවිට ධර්මපාලයිනි, ඔබ මා කී දේ නො අදහත් නම් මේ තිබෙන්නේ ඔබ පුතණුවන්ගේ ඇටකටු ය. එය දැක වත් අදහාගනුවයි කීය. එවිට ධර්මපාල බමුණා මේ ඇටකටු එළුවකුගේ හෝ බල්ලකුගේ ය. අපගේ දරුවෝ අකාලයේ මිය යද්දැ යි කීය. අවට සිටි නෑදෑයෝ ද දැසි දස්සන් ආදි සියල්ලෝ ද සිනාසෙන්නට වූහ. එවිට දිසාපාමොක් ඇදුරුතුමා

> කිනෙත වතං කිමපන බ්‍රහමචරියං
> කිසස සුචිණණසස අයං විපාකො
> අකඛාහි මෙ බ්‍රාහමණ එතමත්‍ථං
> කසමා හි තුමහං දහරා න මියරෙ

යනුවෙන්, '' ඔබ රකින ව්‍රතය කුමක් ද, බඹසර කුමක් ද මේ විපාකය කෙබඳු සුචරිතයකින් ලැබුණේ ද? බමුණ මට මේ කරුණ කියන්න, කවර හෙයින් ඔබගේ බාලයෝ නොමියෙත් දැ' යි ඇසී ය. එම පැණයට පිළිතුරු දෙන මහලු බ්‍රාහ්මණ ධර්මපාලයෝ තම පරපුරේ දරුවන් නොමියෙන රහස මෙසේ හෙළි කළහ.

ධම්මං චරාම න මුසා භණාම
පාපානි කම්මානි විවජ්ජයාම
අනරියං පරිවජ්ජෙමු සබ්බං
තස්මා හි අම්හං දහරා න මියරෙ

අපි දස කුසල දහම් හි හැසිරෙමු. බොරු නොකියමු. ප්‍රාණඝාතා දී පවු දුරු කරමු. පහත් යැයි කියන සියල්ල දුරලමු. එහෙයින් අපගේ බාල දරුවෝ නොමියෙති.

සුණොම ධම්මං අසතං සතං ච
න චාපි ධම්මං අසතං රොචයාම
හිත්වා අසන්තෙ න ජහාම සන්තෙ
තස්මා හි අම්හං දහරා න මියරෙ

අසත්පුරුෂයන්ගේ ධර්මය මෙන් ම සත් පුරුෂයන්ගේ ධර්මය ද අසමු. එහෙත් අසත්පුරුෂයන්ගේ ධර්මය රුචි නොකරමු. අසත්පුරුෂයන් ඇසුර අත් හරිමු. සත්පුරුෂයන් ඇසුර අත් නොහරිමු. එහෙයින් අපගේ බාල දරුවෝ නොමියෙති.

පුබ්බෙව දනා සුමනා භවාම
දදම්පි චෙ අත්තමනා භවාම
දත්වාපි චෙ නානුතප්පාම පච්ඡා
තස්මා හි අම්හං දහරා න මියරෙ

අපි දන් දෙන්නට පෙරත් සතුටු සිත් ඇත්තෙමු. දෙනවිටත් සතුටු සිත් ඇත්තෙමු. දන් දීමෙන් පසුවත් කිසි කලක පසු තැවිලි නොවෙමු. සතුටු වෙමු. එහෙයින් අපේ බාලයෝ නොමියෙති.

සමණෙ මයං බ්‍රාහමණෙ අද්ධිකෙ ච
වණිබ්බකෙ යාචනකෙ දළිද්දෙ,
අන්නෙන පානෙන අභිතප්පයාම
තස්මා හි අම්හං දහරා න මීයරෙ

අපි මහණුන් ද බමුණන් ද මගියන් ද ගුණ කියා යදින වණිබ්බකයන් ද යදියන් ද දිළින්දන් ද යන සියල්ලන් ආහාර පානයෙන් සතප්පවමු. එයිනුදු අපගේ බාලයෝ අකාලයේ නොමියෙති.

මයඤ්ච භරියා නාතික්කමාම
අම්හෙ ච භරියා නාතික්කමන්ති,
අඤ්ඤත්‍ර තාහි බ්‍රහමචරියං චරාම
තස්මා හි අම්හං දහරා න මීයරෙ

අපි අපේ බිරින්දන් ඉක්මවා නොයමු, අප බිරින්දෝ ද අප ඉක්මවා නොයත්, අප ඔවුන් හැර සෙසු ස්ත්‍රීන් කෙරෙහි ගිහි බඹසර රකිමු. එහෙයින් බාල වියේ අපගේ දරුවෝ නොමියෙති.

පාණාතිපාතා විරමාම සබ්බෙ
ලොකෙ අදින්නං පරිවජ්ජයාම,
අමජ්ජපා නො ච මුසා භණාම
තස්මා හි අම්හං දහරා න මීයරෙ

අපි පරපණ නැසුමෙන් වළකිමු. නොදුන් දෙය ගැනීමෙන් දුරුවෙමු. මත් පැන් නොබොමු. බොරු ද නොකියමු. එහෙයින් අකාලයේ අප බාලයෝ නොමියෙති.

එතාසු වෙ ජායරෙ සුත්තමාසු
මෙධාවිනො හොන්ති පහූතපඤ්ඤා
බහුස්සුතා වෙදගුනො ච හොන්ති
තස්මා හි අම්හං දහරා න මීයරෙ

මෙසේ මේ සිල්වත් මවුවරුන්ට යම් දරු කෙනෙකුත් උපදිත් ද ඔවුහු ධාරණ ශක්තිය ඇති මහ නුවණැත්තෝ වෙති. බහුශ්‍රැත වෙති. වේදයෙහි

පරතෙර ගියෝ ද වෙති. එහෙයින් අපගේ බාලවියේ දරුවෝ නොමියෙති.

මාතාපිතා ච භගිනී භාතරො ච
පුත්තා ච දරා ච මයඤ්ච සබ්බෙ,
ධම්මං චරාම පරලොකහෙතු
තස්මා හි අම්හං දහරා න මියරෙ

මවුපියෝ ද, සොයුරු සොයුරියෝ ද, දරුවෝ ද, බිරියෝ ද, අපගේ දැසි දස්සෝ ද, අපෙන් යැපෙන්නෝ ද, යන සියල්ලෝ පරලොව සළකාගෙන ධර්මයේ හැසිරෙමු. එහෙයින් අපගේ බාලවියේ දරුවෝ නොමියෙති.

දාසා ච දස්සො අනුජීවිනො ච
පරිචාරකා කම්මකරා ච සබ්බෙ,
ධම්මං චරන්ති පරලොකහෙතු
තස්මා හි අම්හං දහරා න මියරෙ

දැසි දස්සෝ ද , අපෙන් යැපෙන්නෝ ද පිරිවර සෙනග ද, කම්කරුවෝ ද මේ හැම දෙනා පරලොව ගැන සිතා පින් දහම්වල යෙදෙති. එහෙයින් අපේ බාලයෝ නොමියෙති'යි. මෙසේ ධර්මපාල ගමේ දරුවන් නොමියන කාරණය පැහැදිලි කළ මහලු ධර්මපාල බමුණා අනතුරුව කුසළ දහමෙහි හැසිරීමේ අගය ඉතා ඉහලින් වර්ණනා කළේ ය.

ධම්මො හවෙ රක්ඛති ධම්මචාරිං
ධම්මො සුචිණ්ණො සුඛමාවහාති
එසානිසංසො ධම්මෙ සුචිණ්ණෙ
න දුග්ගතිං ගච්ඡති ධම්මචාරි

ධම්මො හවෙ රක්ඛති ධම්මචාරිං
ඡත්තං මහන්තං විය වස්සකාලෙ,
ධම්මෙන ගුත්තො මම ධම්මපාලො
අඤ්ඤස්ස අට්ඨීනි සුඛී කුමාරොති

'' ධර්මය ම ධර්මයෙහි හැසිරෙන්නා ඒකාන්තයෙන් රැක ගනී. මනාව

පුරුදු පුහුණු කළ ධර්මය සුවගෙන දේ. ධර්මයෙහි හැසිරෙන්නා දුගතියට නොයයි. ධර්මයෙහි මනාව හැසිරීමේ ආනිසංස එයයි. වැසි කල වැස්සෙන් රැක ගන්නා මහා කුඩයක් සේ ධර්මය ධර්මයෙහි හැසිරෙන්නාව රැක ගනී. මාගේ පුත් ධර්මපාල කුමාරයෝත් ධර්මයෙහි පිහිටියේ ය. මේ ඇට වෙනත් සතකුගේ ය. මගේ පුතු ඒකාන්තයෙන් ම සුවසේ ය.''

ඒ ඇසූ දිසාපාමොක් ඇදුරුතුමා පැමිණි ගමනින් මහත් ලාභයක් ලදිමි යි සිතා ''බමුණාණනි, සැබවින් ම තොපගේ පුතු සැපසේ වෙසෙයි. ඔබ විමසනු පිණිස ගෙනාවේ එළු ඇට ය. ඊට කමා කරනු මැනවැ''යි කීය. අනතුරු ව ඔබ මෙ දිවිගෙවන සැලැස්ම පත්‍රයක ලියා දෙවැයි කියා ඒ ධර්මපාල පවුලේ චාරිත්‍ර ධර්ම පතක ලියවාගත් දිසාපමොක් ඇදුරුතුමා කිහිප දවසකින් පෙරළා තක්සලාවට ගියේ ය. අනතුරුව ධර්මපාල කුමරුන්ට ආදරයෙන් අකුරු කරවා මහත් වූ පෙරහරින් ඔහුගේ ගමට එව්වාහයි වදරා ධර්මපාල ජාතකය නිමවාලූ සේක. මේ දේශනාව අවසානයේ සුද්ධෝදන රජ්ජුරුවෝ අනාගාමි ඵලයෙහි පිහිටියේ ය. එසමයෙහි ධර්මපාල මාපියෝ නම් මෙසමයෙහි සුද්ධෝදන රජ්ජුරුවෝ හා මහාමයා දේවිය යි. දිසාපාමොක් ඇදුරු නම් දැන් සැරියුත් තෙරුන් ය. පන්සියයක් අතවැස්සෝ බුදු පිරිස ය. එසම යෙහි ධර්මපාල කුමරු නම් බුදු වූ මම් ම වේ යැයි බුදුරජාණන් වහන්සේ දේශනාව අවසන් කළ සේක.

**ධර්මය ම උරුමකරගෙන පැවිදි වූ භික්ෂූන් වහන්සේට ධර්මයෙන් ඉහළ ම රැකවරණය ලැබෙන හෙයින් ධනය, බලය, රැකියා ආදි අන් සියලු රැකවරණ පසෙක ලා ධර්මයෙහි ම හැසිරීමට අදිටන් කළ යුත්තේ ය.**

## අභ්‍යාස

01. මෙම පාඩමෙහි ඇති ගාථා අර්ථ සහිතව වණපොත් කරන්න.

02. මෙහි ඇතුළත් මිනිසුන්ගේ ආයුෂ වැඩෙන කරුණු කොපමණදැයි එක්රැස් කරන්න.

# 11 සීල විමංස ජාතකය

**සීලං කිරෙව කල්‍යාණං සීලං ලොකෙ අනුත්තරං**
**පස්ස ඝොර විසො නාගො සීලවාති න හඤ්ඤති**

මේ ලෝකයෙහි කයින් වචනයෙන් සිතින් දුසිරිතෙහි නොයෙදී සදාචාරයෙහි යෙදීමේ සීලය ශ්‍රේෂ්ඨ වන්නේ ය. එසේම කඩ නොකොට රකින පන්සිල්, අටසිල්, දසසිල්, සාමණේර සිල් හා උපසපන් සිල් යන සීලය ම උතුම් වන්නේ ය. ශ්‍රේෂ්ඨ වන්නේ ය. විසඝෝර සර්පයෝ පවා සීලය නිසා ලෝව පැසසුම් ලැබුවෝ ය.

ඒ කෙසේද යත්,

යටගිය දවස බරණැස් නුවර බ්‍රහ්මදත්ත නම් රජ්ජුරු කෙනෙකුන් රාජ්‍යය කරවන සමයෙහි අප මහ බෝසතාණෝ ඒ රජුට පුරෝහිත වූහ. එතුමා දන් දීමේ බලවත් වූ ඇලුම් ඇත්තේ ය. සිල් රැකීමෙහි ද බලවත් වූ ඇලුම් ඇත්තේ ය. පංචසීලය කඩ නොකොට රක්ෂා කරයි. රජතුමා ද මේ තෙමේ සිල්වතෙකැයි කියා ඔහුට මහත් සත්කාර සම්මාන කරයි. සෙසු බමුණන් අතර ඔහු ඉතා ගරුකොට සලකයි. මේ අතර පුරෝහිත බමුණා මෙසේ සිතීය. "කිමද, මේ රජ්ජුරුවෝ මාගේ ජාති, කුල ආදි සම්පත් නිසා මට සත්කාර සම්මාන කරත්දෝ හෝ නොහොත් මාගේ සීල සම්පත්තිය නිසා ගරු බුහුමන් කරත්දෝ හෝයි, පළමු ව මෙය පරීක්ෂාකොට බැලුව මනා ය." මෙසේ සිතා ඒ බමුණු තෙම එක් දවසක් රාජසේවය කොට පෙරලා නිවස බලා යන අතර එක් රාජකීය අයකැමියෙකුගේ කාර්යාලයේ මුදල් පෙට්ටියකින් නො කියා එක් කහවණුවක් රැගෙන ගියේ ය. අයකැමියා මෙය

දුටු නමුත් බමුණා කෙරෙහි ගෞරවය නිසා කිසිත් නො කීය. නැවත දවසක කහවණු දෙකක් ගත්තේ ය. අයකැමියා එදවසත් එසේ ම ඉවසුවේ ය. බමුණා තුන්වන දවසේ කහවණු මිටක් ම ගත්තේ ය. එවිට අයකැමියා '' එම්බල බමුණ, මේ ඔබ රජ්ජුරුවන්ගේ රාජ භාණ්ඩාගාරයෙන් සොරකම් කරන පළමු දවස හෝ දෙවන දවස නොව තුන්වන දවස යැයි කියා තමා විසින් රාජ භාණ්ඩාගාරයෙන් සොරකම් කළ සොරෙකු අල්ලා ගන්නා ලදැයි තුන්වරක් හඬගෑවේ ය. එවිට එහෙන් මෙහෙන් එතනට රැස්වූ මිනිස්සු ඔබ මෙතුවක් කල් සිල්වතෙකු සේ පෙනී සිටියා නොවේ ද, දැන් මෙ කර ඇත්තේ කුමක් දැයි කියා බමුණාට පහර කිහිපයක් ගසා පිටි තල හයා බැඳගෙන රජ්ජුරුවන් වෙත ගෙන ගියෝ ය.

ඔවුන් යන අතර මඟ අහිකුණ්ටිකයෝ මාවත් මැද සර්පයින් නටවති. ඔවුහු සර්පයාගේ නගුට අල්ලති, බොටුව අල්ලති, සර්පයා අල්ලාගෙන තමාගේ කරවට වෙලති. එවිට බෝධිසත්වයෝ ඔවුන් දැක '' දරුවෙනි! මේ සර්පයාගේ නගුට නාල්ලවු, බොටුව නාල්ලවු, මෙම සර්පයා ඔබට දෂ්ඨ කළේ වී නම් ඔබ ජීවිතක්ෂයට පැමිණෙන්නාහු යැයි කියූහ. එවිට අහිකුණ්ටිකයෝ "මෙ සර්පයා සිල්වත් ය. අචාර සම්පන්න ය. තා මෙන් දුස්සීල නො වේ. තොප තොපගේ දුස්සීල බව නිසා නොපනත් කමින් රාජ භාණ්ඩාගාරයෙන් සොරකම් කොට දැන් මේ සොරා යැයි බැදගෙන යන්නේ නොවේ දැයි" කියූහ. එවිට බෝසත්හු මෙසේ සිතීය "සර්පයෝ පවා දෂ්ඨ නොකිරීමෙන් අනුන්ට හිංසා පීඩා නොකිරීමෙන් සිල්වත්හු යැයි නම් ලබති. මිනිසුන් ළඟ එවැනි ගුණ දහම් තිබුණේ නම් කියනුම කවරේ ද, මේ ලෝකයෙහි සත්පුරුෂයන් විසින් රක්නා ලද පංචසීලය, අෂ්ඨංග සීලය ආදි සියලු සීලයන් උතුම් වන්නේ ය. ඒ සීලයට වඩා උතුම් වස්තුවක් ලොව නැත්තේ ය." යනුවෙනි. රාජ පුරුෂයෝ බ්‍රහ්මණයා රැගෙන ගොස් රජ්ජුරුවන්ට දැක් වූහ. එවිට රජ්ජුරුවෝ "රාජ පුරුෂයිනි! මේ කිම ද අප පුරෝහිතයන් කුදලාගෙන ආවේ මන්දැ'යි විමසී ය. "දේවයන් වහන්ස" මේ බ්‍රහ්මණ තෙමෙ රාජ භාණ්ඩාගාරයෙන් සොරකම් කළ සොරකැයි ඔවුහු කියා සිටියහ. රජ්ජුරුවෝ බමුණා දෙස බලා සිදු වූ දේ ගැන කලකිරී '' බමුණ, කුමක් නිසා මෙබඳු දුස්සීල ක්‍රියාවක් කළේ දැයි කියා ''හැරගෙන යවු මොහුට රාජ නීතිය අනුව දඬුවම් කරවු'' යනුවෙන් රාජ පුරුෂයන්ට අණ කළේ ය.

එවිට බමුණා '' රජ්ජුරුවන් වහන්ස මා රාජ භාණ්ඩාගාරයෙන් සොරකම් කළේ නැතැ'යි කීය. එවිට රජතුමා එසේ නම් කුමක් නිසා

අයකැමියාගේ පෙට්ටියෙන් කහවණු ගත්තේ දැයි ඇසී ය. එවිට බමුණු තෙම "රජ්ජුරුවන් වහන්සේ මට මහත්සේ සත්කාර සම්මානකොට ගරු බුහුමන් දක්වයි. සැබැවින් කිමද, මේ රජ්ජුරුවන් වහන්සේ මාගේ ජාති, කුල ආදිය නිසා මට මෙතරම් ගරු බුහුමන් කරද්දෝ හෝ නොහොත් මාගේ සීලය නිසා මට ගරු බුහුමන් කරද්දෝ හෝ යි පරීක්ෂාකරනු පිණිස මෙසේ කළෙමි. දැන් මේ කාරණයෙන් මේ ලෝකයෙහි අන් සියලු සම්පත්වලට වඩා සීලය ම ශ්‍රේෂ්ඨ යැයි සොයා ගතිමි. ලෝකයෙහි විෂඝෝර සර්පයන් පවා අනුන්ට දෂ්ඨ නොකිරීමෙන් සිල්වත් යැයි බොහෝ දෙනා අතර ප්‍රශංසා "ලබන්නාහයි" අතර මග දී තමා දුටු කරුණු ගෙන හැර පාමින් සීලාදි ගුණ පසසමින් රජ්ජුරුවන්ට ධර්මය දේශනා කළේය. අනතුරුව පුරෝහිත බමුණුතුමා සියලු කම්සැප අතහැර තවුස් පැවිද්දෙන් පැවිදි ව හිමාලය වනයට වැදී පංච අභිඥා අෂ්ඨ සමාපත්ති උපදවා කම් වූ පරිද්දෙන් මිය පරලොව ගොස් බඹලොව උපන්නේ ය.

**මේ නිසා මිල මුදල්, විහාර, පන්සල්, පදවි, තනතුරු ආදි මෙකී නොකී සම්පත්වලට වඩා සාමණේර සීලය, උපසම්පදා සීලය සේ ම සේඛියාවල කී ආචාර සීලය ද යන මේ සීලය පැවිද්දෙකුට උතුම් වන්නේ යැයි දත යුතු ය.**

## අභ්‍යාස

01. සිල්වත් වීමේ වටිනාකම ගැන කියවෙන මෙබඳු තවත් ජාතක කථාවක් සොයා පන්තියට ඉදිරිපත් කරන්න.

02. සිල්වත් බවේ ආනිසංස පහක් සොයා ගුරුතුමාට ඉදිරිපත් කරන්න.

# 12 සෝණක ජාතකය

## සමණ භද්‍ර ගාථා

සදපි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
න තෙසං කොට්ඨෙ ඔපෙන්ති න කුම්භිං න කළොපියං
පරනිට්ඨිතමෙසානා තෙන යාපෙන්ති සුබ්බතා.

මහරජ ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය හැමදාම යහපත් ය. ගබඩාවල ධන ධාන්‍ය තැන්පත් නොකරති. හැලිවල හෝ මලුවල නොදමති. මනා ඇවතුම් පැවතුම් ඇති ව පිඬු සිඟා අනුන් විසින් පිසන අහර සොයන ඔවුහු ඒ අනුන්ගේ අහරින් යැපෙති.

දුතියම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
අනවජ්ජපිණ්ඩා භොත්තබ්බා න ච කොචූපරොධති

අධාර්මික ජීවිකාවලින් මිදී දැහැමින් ලද නිවැරදි පිණ්ඩාහාරය වළඳන භික්ෂුව ඒ හේතුවෙන් කිසිම කෙළෙස් පීඩාවක් නොලබයි. ඒ හෙයින් ගිහිගෙය හැර පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය දෙවනුව ද යහපත් ය.

තතියම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
නිබ්බුත පිණ්ඩා භොත්තබ්බා න ච කොචූපරොධති

ප්‍රත්‍යවේක්ෂා කොට, අහර නිසා නැගෙන කෙලෙස් ගිනිත් නිවාගෙන කුසගිනිත් නිවීමට සුදුසු නිවුණු පිණ්ඩයක් ම වළඳන හෙයින් ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය තෙවනුව ද යහපත් ය.

> චතුත්ථම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
> මුත්තස්ස රට්ඨෙ චරතො සඞ්ගො යස්ස න විජ්ජති.

මේ මගේ නෑයා ය, මගේ දයකයා ය කියා ගිහියන් කෙරෙහි ඇල්මකින් තොරව ගම් නගරවල හැසිරෙන බැවින් රාගාදී බැඳුම් නැති ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය සිව්වනුව ද යහපත් ය.

> පඤ්චමම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
> නගරම්හි දය්හමානම්හි නාස්ස කිඤ්චි අදය්හථ.

ගින්නකින් නගරයක් දැවෙන විට සියල්ලන් සතු සියලු දේ දැවී යද්දී තමාගේ දැවී යන කිසිවක් නැති බැවින් ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය පස්වනුව ද යහපත් ය.

> ඡට්ඨම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
> රට්ඨෙ විලුම්පමානම්හි නාස්ස කිඤ්චි අහාරථ.

සොරුන් විසින් රටක් කොල්ලකන මොහොතක සොරුන්ට පැහැර ගැනීමට කිසිවක් තමා වෙත නොමැති හෙයින් ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය හයවනුව ද යහපත් ය.

සත්තමම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
චොරෙහි රක්ඛිතං මග්ගං යෙ චඤ්ඤෙ පරිපන්ථිකා
පත්තචීවරමාදය සොත්ථිං ගච්ඡති සුබ්බතො

මං පහරන සොරුන් හෝ වෙනත් බිහිසුණු උවදුරු සහිත ඕනෑම මඟක සිය පා සිවුරු පමණක් ගෙන නිරුපද්‍රිතව වැඩමවන හෙයින් ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය හත්වනුව ද යහපත් ය.

අට්ඨමම්පි භද්‍රමධනස්ස අනාගාරස්ස භික්ඛුනො,
යං යං දිසං පක්කමති අනපෙක්ඛොව ගච්ඡති.

වැඩ විසූ තැනින් කොතරම් දුරකට කොතරම් කලකට පිටත්ව යතත් මෙතෙක් ඇසුරු කළ කිසිවක් පිළිබඳ නැවත බලාපොරොත්තුවක් නැතිව අතහැර යන හෙයින් ගිහිගෙය හැරපියා පැවිදි වූ නිර්ධන භික්ෂුවගේ ජීවිතය අටවනුව ද යහපත් ය.

යන මේ සමණ භද්‍රකාරණා (පැවිද්දෙකු යහපත් බවට පත් කරන) ධර්ම අට වදාරන ලද්දේ සෝණක නම් පසේ බුදුරජාණන් වහන්සේ විසින් අරින්දම නම් රජතුමාට ය. ඒ කෙසේ ද යත්;

යටගිය දවස මගධ රට රජගහ නුවර මගධ නම් රජ කෙනෙක් රජකම් කළේ ය. ඔහුගේ පුත් ව උපන් බෝසතාණන් වහන්සේ අරින්දම යැයි නම් ලැබී ය. එදා ම රජුගේ පුරෝහිත බමුණු මැදුරෙහි ද පුතණු කෙනෙක් උපන්නේ ය. එතෙම සොණක නම් විය. සොළොස් වියට පත් මෙ දෙදෙනා අගනුවරට වී නොසිට සිරිත් විරිත් දැන හඳුනාගනු පිණිස ගම් නියම්ගම් රජ දහන්වල වෙස් වලාගෙන අප්‍රකටව සැරිසරමින් විසූහ. දිගු කලක් ගෙවී ගියේ ය. මේ අතර බරණැස් රජතුමා කලුරිය කළේ ය. රජය කරවන්නට පුත් කුමරෙක් ද නැත. ඇමතිවරු හිස් සෝදා නහා සැරසී රථය ද සරසාගෙන නළල්පට, කඩුව, රන් මිරිවැඩි සඟල, සේසත සහ මංගල වල් විදුනාව යන පංචරාජ කකුධ භාණ්ඩ මංගල රථයේ නංවාගෙන රජකමට උරුමකරුවෙකු හමුවන තුරු

සහ පිරිවරින් සැරිසරන්නට වූහ. මේ වන විට කුමාරවරු දෙදෙනා ද බරණැස් නුවරට පැමිණ රජ උයනෙහි රිය ගෙවා, පසුදා නගරයට පිවිසියෝ ය.

එදවස ඒ නුවර ශාන්ති කර්මයකි. ජනයා කිරිබත් සහිත දන් පිළියෙල කොට බමුණන් එනතුරු බලා සිටිති. මොවුන් දෙදෙනා දුටු ඔවුහු ගෙට කැඳවාගෙන ගොස් පියවිලි අතුළ අසුන් වල හිඳ වූහ. බෝසතුන් හිඳි අසුනෙහි සුදු වස්ත්‍රයක් ද සෝණක කුමරුගේ අසුනෙහි රන් පලසක් ද අතුරා තිබුණි. ඒ නිමිත්තෙන් අද දවසේ මිතුරු අරින්දම කුමරු මගධයෙහි රජ වී තමා සෙනෙවි තනතුරෙහි තබන බව සෝණක කුමාරයා දැන ගත්තේ ය. අහර කිස නිමකළ ඔවුහු පෙරලා රජ උයනට ම ගොස් මංගල ශාලාවේ වැදහොත්තාහු ය. මේ අතර අරින්දම කුමරුගේ පිනෙන් මංගල රථය පැමිණ ඔහු පාමුල නැවතුණේ ය. කරුණු වටහා ගත් සෝණක කුමාරයා තනතුරු සහ යස ඉසුරු ප්‍රිය නොකළ බැවින් සැඟවී සිටියේ ය. ඇමතියෝ තූර්යනාද පවත්වා කුමරු පුබුදුවාගෙන, රියෙහි නංවාගෙන, සහපිරිවරින් කැන්දාගෙන ගොස් රාජ්‍යයෙහි අභිෂේක කළෝ ය. රජ ඉසුරින් මත් වූ ඔහුට සිය මිතුරා ද අමතකව ගියේ ය. උයනෙහි සල් ගසක් මුලක සිටි සෝණක කුමාරයන්ට නටුවෙන් ගිලිහී වැටෙන සල් පතක් පෙනිණ '' මේ සල්පත ජරාපත් වූයේ යම්සේ ද මාගේ සිරුර ද එපරිද්දෙන් ම ජරාපත් වන්නේ' ය. යනාදී වශයෙන් විදසුන් නුවණ පහළ වී එතුමා පසේ බුදු බවට පත් විය. ගිහි වෙස් අතුරුදහන් ව පැවිදි වෙස් පහළ විය. මින් මතු බව උපතක් නැතැයි උදම් ඇනූ සෝණක පසේ බුදුරජාණෝ සිරිතක් ලෙස සියලු පසේ බුදුවරුන් වැඩ වසන්නා වූ හිමාලයේ ගන්ධමාදන පර්වතයේ නන්ද මූලක නම් වූ ගල් ලෙනට වැඩිය හ.

මහ බෝසතාණෝ රජසිරි විඳිමින් හතළිස් වසරක් ගෙවූහ. හිටිහැටියේ ම' මාගේ යහළු සෝණක කුමාරයෝ කොයිදෝ' හෝයි ඔහුට සිහි විය. නොයෙක් ලෙසින් නොයෙක් දෙනාගෙන් විචාළ නමුත් දුටිමි ඇසිමි කියන කෙනෙක් නොවී ය. මෙයට උපක්‍රමයක් සිතූ රජු කවදා හෝ හමුවෙතැයි අපේක්ෂාවෙන් සෝණක කුමරුන් ගැන "ඇසුවෙමියි" කියන අයෙකුට කහවණු සියයක් ද "දිටිමි" කියන කෙනෙකුට කහවණු දහසක් ද දෙමි යන අදහස ගැබ්වුණු ගීයක් තනා ගයන්නට විය. මෙය රජ ගෙදර තුඩින් තුඩ පැතිරි දෙටුපුත් දීඝායු කුමරුන් ඇතුළු ළදරුවන් අතරට ද ගියේ ය. රාජ්‍ය ශ්‍රී විඳිමින් ඒ රජ්ජුරුවන්ට පනස් අවුරුද්දක් ඉක්ම ගියේ ය. ඒ කාලයේ සෝණක

නම් වූ පසේ බුදුරජාණන් වහන්සේ රජ්ජුරුවන්ගේ අභිප්‍රාය දිවසින් දැක අරින්දම රජ්ජුරුවෝ මා දක්නා කැමැත්තාහු ය. එහි ගොසින් ඔහුට පංචකාම විෂයෙහි ආදීනව ද මහණ දම් පිරීමේ ගුණ ද දක්වා උන් මහණ වන ලෙස කෙරෙමියි සිතා වදාරා ආකාශයෙන් අවුත් මඟුල් උයනෙහි වැඩහුන් සේක.

පන්සිළු නම් දිළිඳු දරුවෙක් රජුගේ ගීතිකාව ගයමින් සෙල්ලමට කෝටු කැලි සොය සොයා උයනෙහි ඇවිදිමින් සිටියේ ය. ඔහු ලඟට කැඳවාගත් පසේ බුදුරජාණෝ ඔහුට ප්‍රතිගීතිකාවක් උගන්වා රජතුමා වෙත යැවූහ. ''මිතුරු සෝණක කුමාරයන් ගැන ඇසිමි සියසින් දිටිමි'' යනුවෙන් කියවෙන එම ගීය ඇසූ රජතුමා පන්සිළු කුමාරයන් වෙතින් උන්වහන්සේ වැඩ හිඳිනා තැන් අසා දැනගෙන, ඔහුට ගිවිසුම් පරිදි එක් දහස් එක් සියයක් පඬුරු දෙවා, මඟුල් පෙරහරින් උයනට සැපත් වූයේ ය. නිවුණු සිත් ඇතිව හුන් සෝණක නම් පසේ බුදුරදුන් දැකත් නොවැඳ ම එකක් පස්ව හුන් රජතුමා, තම යහළුවාගේ ස්වරූපය ගැන කලකිරී උන්වහන්සේට මෙසේ පැවසී ය. '' මේ මහණ තෙම හිස මුඩුව, දෙපට පාංශුකූලයක් පෙරවගෙන. මා පිය හිතවතෙකු නැතිව, රුක් මුලක දුප්පත් එකෙකු මෙන් හිඳී". එබස් ඇසූ සෝණක පසේ බුදුරජාණන් වහන්සේ '' රජ්ජුරුවනි, යම් කෙනෙක් ලොවුතුරා දහම් අවබෝධ කොට සිටී ද හෙතෙම දුක්ඛිතයෙකු නොවන්නේ යැ'යි වදළ හ. තවද රජ්ජුරුවෝ තමන් වහන්සේට කළ නින්දාව නොදන්නාක් මෙන් පිළිසඳර කථා වශයෙන් තමාගේ නාම ගෝත්‍රාදිය වදළ සේක. එවිට රජ්ජුරුවෝ 'මෙහි පැමිණියා වූ නුඹ වහන්සේට කිසිදු අපහසුවක් නැද්දැ'යි යන ආදී වශයෙන් සුවදුක් විචාළ හ. ඔහුට පිළිතුරු දෙන බුදුරජාණෝ මහරජ මෙතන තබා කොයිත් මට අපහසුවෙක් නැතැයි වදරා ඒ රජ හට යට කී ගාථා අටෙන් "ශ්‍රමණ භද්‍ර" බණ වදළ සේක. එහෙත් පස් කම් හි ගිජු වූ රජතුමාට ඒ බණ රුචි නොවී ය. ඒ හෙයින් '' මුනිවරයන් වහන්ස, මානුෂික වූ ද දිව්‍යමය වූ ද කම් සැප මට ඉතා ප්‍රිය ය. කවර ලෙසකින් මාගේ මනදොළ ඉටුවේ දැ'යි විචාළේ ය. එවිට පසේ බුදුරජාණන් වහන්සේ නොයෙක් අයුරින් කම් සැපයෙහි ආදිනව වදරා මෙසේ උපමාවකින් ද එය ගෙන හැර පෑහ. මහරජ භාගීරතී නම් ගඟෙහි ගසාගෙන යන ඇත් කුණක් දුටු අනුවණ කපුටෙක් මා විසින් මහා යානාවකුත්, විශාල ගොදුරකුත් ලබන ලදැයි සතුටු ව, ඒ මත නැගී මස් අනුභව කරමින් ගඟෙන් පැන් බොමින් දෙපස සෝබාසිරි නරඹමින් රෑ දවල් දෙක ම එහි ම විසී ය. ඇත් කුණපයෙහි ගිජුව ප්‍රමාද වූ කපුටා ඇත් කුණත් සමඟ ම මහ සමුදුරට වැටී පක්ෂින්ට ඔරොත්තු නොදෙන මුහුද මැදට පාවී ගියේ ය.

ඇත් කුණ රළ පහරට අසු වී සුණුවිසුණුව ගියේ ය. පියාපත් නගා මෙගොඩට ඒමට අපෝසත් වූ කපුටා විඩාපත් ව මුහුදට ඇද වැටුණේ ය. එපරිද්දෙන් මහරජ, තොප ද සෙස්සෝ ද වස්තුකාම ක්ලේශකාම හැරපියා නොයත් නම් ඔවුහු ඒ කපුටා හා සමාන නුවණ නැත්තා හු යැයි බුද්ධාදි උත්තමයෝ කියති. මහ රජ ඉතින් මාගේ මේ අවවාදය පිළිගෙන කම් සැප අත් හළේ වී නම් ස්වර්ග ලෝකයට පැමිණෙන්නේ ය. නොහළේ නම් මරණින් පසු නරකාදී අපායට යන්නේ යැ'යි වදළ හ. මෙසේ අවවාද අනුසාසනා කළ පසේ බුදුරජාණන් වහන්සේ පෙරලා අහසින් හිමාලයට ම වැඩි සේක. බණ අසා කම් සැපයෙහි කළකිරුණු රජතුමා '' රාජ්‍යයෙන් ප්‍රයෝජන නැත්තේ ය, අද ම මම මහණ වෙමි. මරණය අද ද හෙට දැයි දත නොහැක්කේ ය. නුවණ නැති කපුටා මෙන් මරු වසගයට නොපැමිණෙමි" යැයි තීරණය කළේ ය. අනතුරුව රජතුමා රාජ්‍යය දීඝායු කුමරුවන්ට පවරා නුවරින් නික්ම හිමාල වනයට වැදී එහි පන්සලක් තනාගෙන තවුස් පැවිද්දෙන් පැවිදිව පංච අභිඥා, අෂ්ට සමාපත්ති උපදවා මරණින් මතු බඹලොව උපන්නේ ය.

බුදුරජාණන් වහන්සේගේ මහබිනික්මන වර්ණනා කරමින් දම් සභාවේ සිටි භික්ෂූන් වහන්සේට තමන් පෙර කළ අබිනික්මනක අසිරිය මෙසේ ගෙන හැර දක්වා එකල දීඝායු කුමරුනම් රාහුල තෙරණුවෝ ය. පසේ බුදුරදුන්ගෙන් බණ අසා තපසට ගිය අරින්දම රජ්ජුරුවෝ නම් බුදු වූ මම ම වේ දැයි දක්වා සෝණක ජාතකය නිමවා වදළ සේක.

**එසේ හෙයින් භික්ෂූන් වහන්සේ ද නැවත නිසරු කම් සැපට ගිජු වී ඇත් කුණෙහි විසූ කපුටා මෙන් සසර කතර අතර මං නොවී, කළ අබිනික්මන පල දරන සේ කල් ගෙවන්නට අදිටන් කළ යුත්තේ ය.**

## අභ්‍යාස

01. ශ්‍රමණභද්‍ර ගාථා අර්ථ සහිතව වණපොත් කරන්න.

02. ථේරී ගාථා පාලියේ "රෝහිණී" ථේරී ගාථාවේ සහ ධම්මපදට්ඨ කථාවේ චූල සුභද්‍රා කථාවේ එන සඟගුණ ගාථා ලියාගෙන, අර්ථ සහිතව වණපොත් කරන්න.

# 13 බුදු දහමින් රට පාලනය කළ සක්විති රජතුමා

මෞර්ය රාජ වංශය අප බුදුරජාණන් වහන්සේගේ පිරිනිවනින් සියවස් දෙකකට පසු අවධියේ දඹදිව ඉතා දීප්තිමත් ව බැබලුණු රජ පරපුරකි.එහි ආරම්භකයා චන්ද්‍ර ගුප්ත රජතුමා ය. එතුමා චාණක්‍ය හෙවත් කෞටිල්‍ය බමුණු පඬිතුමාගේ උපදෙස් පරිදි එතෙක් රජකළ නන්ද රජපරපුර පරදවා, දඹදිව බලවත් ම රජු බවට පත් විය. පාටලී පුත්‍රය පළමු වරට අගනුවර කරගත් එතුමා සුවිසි වසක් රජකම් කළේ ය.

චන්ද්‍ර ගුප්ත රජු ඇවෑමෙන් ඔහු පුත් බින්දුසාර කුමරු රජ විය. ඔහුට බිසෝවරු සොළොස් දෙනෙක් වූහ. ඔහුට දාව ඒ සියලු දෙනාට උපන් පුත්තු ම එක්සිය එක් දෙනෙක් සිටි බව කියති. ඒ අතුරෙන් ධර්මා දේවියට සුසීම, අශෝක, තිස්ස යනුවෙන් පුත්තු තිදෙනෙක් වූහ. මේ අතුරින් අශෝක කුමරු අනෙක් කුමරුන් සිය දෙනාට ම වඩා බුද්ධිමත් ය, එඩිතර ය, රණකාමී ය. ඒ නිසා ම එවකට අවන්ති දේශයේ **උදේනි පුර** ඇති වූ කැරැල්ලක් මැඩලීමට පැවරුණේ අශෝක කුමරුට ය. කැරැල්ල සාර්ථක ව මැඩලීම ගැන සතුටට පත් රජතුමා ඔහුට අවන්ති දේශයේ පාලනය පවරා යුව රජකම ද දුන්නේ ය.

අටවිසි අවුරුද්දක් රජකම් කළ බින්දුසාර රජතුමා මිය පරලොව ගිය කල්හි අශෝක යුව රජු රාජ්‍ය ලබා ගැනීමට පාටලී පුත්‍රයාට පැමිණියේ ය. එහෙත් සියලු සොහොහුරෝ ඔහුට එරෙහිව සිටියෝ ය. ඒ නිසා පළමු කොට ඔවුන් සමග යුද වැදීමට අශෝක යුව රජුට සිදුවිය. අන්තිමේ දී තමාගේ එක කුස උපන් වැඩිමහල් සොයුරු සුසීම කුමරු හැර සෙසොයුරන් අනූ නව දෙනෙකු ම නසා දැමූ බව කියති. කෙසේ හෝ අශෝක යුවරජු ඔවුන් ගෙන් රාජ්‍ය අත්පත් කර ගත්තේය. මේ නපුරු ප්‍රචණ්ඩ කම නිසා එතැන් පටන් ඔහුට චණ්ඩාශෝක යන අන්වර්ථ නාමයක් පටබැඳුණි.

**රජවරුන් යුද්ධ කොට අවට ප්‍රදේශ හෝ රටවල් යටත් කර ගැනීම දිග් විජය** නමින් හැඳින්වේ.

චන්ද්‍ර ගුප්ත රජතුමා දිග් විජය කොට දඹදිවින් විශාල කොටසක් යටත් කරගෙන තිබුණි. බින්දුසාර රජතුමා එය තවත් පුළුල් කළේ ය. අශෝක රජතුමා ද රජ වී නොබෝ කලකින් ඉතිරි ප්‍රදේශ යටත් කර ගැනීම පිණිස දිග් විජය ඇරඹීය. බොහෝ ප්‍රදේශ පහසුවෙන් යටත් කර ගත හැකි වුවත් කාළිංග දේශය දිනා ගැනිම අසීරු කටයුත්තක් විය. රාජාභිෂේකයෙන් අටවැනි වර්ෂයේදී හෙතෙම කාළිංගය සමග යුද වැදුණි. අති ශූර රණකාමියෙකු වූ අශෝක රජුගේ අවසාන සටන එයයි. එහිදී එක්ලක්ෂ පනස් දහසක් පමණ සිර කරුවන් වශයෙන් අල්ලා ගැනුණි. ලක්ෂයක් පමණ මරා දැමුණි. තවත් ලක්ෂයකට අධික සංඛ්‍යාවක් තුවාල ලැබූ බව **කාලිංග ලිපියේ** සඳහන් වේ.

යුද්ධයෙන් අශෝක රජු ජය ලැබී ය. එහෙත් එතුමාට එයින් මහා කණස්සල්ලක් මිස සතුටක් ඇති නොවී ය. කිසිම ආගමකට දහමකට හෝ උපදේශකයෙකුට එතුමාගේ සිත් තැවුල් සන්සිඳුවීමට නොහැකි විය. අන්තිමේදී එතුමාට සැනසිල්ලක් ඇති වූයේ නිග්‍රෝධ නම් හත් හැවිරිදි බෞද්ධ සාමණේරයන් වහන්සේගේ සංසුන් ඉරියව් දැකීමෙනි. උන් වහන්සේ මාලිගයට වැඩමවා බණ අසා පැහැදුණු රජතුමා තිසරණ පන්සිල් සමාදන් ව බෞද්ධ උපාසකයෙකු බවට පත් විය.

එතැන් සිට එතුමා දිග් විජය සඳහට ම අත් හැරියේ ය. ධර්ම විජය ආරම්භ කළේය. යුද කොට රටවල දිනා ගැනිම වෙනුවට සුහද ධර්ම දූතයන්ගේ මාර්ගයෙන් පිට රටියන්ගේ සිත් දිනා ගැනීමට වෑයම් කළේ ය.

දැන් එතුමා, අශෝක හෝ චණ්ඩාශෝක නොව ධර්මාශෝක ය, ගිරිනාර් ලිපියේ සඳහන් වන පරිදි **''නාස්ති හි කම්මතරං සව් ලෝක හිතාය''** ( සියලු ලෝ වැසියන්ගේ යහපත පිණිස වැඩ කිරීම තරම් ලොකු වැඩක් වෙන නැත) **''සවෙ මුනිසේ පජා මම''** (සියලු මිනිස්සු මගේ දරුවෝ ය ) යනුවෙන් එතුමා ලියා තිබේ. ඒ අනුව මුළු ලෝකය ම තමාගේ නිවස ලෙසත්, මුලු මිනිස් වර්ගයා ම තමාගේ දරුවන් ලෙසත් සැලකූ එතුමා සමාන වන්නේ සක්විති රජ කෙනෙකුට ය. එතුමා මුව දඩයම වැනි හිංසා කාරි විනෝද ගමන් අත් හළේ ය. වන්දනා ගමන් යාම, ජනපද වැසියන් බලන්නට යාම, දන් දීම වැනි ධර්ම යාත්‍රාවල යෙදුණි.

නියම බෞද්ධයෙකු වූ අශෝක රජතුමාගේ ශ්‍රේෂ්ඨතම ගුණයක් නම් බෞද්ධයන්ට මෙන් ම අනෙක් සියලු ම ආගමිකයන්ට උසස් ලෙස ගරු සරු දැක්විම යි. අන්‍යාගාමිකයන්ට සැලකූ තරමට තම ආගම ගෞරවයට පාත්‍ර වන බවත්, අන්‍යාගමිකයන්ට නොසැලකූ තරමට තම ආගම අගෞරවයට පත් වන බවත් එතුමා විශ්වාස කළේය. වෙනත් රජවරු සෙල්ලිපිවලින් කළේ තමාගේ ලොකුකම තමා ම ලියවා ගැනිම යි. තමන්ගේ හපන් කම් ගැන ලියා තැබිම යි. එහෙත් අශෝක රජතුමා සෙල්ලිපිවල ලියා තැබුවේ ලෝකයාගේ යහපත සඳහා අවශ්‍ය වන අවවාද, අනුශාසනා, උපදෙස් පමණි.

අශෝක රජතුමා ළිං පොකුණු තැනවීය. උයන්, බෙහෙත් වතු වගා කරවීය. මහණ බමුණන් දහස් ගනණකට දිනපතා දන් දුන්නේ ය. උපාසක ජීවිතයක් ගත කළ එතුමා සතුන්ට අභය දනය දුන්නේ ය. රජ ගෙදර ආහාරය සඳහා සතුන් මැරිම ක්‍රමයෙන් අඩු කොට අන්තිමේදී නිර්මාංශ ආහාරයට පුරුදු විය. යාග හෝම සඳහා සතුන් මැරිම සීමා කළේ ය. පොහොය දිනවල දඩයම හා මස් මාළු විකිණිම තහනම් කළේ ය.

අශෝක රජු තම රට වැසියාට හොඳින් ආගමික නිදහස දුන්නේ ය. බුදුදහමේ සහ වෙනත් ආගම්වල එන වැදගත් කරුණු ගල් ටැම්වල ලියවා ප්‍රසිද්ධ ස්ථානවල සිටු විය. ඒවා අශෝක ධර්මය, උපාසක ධර්මය යැයි ද හැඳින්වේ. එතුමාගේ ධර්ම ලිපිවල, සිගාලෝවාද, මංගල, රාහුලෝවාද ආදි සූත්‍රවල කරුණු සටහන් කර තිබේ. ධනය පරිහරණය කරන හැටි, මව්පිය උපස්ථානය, මහණ බමුණන්ට සැලකීම, ගුරු ගෞරවය හා ගුරුන්ට කීකරු වීම, දැසි දස් කම්කරුවන්ට සලකන හැටි ආදී බොහෝ කරුණු එතුමාගේ ගිරි ලිපි හා ටැම් ලිපිවල සඳහන් ව තිබේ.

අශෝක රජතුමා ධර්මප්‍රචාරය සඳහාත් රට වැස්සන් ධර්මානුකූල ජීවිතය හුරු කිරිමටත් වෙනම දෙපාර්තමේන්තුවක් පිහිටු වීය එහි නිළධාරි මණ්ඩලය හැඳින්වුණේ **ධර්ම මහාමාත්‍ර** නමිනි. ඔවුන්ට තිබුණු රාජකාරිය නම් ඕනෑම ආගමක ඕනෑම පන්තියක ජනයාට පමණක් නොව රජ පවුලේ අයට පවා ධර්මය පිළිබඳ දැනුමක් ලබා දීම යි.

බෞද්ධ ධර්මයේ අසූ හාරදහසක් ධර්මස්කන්ධ සිහිවීම සඳහා ගම් නියම් ගමවල අසූ හාර දහසක් වෙහෙර විහාර ඉදි කරවන ලදි. එයින්

අගනුවර වූ පාටලි පුත්‍රයේ ඉදි කළ ප්‍රධාන ආරාමය අශෝකාරාමය නම් විය. නිතර වන්දනා චාරිකවේ ගිය එතුමා බුදු උපත සිදු වූ ලුම්බිණිය, බුදු වූ බුද්ධගයාව, දම්සක් දෙසූ සාරානාත්හි ඉසිපතනය, පිරිනිවන් පා වාදළ කුසිනාරාව යන ස්ථානවල එම සිදු වීම් සටහන් කොට ගල් ටැම් පිහිටුවා ආරාක්ෂාව ද සැලසීය .අදත් ඒ තැන්වල එම ටැම් ලිපි දක්නට ලැබේ.

අශෝක රජතුමා බෞද්ධයකු වූ පසු අනෙක් ආගමිකයන්ට වඩා භික්ෂු සංඝයාට ලැබෙන පහසුකම් වැඩි විය. මේ නිසා වෙනත් ආගමිකයෝ සිවුරු පොරවාගෙන භික්ෂූන්වහන්සේ ලා ලෙස පෙනී සිටින්නට පටන් ගත්හ. මෙයින් භික්ෂූන් වහන්සේලාට එකතු වී පොහොය කිරීම වැනි විනය කර්ම කිරීමට නොහැකි විය. රජ මාලිගයේ නිතර භික්ෂූන් වහන්සේ නමක් වැඩමවා ධර්ම දේශනා කිරීමේ සිරිතක් තිබුණි. එසේ ධර්ම දේශනාවලට යන නිකම් සිවුරු පොරවාගත් අන්‍ය ආගමිකයෝ තමන්ගේ අදහස් බුදුදහම ලෙස දේශනා කරන්නට වුහ. ධර්ම දේශනාවල මේ පරස්පරය රජතුමාට දැනිණි. එයට හේතුව කුමක් දැයි රජතුමා එවකට සංඝයා අතර ප්‍රධානත්වය ඉසිලූ මොග්ගලි පුත්තතිස්ස තෙරුන්ගෙන් විමසී ය. එවිට උන්වහන්සේ අන්‍ය තීර්ථකයන්ගෙන් වන හානිය හෙළි කළහ. ඒ අනුව ක්‍රියාත්මක වූ රජතුමා ඒ අන්‍යාගාමික භික්ෂූන් හැට දහසක් රාජ නියෝගයෙන් සසුනෙන් නෙරපා දැම්මේ ය.

අසූ හාර දහසක් වෙහෙර විහාර ඉදිකළ අශෝක රජතුමා තමා දැන් සාසනයේ හිමි කරුවෙක් දැයි මොග්ගලීපුත්තතිස්ස තෙරුන්ගෙන් විමසී ය. එවිට ''මහරජ, තවම නැතැ"යි උන්වහන්සේ වදාළහ. එසේ නම් සාසනයේ හිමිකරුවෙකු වන්නේ කෙසේදැයි රජු විමසීය. ඒ සඳහා තම දරුවෙකු පැවිදි කළ යුතු යැයි උන්වහන්සේ පැවසුහ. දරුවකු පැවිදි කිරිමේ ආශාව උපන් රජතුමා. තමා අසල සිටි මහින්ද කුමරු දෙස බැලීය. පිය රජු විමසන්නටත් පෙර '' මම පැවිදි වෙමි'' යි කියා කුමරු ඉදිරිපත් විය. මහින්ද කුමරු රජුගේ අවසරයෙන් මොග්ගලි පුත්ත තිස්ස තෙරුන් වෙත පැවිදිව පසුව රහත් විය. උන්වහන්සේගේ එක කුස උපන් සොහොයුරියක වු සංඝමිත්තා කුමරිය ද පියාගෙන් අවසර ගෙන මෙහෙණි සාසනෙහි පැවිදිව රහත් වුවා ය. මේ දෙදෙනා ම අශෝක රජු රජ වන්නට පෙර පාලනය කළ අවන්ති දේශයේ දී ආවාහ කරගෙන සිටි වේදිස දේවියගේ දරුවෝ ය.

අන්‍ය තිර්ථකයන් විසින් ධර්මය විකෘති කිරීම නිසා සැබෑ ධර්මය ඉස්මතු කර ගැනීමට සංගායනාවක් පැවැත් වීම අවශ්‍ය විය. මේ බව මොග්ගලි පුත්ත තිස්ස තෙරණුවෝ රජතුමාට දන්වූහ. රජතුමා ඉතා කැමැත්තෙන් ඉදිරිපත් විය. එතුමාගේ පූර්ණ දායකත්වයෙන් පැළලුප් නුවර අශෝක රාමයේදී ධර්ම සංගායනාව පැවැත් වුණි. එයට දහසක් රහතන් වහන්සේලා සහභාගී වූහ. තුන්වන ධර්ම සංගායනාව නමින් හැඳින්වෙන්නේ එය යි.

සංගායනාවෙන් පසු අවට රටවල්වලට ධර්මය බෙදා දෙන්නට රජතුමා තීරණය කළේ ය. ඒ අනුව රටවල් නවයක් තෝරාගෙන ඒවාට විශේෂ ධර්ම දූත කණ්ඩායම් පිටත් කර යවන ලදි. ශ්‍රී ලංකාව ද එයින් එකකි. අනාගතයේදී බුදු සසුන ඉතිරි වන්නේ ලංකාවේ බව බුදුරජාණන් වහන්සේ ශක්‍ර දේවේන්ද්‍රයා ට වදාරා තිබිණි. මේ බව මොග්ගලි පුත්ත තිස්ස තෙරුණුවෝත් අශෝක රජතුමාත් දැන සිටිය හ. එනිසා රටවල් නවයට ම යැවූ පිරිස්වලට වඩා සුවිශේෂ රාජකීය දූත පිරිසක් ලංකාවට එවන ලදී. මිහිඳු හිමියන් රජතුමා ගේ පුත්‍රයා ය. භණ්ඩුක උපාසක තුමා බෑණා ය. සුමන සාමණේරයන් වහන්සේ මුණුබුරා ය. මෙරට මෙහෙණි සස්න ආරම්භ කරන්නට උවමනා යැයි දැන්වූ විට ඒ සඳහා එවන ලද්දේ ද තමාගේ ම දියණිය වූ සංඝමිත්තා මෙහෙණින් වහන්සේ ය. ඒ සමග විශේෂ පූජනීය වස්තුවක් ලෙස අදත් වැජඹෙන ශ්‍රී මහා බෝධීන් වහන්සේ ද අශෝක රජතුමා ලංකාවට ප්‍රදානය කළේ ය.

මෙසේ ධර්මාශෝක රජතුමා බුද්ධාගම ලෝක ආගමක් බවට, ජාත්‍යන්තර ආගමක් බවට පත් කළේ ය. තව ද ජයග්‍රහණයේ හිණිපෙත්තට පැමිණ දිග්විජය අත්හළ, ලෝක ඉතිහාසයේ එකම රණ ශූරයා ලෙස ද, බුදු දහම ලොව පතුරුවාලීමේ පුරෝගාමියා ලෙස ද ධර්මාශෝක රජතුමා ඉතිහාසයේ බබළන්නේ ය.

**අභ්‍යාස**

01. ධර්මාශෝක රජතුමා බුදු සසුනට කළ මෙහෙවර ලැයිස්තුවක් ලෙස පිළියෙල කරන්න.

02. බුදු සසුනේ දියුණුවට වැඩ කළ වෙනත් රජවරු පස් දෙනෙකු නම් කොට ඔවුන් කළ මෙහෙවර සැකෙවින් සඳහන් කරන්න.

# 14 බෝසත් සෙවනැල්ල වන් යසෝධරා තෙරණියෝ

යසෝධරා දේවිය බෝසතාණන් වහන්සේ සමග ම සසර පෙරුම් පුරාගෙන ආ පිනිවන්තියකි. ඇය පෙරුම් පිරීම ඇරඹුවේත් දීපංකර සම්බුදු පාද මූලයේදී ම යි. ඒ කාලයේ ඇය සුමිත්තා නම් බ්‍රාහ්මණ කුමාරිකාවක්. බුදුරදුන් වැඩ පුදා ගන්නට රම්මවතී නුවර මග දෙපස රැස් කකා සිටි සෙනඟ අතර ඇයත් එදා මහනෙල් මල් අට මිටකුත් දෝතින් දරාගෙන සිටියා ය. සුමේධ තාපසයන් වහන්සේගේ අසිරිමත් ජීවිත පූජාව දැක ඇයට එතුමා ගැන මහත් ගෞරවයක් ඇති වුණා. එතුමාට දෙන්නට වෙන කිසිවක් නොතිබූ නිසා මහනෙල් මල් මිටි පහක් දී " ස්වාමීනි, ඔබවහන්සේ මේ මල් වලින් බුදුරදුන් පුදනු මැනවි. මම මේ මල් මිටි තුනෙන් බුදුන් පුදන්නෙමි. එවිට ඔබ වහන්සේගේ බුදුවීමේ පැතුම වාගේ ම ඊට උපකාරවීමේ මගේ පැතුමත් ඉටුවනු ඇතැයි " පැවසුවා. යසෝධරාව බෝසතුන්ට සහාය වීමට තීරණය කළේ එලෙස යි.

එදා ඇයගේ පින් මහිමය බලා වදාළ දීපංකර බුදුරජාණන් වහන්සේ සුමේධ තවුසාණන් අමතා "තවුසාණෙනි, මැය ඔබ හා සම සිතින් පින් දහම් කරමින්, ඔබ යන ගමනට සහායිකාවක් වෙනවා. ඔබට ප්‍රිය මනාප වූ ඔබේ යහපතට ම කැපවන තැනැත්තියක් වෙනවා යැ'යි වදාළා. එතැන් පටන් එතුමිය බෝසතාණන් වහන්සේ උදෙසා සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් තිස්සේ කළ පින් දහම් අනන්ත යි. කළ කැප කිරීම් අප්‍රමාණයි. ඒ වාගේ ම බෝසතාණන් වහන්සේ ඇය අනුන්ට උපකාර වශයෙන් දන් දුන් වාර, බොහොමයි. ඒහෙත් ඒ කිසිවිටකත් ඇය උන්වහන්සේ ගැන අහිතක් හිතුවේ නැහැ. උන්වහන්සේගේ ප්‍රාර්ථනාව වෙනුවෙන් කැමැත්තෙන් ම ඒ සියලු දුක් ඉසිලුවා. අවසාන වෙස්සන්තර ආත්ම භාවයේ දීත් මන්ද්‍රී දේවිය වුණේ එතුමිය යි. එදත් වෙස්සන්තර රජතුමා ඇයව දන් දුන් බව ඔබට මතක ඇති.

මෙසේ අප මහා බෝසතාණන් වහන්සේ සමග එකට ම සසර මග ගෙවා ගෙන ආ එතුමිය කිඹුල්වත් නුවර සිදුහත් කුමරු උපන්

දවසේ ම මහාමායා දේවියගේ උපන් බිම වූ දෙව්දහ නුවර දී උපන්නා. ඇගේ පියා **සුප්පබුද්ධ රජතුමා** මව **අමිතා දේවිය යි**. යසෝධරා කුමරියට එක් සොහොයුරෙක් සිටියා. ඒ තමයි කවුරුත් හඳුනන දේවදත්ත කුමාරයා. යසෝධරා කුමරිය මනා රූ සපුවකින් යුතු නිසා බිම්බා නමින් ද සිරුර රන් වන් පාට නිසා භද්දකාඤ්චනා හෙවත් **භද්දකච්චානා** නමින් ද ප්‍රසිද්ධ වුණා.

## බෝසතුන් හා විවාහ වීම

තුරුණු වියට පත් බෝසත් සිදුහත් කුමාරයාට සුදුසු කුමරියක සරණ පාවා දෙන්නට සුද්ධෝදන රජ තුමාට උවමනා වුණා. එහෙත් සිදුහත් කුමාරයා විවාහ ජීවිතයකට කැමති වුණේ නැහැ. කම් සැප විඳීම පිළිකුල් කළ එතුමාට ඕනෑ වුණේ වන ගත වීමටයි. ඒත් පිය රජතුමාගෙන් ඊට අවසර නොලැබෙන බව එතුමා දැන ගෙන හිටියා. ඒ නිසා ආවාහය නොකෙරෙන්නට උපක්‍රමයක් යෙදුවා.

තමාට කුමරියක් පාවා දෙනවා නම් ඇය රූප මදයෙන් මත් නොවුණු, මසුරු නැති, මානය, කෝපය, කපටිකම, ඊර්ෂ්‍යාව, වංකකම යන දුර් ගුණයන්ගෙන් තොර පති භක්තිය ඇති තැනැත්තියක විය යුතුයි. රසයට කෑදර නැති, නැටුම් ගැයුම් වැනි ගාලගෝට්ටිවලට, සුවඳ විලවුන් වැනි දේට ගිජු නැති, අන්සතු දේට ආශා නොකරන, ඇත්ත කියන, සැපතේ දී උඩඟු නොවෙන, විපතේ දී නොතැවෙන, විලි බිය ඇති, සුභාසුභ නිමිති නො අදහන, කෙනෙකු විය යුතුයි. නිතර ම තුන්දොර පිරිසිදුව රකින, අලස කම් කුසීත කම්වලින් තොර, විමසා බලා කටයුතු කරන, නැදිමයිලන්ට දෙවියන්ට මෙන් ගරු කරන, දාසියක සේ යටහත්, මවක සේ කාරුණික කුමරියක ලැබුණොත් පමණක් විවාහයට එකඟවන බව සිදුහත් කුමරු කියා සිටියා.

සුද්ධෝදන රජතුමා ඒ කොන්දේසි පත්‍රයට ගැළපෙන කුමරියක් සොයන්නට දූතයන් රටින් රට යැව්වා. අවසානයේ දී ඔවුන් දෙව්දහ නුවර සුප්ප බුද්ධ රජතුමාගේ මාලිගයට පැමිණියා. එහි දී මේ තොරතුරු පත්‍රය කියවූ යසෝධරා කුමරිය. බමුණාණෙනි, "මේ කියන හැම ගුණයක් ම මා ළඟ ඇත. සිද්ධාර්ථ කුමාරයන් මාගේ ස්වාමියා වේවා යි එතුමාට කියන්නැ"යි දූතයන්ට පැවසුවා. ඔවුන් පෙරළා කිඹුල්වත් නුවර ගොස් ඒ පුවත සුදොවුන් රජතුමාට දැන්වුවා. රජතුමා එක් වර ම ඒ බව නොකියා කුමාරයාට ම කැමති කුමාරිකාවක් තෝරා ගන්නට ස්වයංවර උළෙලක් පැවත් වූවා. එම උත්සවයට

යසෝධරාවත් තවත් සියගණනක් කුමාරිකාවෝත් පැමිණ සිටියා. ඒ අතුරින් සිදුහත් කුමාරයා කවුරුදැයි නොදන ම තොරාගත්තේ යසෝධරා කුමරිය යි. එහෙත් සුප්පබුද්ධ රජතුමා ඒ විවාහයට කැමැති වූයේ නැහැ. ඊට හේතුව සිදුහත් කුමරු කිසි ශිල්පයක් නොදන්නේ යැයි කා තුළත් පැවැති සැකය යි. අන්තිමේ දී කුමරු ශිල්ප දක්වීමෙන් පසු ඥාති රජවරු තම දූ කුමරියන් කුමරුට පවා දීමට කැමති වුණා. සිදුහත් කුමරු ගැන උපදින විට ම බමුණන් කියූ අනාවැකියක් තිබුණා. ඒ එතුමා කවදා හෝ ගිහිගෙය හැර යන බවයි. එය සිහිපත් කළ සුප්ප බුද්ධ රජතුමා ''කුමරු ගිහි ගෙය හැර ගිය දාට ඔබ කනවැන්දුම් වෙනවා. ඒ නිසා ඔය විවාහය කර ගන්න එපා '' යැයි යසෝධරාවට කීවා. ඒත් ''පියාණෙනි, මා සරණ යතොත් යන්නේ සිද්ධාර්ථ කුමාරයන් සමග ය, එතුමා හෙට පැවිදි වුණත් එතුමා ළඟ මිස වෙනත් කෙනෙකු ළඟ නොවසන්නෙමි'' යි එතුමිය එක හෙළා කියා සිටියා. සිද්ධාර්ථ කුමාරයා පැවසුවේත් තමා යසෝධරා මිස වෙන කිසි කෙනෙකු සරණ පාවා නොගන්නා බව යි. අන්තිමේ දී දෙපැත්තේ ම නෑයන්ගේ කැමැත්තෙන් සරණ මංගල්‍යය මහ ඉහළින් සිදු වුණා. සුද්ධෝදන රජතුමා දෙදෙනාට ම එකවර කිරුළු පළඳවා ශාක්‍ය රටේ රජකම පැවරුවා.

සසර එකට ආ ගමනින් ඇති වූ ස්නේහය නිසා එකතු වීමට කැමැති වුණත් මේ දෙදෙනාට ම කම් සැප ගැන ආශාවක් තිබුණේ නැහැ. සෙනෙහෙබර සොහොයුරු සොහොයුරියන් දෙදෙනෙකු මෙන් ඔවුනොවුන්ට ලැදිව උපකාර කර ගෙන කල් ගෙව්වා. යසෝධරාවන් රජ ගෙදරට එන්නට පෙර සේවක සේවිකාවන්ට වෙනස් ආකාරයකට සැලකූ සැළකිලි එතුමිය වෙනස් කළා. රජ පවුලේ අයට දෙන රාජ භෝජනය ම ඔවුන්ටත් දෙන්නට සැලැස්සුවා එතැන් සිට ඔවුන් සැලකුණේ රජපවුලේ හිතමිතුරන් ලෙසටයි. රජ ගෙදර අය පමණක් නොව රට වැසියාත් යසෝදරාවගේ කරුණා ගුණය ගැන පැහැදී සිටියා. කිඹුල්වත් පුර වැසි සියල්ලෝ ම මවකට මෙන් ඇයට මහත් ආදර ගෞරව දැක්වුවා.

රජමාලිගාව කොතරම් සැප සම්පතින් පිරී තිබුණත් මේ දෙදෙනා විසුවේ තවුසෙක් හා තවුසියක විදියට යි. කවදා හෝ ගිහිගේ හැර ගොස් පැවිදි විය යුතුය යන්න දෙදෙනාගේ ම අදහස වුණා. ඒ නිසා විවාහ වී වසර දහතුනක් යන තුරු ඔවුනට දරුවෙක් සිටියේ නෑ. යසෝධරා දේවියගේ කුසේ දරුවකු පිළිසිඳ ගත්තේ බෝසතාණන් වහන්සේගේ විසි අට වෙනි වියේ දී එය සිදු වුණේත් රජ පරපුර පැවතිය යුතු නිස යි. යසෝධරා දේවියට දරුවා බිහිවූ දිනයේ ම සිදුහත්

කුමරු ගිහිගෙය හැර ගියා **අභිනිෂ්ක්‍රමණය** කියන්නේ එයයි. උපන් දරුවාට රාහුල යන නම තැබුවා. එතැන් පටන් එතුමිය රාහුල මාතා නමිනුත් හැඳින් වුණා.

තවුස් පැවිද්දෙන් පැවිදි වූ බෝසතාණන් වහන්සේ සය අවුරුද්දක් දුෂ්කර ක්‍රියා කළා. ඒ කාලය තුළ උන්වහන්සේ ජීවිතේ ගත කළ ආකාරය යසෝධරා දේවියට ආරංචි වුණා. ඒ තොරතුරු අසා උන්වහන්සේ බිම සැතපෙන නිසා ඇයත් ඇඳ පුටු පරිහරණය අත්හැරියා. උන්වහන්සේ කසාවත් හඳින නිසා ඇයත් සුවඳ විලවුන් ආදිය අතහැර කසාවත් හඳින්නට පටන් ගත්තා. උන්වහන්සේ කෙස්වැටිය සිඳ දැමූ බව අසා ඇයත් කෙස්වැටිය සිඳ දැමුවා. උන්වහන්සේ වගේ ම ඇයත් එක් වේලක් පමණක් ආහාර ගත්තා. මෙසේ තමන් තවුසියක සේ වෙසෙමින් රාහුල කුමරුත් රැකබලා ගත්තා.

බුදු වී නව මසකින් බුදුරජාණන් වහන්සේ කිඹුල්වත් නුවර වැඩියා. රජ මාලිගයට වැඩි උන්වහන්සේට වඳින්නට එහි සිටි සියලු දෙනා ම ආවත් යසෝධරා දේවිය ආවේ නැහැ. තමා ළඟ ගුණයක් ඇත්නම් උන්වහන්සේ තමන් සිටින තැනට වඩිනු ඇතැයි කියා තම මැදුරට ම වී සිටියා. කාරණය තෙරුම් ගත් බුදුරජාණන් වහන්සේ අගසවු දෙනමත් සමග ඇගේ මැදුරට වැඩියා. ඒ වෙලාවේ එහි වැඩහුන් උන්වහන්සේ වෙත දිව ආ එතුමිය සිරිපා මුල වැටී දෙපා අල්ලාගෙන බොහෝ වෙලාවක් කඳුළු සලමින් වැන්දා. ඇයට ඇති තරම් හඬන්නටත් වඳින්නටත් බුදුරජාණන් වහන්සේ ඉඩ දුන්නා ඒ වෙලාවේ සුදොවුන් රජතුමා බෝසතාණන් වහන්සේ ගිහි ගෙය හැර ගිය දවසේ පටන් ඇය උන්වහන්සේ වෙනුවෙන් ජීවිතේ කැප කළ ආකාරය විස්තර කරමින් ඇගේ ගුණ කීවා. එවිට බුදුරජාණන් වහන්සේ "මහ රජ මැය සසර අනන්ත වාරයක් මා වෙනුවෙන් මෙවැනි කැප කිරීම් සිදු කර ඇතැ"යි වදාරා "චන්ද කින්නර ජාතකය" දේශනා කළා.

ඉන් සත් වෙනි දවසේ විසි දහසක් රහතුන් පිරිවාරා මහ මඟ වඩින බුදුරදුන් දුටු යසෝධරාවට ගිහිව සිටියදී රජ කුමරෙකු වශයෙන් නගර සංචාරය කළාට වඩා අද බුදුරජාණන් වහන්සේ වඩින ගමන කොතරම් අසිරිමත් දැයි සිතුණා. තමාගේ රාහුල පුතුට උන්වහන්සේ පෙන්වා ගාථා අටකින් උන්වහන්සේගේ සිරුරේ හිසේ සිට පාදාන්තය දක්වා මහා පුරුෂ ලකුණු අපූරුවට විස්තර කළා. නරසීහ ගාථා කියන්නේ ඒවායි. ඉන් පසු සිය පුතණුවන් පියාගෙන් දායාද ඉල්ලගෙන එන්නැයි බුදුරජාණන් වහන්සේ වෙත පිටත් කර යැව්වා. එදා උන්වහසේ රාහුල කුමරුන් පැවිදි කළා.

බුදුරජාණන් වහන්සේ රජගෙදරට වැඩි පළමු දවසේ ම යසෝධරා දේවියත් මහණවෙන්න කැමැති වුණා. තව ම මෙහෙණි සස්නක් ඇරඹී නැතැයි කියා උන්වහන්සේ එය වැළැක්වූවා. රාහුල කුමරුන් පැවිදි වූ පසු දරු සෙනෙහස දරා ගත නොහැකිව නැවතත් එතුමිය පැවිදි වෙන්නට සැරසුණා. එදා සුද්ධෝදන ජරතුමා වෙස්සනතර ආත්ම භාවයේ දී මන්ද්‍රී දේවිය වශයෙන් ඇය දරු දුක ඉහිලූ හැටි සිහිපත් කරමින් ඇය වැළැක්වූවා. බුදුවී වසර පහකට පසුව සුදෝවුන් රජු බුදුරදුන්ගෙන් බණ අසා රහත් වී පිරිණිවන් පෑවා. යසෝධරා දේවිය තුන්වෙනි වරටත් පැවිදිවන්නට සැරසුණා. එදා මහා ප්‍රජාපතී ගෝතමිය තමා කෙසේ හෝ කාන්තාවන්ට පැවිදි වන්නට අවරස ලබාගන්නා තුරු ඉවසන ලෙස කියා ඇය වැළැක්වූවා. ඒ වන විට ප්‍රජාපතී ගෞතමිය දෙවරක් ම කාන්තාවන්ට පැවිදිවන්නට අවසර ඉල්ලුවත් ඊට ඉඩ ලැබී තිබුණේ නැහැ.

අන්තිමේ දී මෙහෙණි සස්න ඇරඹුණා. එදා යසෝධරා දේවියත් මහා ප්‍රජාපතී ගෞතමිය ළඟ පැවිදි උපසම්පදාව ලැබුවා. නොබෝ කලකින් විදසුන් වඩා රහත් වුණා. එතුමිය සැවැත්නුවර වෙසෙන බව ආරංචි වී දැක බලා ගන්නට සෙනග වැළ නොකැඩී පැමිණියා. විවේකය මඳ වූ නිසා එතුමිය බුදුරදුන්ගෙන් අවසර ගෙන එතැනින් පිටත් වී විශාලා මහනුවර ප්‍රජාපතී ගෞතමීන් වහන්සේ ළඟට ගියා. එහිදීත් එතුමියට විවේකයක් ලැබුණේ නැහැ. දුර බැහැර සිට නොයෙක් රට රාජ්‍යවල වැසියන් පවා එතුමියට සත්කාර කරන්නට පැමිණියා. යසෝදරා තෙරණිය අනතුරුව එතැනින් පිටත් වී රජගහ නුවරට පැමිණියා. එහි දීත් ලක්ෂ ගණන් ජනයා බුදුරදුන් වැඩියා සේ එතුමිය බැහැ දැක වැඳ පුදා ගත්තා. මෙසේ බෝධිසත්වයන් වහන්සේ සමග පිරූ දාන පාරමිතා අනුහසින් යසෝධරා රහත් මෙහෙණින් වහන්සේටත් පිරිවරින් හා ලාභ සත්කාරයෙන් අඩුවක් තිබුණේ නැහැ.

යසෝධරා තෙරණියට එක වර අසංඛ්‍ය කල්ප ලක්ෂයක් දුර අතීතය සිහි කිරීමට හැකි විශේෂ ඥානයක් තිබුණා. ගෞතම බුදුසසුනේ එවැනි අභිඥාවක් ලැබූ අය සිව් නමක් සිටියා එනම් සැරියුත් මහ රහතන් වහන්සේ, මුගලන් මහරහතන් වහන්සේ, බක්කුල මහරහතන් වහන්සේ සහ යසෝධරා මහරහත් මෙහෙණින් වහන්සේ ය. ඒ නිසා එතුමිය මහා අභිඥා නුවණ ඇති භික්ෂුණී අතර අග තනතුරු ලැබුවා.

වියපත් වූ යසෝධරා මෙහෙණින් වහන්සේ බුදුරජාණන් වහන්සේගේ හෝ රාහුල රහතන් වහන්සේගේ පිරිනිවීම දකින්නට කැමැති වුණේ නැහැ. ඒ නිසා ඒ දෙදෙනා වහන්සේට පෙර තමන් පිරිනිවන් පෑයුතු යැයි තීරණය කළා. හැත්තෑ අට වන වියේ දී බුදුරජාණන් වහන්සේ වෙත ගිය එතුමිය උන්වහන්සේ වැඳ තමාගේ ගෞරවය දක්වා, සසර පුරා ආ ගමනේ විශේෂ තැන් සිහිපත් කළා. අනතුරු ව තමාට නිවන් දකින්නට මග පෙන්වීම ගැන කෘතඥතාව ද පළ කළා. ඒ සියල්ල නිම වී උන්වහන්සේ අබියස සෘද්ධි ප්‍රාතිහාර්ය පෑවා. අනතුරුව වැඳ අවසර ගෙන ගොස් පිරිනිවන් පෑවා. බුදුරාජාණන් වහන්සේ මහසඟරුවන සමග වැඩම කොට එතුමියගේ සිරුරට රහතන් වහන්සේ නමකට කරන ගරු බුහුමන් පවත්වා ඇයගේ ආදාහන ද සිදු කරවා වදාළා. එතුමියගේ ශාරීරික ධාතු තැන්පත් කොට සෑයක් ඉදිකරවා උන්වහන්සේ එයට සියතින් ම මල් පිදුවා.

හිමයේ ගොසින් මල් යහනක නිදනවද
කෝමළ අනගි සිරිපා දෙක රිදෙනවද
හිගේ නැතිව දෙවියෝ මුර කරනවද
මගේ ඇත් රජුනි හිමි අද කොතැනකද
(යශෝධරාවත)

## අභ්‍යාස

01. යසෝධරා දේවියගේ දෙමාපියන් කවුද?

02. යසෝධරා දේවිය ළඟ තිබූ ගුණ පහක් ලියන්න.

03. එතුමිය ලැබූ අග තනතුර විස්තර කරන්න.

04. චන්ද කින්නර ජාතකය හදාරා පන්තිය හමුවේ ඉදිරිපත් කරන්න.

# 15 බුදු පුතුන් රකින බොදු මව්වරු

කොසොල් රටට අයත් එක්තරා ප්‍රදේශයක කන්දක් පාමුල මාතිගාම නම් ජනගහනයෙන් පිරි ගමක් තිබුණා. ඒ ගමේ ගම් ප්‍රධානියාගේ නම මාතික. ඔහුගේ මවත් මාතික මාතා නමින් ප්‍රසිද්ධව සිටියා. වරක් භික්ෂූන් වහන්සේලා හැට නමක් බුදුරදුන්ගෙන් කමටහන් ලබාගෙන වස්විසීමට තැනක් සොයා පිටත් වුණා. එසේ යන අතර මේ මාතික ගමට වැඩි උන්වහන්සේලා එහි පිඬු සිඟා වැඩියා. භික්ෂූන් වහන්සේලා දැක පැහැදුණු මාතික මාතා උන්වහන්සේලා සියලු දෙනා සිය ගෙට වැඩමවා ප්‍රණීත ආහාරයෙන් වැළඳෙව්වා. වළඳා අවසානයේ ඔබ වහන්සේලා කොහි වඩින්නාහුදැයි ඇය විමසුවා. තමන් වස් විසීමට තැනක් සොයන බව උන්වහන්සේලා පැවසුවා. '' ස්වාමීනි, මේ ගමේ වස් වසනු මැනවි. එවිට අපටත් පන්සිල් රකින්නට අටසිල් රකින්නට පින් දහම් කරගන්න හැකි වේ'යැයි කියා එතුමිය වස් ආරාධනා කළා. භික්ෂූන් වහන්සේලා එය කරුණාවෙන් පිළිගත්තා.

ඇය පිළියෙල කර දුන් විහාරයෙහි වස් විසූ භික්ෂූන් වහන්සේලා පළමු දවසේ ම එක් රැස්වී මෙසේ කතිකා කර ගත්තා. '' අවැත්නි අප ප්‍රමාද වීම නුසුදුසු ය. ප්‍රමාද වන අපට අට මහා නරකය අපේ ම ගෙවල් මෙන් දොරවල් විවෘත කරගෙන සිටියි. අපි ජීවමාන බුදුරදුන්ගෙන් කමටහන් ගෙන මෙහි ආවෙමු. බුදුවරු නම් කපටි කමින් රැවටිය හැක්කෝ නොවෙති. නිසි පිළිවෙතින් සැබෑ දෙයින් ම සතුටු වන්නෝ වෙති. ඒ නිසා නොපමා වන්න. දෙදෙනෙකු එක් තැන නො විසිය යුතු ය. සවස වැඩි මහලු ඇත්තන්ට උපස්ථාන කරන වේලාවේත් උදෑසන පිඬු පිණිස යන වේලාවේත් පමණක් මුණ ගැසෙමු. රෝගී වූ කෙනෙකු ගෙඩිය ගැසූ විට සියල්ලන් පැමිණ උපස්ථාන කරමු".

මෙසේ කතිකා කරගෙන උන්වහන්සේලා මහණ දම් පුරති. උපාසිකාව හවස් වරුවේ ගිලන්පස ද රැගෙන විහාරයට ගියා ය. භික්ෂූන් වහන්සේලා පෙනෙන්ට නැත. එහි සිටි මිනිසුන්ගෙන් විමසූ විට උන්වහන්සේලා වහන්සේ වෙන වෙන ම විවේක තැන්වල ය. ගෙඩිය ගැසූ කල රැස්වෙනු ඇතැයි

කීවෝ ය. ඇය ගෙඩිය ගැසුවා ය. භික්ෂූන් වහන්සේලා කාට හෝ අපහසුවක් ඇතැයි සිතා එහි වැඩියෝ ය. එවිට මාතික මාතා උන්වහන්සේලා වැඳ "ස්වාමීනි, දෙනමක් එක් මගකින් එනු පෙනුණේ නැත. ඔබ වහන්සේලා භේද වී සිටින බවක් පෙනෙනවා කුමක් හෝ ආරවුලක් දැ"යි ඇසුවා ය. එවිට උන්වහන්සේලා අප වෙන වෙන ම හිඳිමින් මහණ දම් පුරනවා' යැයි පැවසුවා. මහණදම් නම් කුමක් දැයි උපාසිකාව ඇසුවා. '' උපාසිකාවනි, ද්වත්තිංසාකාරය මෙනෙහි කරමින් මෙම ශරීරයේ දිරාපත් වීම නැසී යාම සලකා බලමින් විසීම අපේ කමටහන යි. එය අපේ මහණකම '' යැයි උන්හන්සේලා පැවසුවා. එවිට මාතික මාතාව '' ස්වාමීනි, ඒ කමටහන් අපට නුසුදුසු දැ'යි ඇසුවා. එය වැඩීමට කිසිවෙකුට බාධාවක් නැතැයි කී විට '' එසේ නම් අපටත් ඒ කමටහන දෙන්නැ'යි ඇය ඉල්ලා සිටියා. උන්හන්සේලා ඇයට ඒ කමටහන ඉගැන්නුවා. එතැන් පටන් ද්වත්තිංසාකාරය සජ්ඣායනා කරමින් ශරීරයේ දිරාපත් වී යාම, නැසී යාම මෙනෙහි කළ මාතික මාතා භික්ෂූන් වහන්සේලාට පෙර අනාගාමි ඵලයට පත් වුණා. එතුමිය ඒ සමග ම දිවැස්, දිව කන්, පරසිත් දන්නා නුවණ වැනි අභිඥාවන්ටත් පත්වුණා.

මාර්ග ඵල සමාපත්තියෙන් නැගිට දිවැසින් බැලූ එතුමියට තමාගේ බුදු පුතුන් තවම කිසි මග පලයක් නොලැබූ බව වැටහුණා. ඊට හේතු මොනවාදැයි බැලූ ඇයට රහත් වීමට වුවමනා කරන සේනාසන පහසුව ආහාර පහසුව සහ උපස්ථායක පුද්ගලයන්ගේ පහසුව ප්‍රමාණවත් නොවන බව වැටහුණා. ඇය ඒ සියලු දේවල් උන්වහන්සේලාට ගැලපෙන පරිද පිළියෙල කර දුන්නා. දිවසින් බල බලා උන්හන්සේලාගේ සිතේ හැටියට ආහාර පාන බේත් හේත් ආදී පහසුකම් සැලසුවා. හිතකර පහසුකම් නිසා උන්වහන්සේලාගේ සිත එකඟ වුණා. සියලු දෙනා වහන්සේ වස් අවසන් වන විට විදර්ශනා වඩා සිවුපිළිසිඹියාපත් රහතන් වහන්සේලා බවට පත් වූණා. වස් අවසානයේ මාතික මාතාවට මුවනොසෑහෙන තරම් ස්තුති කොට පින් අනුමොදන් කළ උන්වහන්සේලා බුදුරජාණන් වහන්සේ දකිනු පිණිස පිටත් වුණා. උපාසිකාව පසු ගමන් කොට නැවතත් ඒ ගමට වඩිනු මැනැවයි ඇරයුම් කොට සමුගෙන නැවතුණා.

ඒ භික්ෂූන් වහන්සේලාත් සැවැත් නුවරට ගොස් බුදුරදුන් බැහැ දැක වැඳ එකත්පසෙක හිඳගත්තා. බුදුරජාණන් වහන්සේත් '' කෙසේ ද? මහණෙනි, වස් කාලය පහසුවෙන් විසුවා ද? යැපීමට තරම් පිණ්ඩපාතාදිය ලැබුණා ද? දුකක්

පීඩාවක් නොවී ද'යි විමසුවා. එවිට උන්වහන්සේලා '' ස්වාමීනි, අපට කිසි අපහසුවක් වුනේ නැහැ මාතික මාතා නම් උපාසිකාව අපේ අදහස් දැනගෙන අපේ හිතේ හැටියට ආහාර පාන බෙත් හේත් සපයමින් උවටැන් කළා යැ'යි ඇගේ ගුණ ප්‍රකාශ කළා. එක්තරා භික්ෂූන් වහන්සේ නමකට ද මේ ගුණ කථාව අසන්නට ලැබුණා. මාතික මාතාවගේ සැලකුම් ලැබීමට කැමැත්තෙන් උන්වහන්සේත් බුදුරදුන්ගෙන් කමටහන් ලබා ගෙන උන්වහන්සේගෙන් අවසර ද ගෙන ඒ ගමට වැඩියා. වැඩි දවසේ ම උන්වහන්සේට විහාරය අතුපතු ගා ගන්නට කෙනෙකු ඕන වුණා. ඒ බව දිවසින් දුටු මාතික මාතාව ඒ සඳහා මිනිසෙකු එව්වා. බොන්නට දෙයක් ගැන සිතුවිට එය ද ලැබුණා. පසුදා උදෑසන ම කට දැවිල්ලකුත් සමග සිනිඳු කැඳක් ඇත්නම් හොඳයැයි සිතුණා. නොබෝ වෙලාවකින් එය ද ලැබුණා. මේ සියල්ල ලැබුණු විට ඒ මාතාව දකින්නට ඇත්නම් හොඳ යැයි සිතුණා. තමාගේ බුදුපුතු අද තමා දකිනු කැමැත්තෙන් සිටිතියි දැනගත් එතුමිය මිහිරි බොජුන් ද පිළියෙල කරගෙන පැමිණ උන්වහන්සේ බැහැ දුටුවා. ඒ භික්ෂූන් වහන්සේත් දන් වළඳා අවසානයේ '' උපාසිකාවෙනි, මාතික මාතා නම් ඔබ දැයි විචාළා. දරුව, එසේ යැයි ඇය කීවා. ඔබ අනුන්ගේ සිත දන්නවා ද'යි උන්වහන්සේ ඇසුවා. එසේ අසන්නේ ඇයි දැයි විමසූ විට තමා සිතූ පැතූ සියල්ල ඇය ඉටු කළ නිසා යැයි කීවා. එවිට ඕතොමෝ '' දරුව, පරසිත් නොදන්නා අයත් මෙසේ කරනවා ද'යි පරසිත් දන්නා බව නොකියා කීවා.

ඒ ඇසීමෙන් භික්ෂූන් වහන්සේට මහත් බියක් ඇති වුණා. '' පුහුදුන් අප හොඳ දේත් නරක දේත් සිතෙනවා. මෙතුමියට ඒ සිල්ල දැනෙනවා. යම් විදියකින් මගේ සිතට අයුතු සිතිවිල්ලක් ආවොත් බඩුත් සමග සොරු කෙස්වල්ලෙන් අල්ලාගත්තා වාගේ මා ඇයට හසුවෙනවා. මෙය මට මහ දුකක්. මෙතනින් මා පලා යා යුතු ය'යි උන්වහන්සේට සිතුණා. ඒ සිතත් දැනගත් එතුමිය' ඔබ කොහි යන්නේ ද'යි විමසුවා. '' උපාසිකාවෙනි, බුදුන් හමුවට යමි"යි කීවා. ස්වාමීනි මෙහි වසනු මැනවැ'යි ඇය පෙරත්ත කරද්දීම උන්වහන්සේ පිටත්ව ගොස් බුදුරදුන් බැහැ දුටුවා. එවිට බුදුරජාණන් වහන්සේ '' මහණ, ගිය ගමන් ම ආපසු ආවේ මන්ද'යි විමසුවා. '' ස්වාමීනි, ඒ උපාසිකාව අප සිතන සියල්ල ම දන්නවා. නරක දෙයක් සිතුණත් ඇයට දැනෙනවා. ඒ නිසා බියෙන් පැමිණියෙමි'යි උන්වහන්සේ කියා සිටියා. එවිට බුදුරජාණන් වහන්සේ මහණ, වඩා හොඳ, ඔබ එහි ම සිටියා නම් යැයි වදාළා ඒත් උන්වහන්සේ අපහසු යැයි කී විට මහණ, ඔබට එක දෙයක් රැකිය හැකි දැයි උන්වහන්සේ ඇසුවා. ඒ

කුමක් ද'යි විමසූ විට සිත පමණක් රකින්නැයි වදාරා රැකීමට අපහසු සිත රැකීමයි හොඳ, නිග්‍රහ කොට දොස් දැකීමට අපහසු සිතට නිග්‍රහ කිරීමයි ඔබ කළ යුත්තේ. ඔබ තමාගේ සිතට ම නිග්‍රහ කර ගන්න වෙන කිසිවක් නොසිතන්න.

දුන්නිග්ගහස්ස ලහුනො - යත්ථ කාම නිපාතිනො
චිත්තස්ස දමථො සාධු - චිත්තං දන්තං සුඛාවහං

නිග්‍රහකොට දොස් කියා සකස්කර ගැනීමට පහසු නැති, වහ වහා ඉපදී නැසී යන, කැමති කැමති අරමුණුවල වැටෙන, මේ සිත දමනය කර ගැනිම යහපත් ය. එසේ දමනය කර ගත් සිත සන්සුන් වීමෙන් සැනසිලි සුවයත් මාර්ග ඵල ලැබීමෙන් නිවන් සුවයත් ගෙන දෙන්නේ ය.

බුදුරජාණන් වහන්සේ ඒ භික්ෂුවට මෙසේ අවවාද කොට උන්වහන්සේ මාතික මාතාවගේ විහාරයට ම පිටත් කර යැවූ සේක. එහි ගිය උන්වහන්සේ සිත දමනය කර ගෙන මහණදම් පුරන්නට වුණා. උපාසිකාවත් සුදුසු ගුරුවරයෙකුගෙන් සුදුසු අවවාද ලැබී මගේ පුතා ආපසු ආවේ යැයි සතුටු වී උන්වහන්සේගේ සිත හොඳින් දැන, උන්වහන්සේට සුදුසු සෙනසුන්, සුදුසු ආහාර, සුදුසු උපස්ථාන නිතර සැලසුවා. උන්වහන්සේ ඒ සියල්ල ලබා නොබෝ දිනකින් රහත් පලයට පත් වුණා.

## අභ්‍යාස

01. වැඩූ මව් අතහැර පැමිණි ඔබට දායිකා මව්වරුන්ගෙන් ලැබෙන මව් සෙනෙහස ගැන මව් ගුණ කථනයක් කරන්න.

02. මාතික මාතා කථාව ඇසුරෙන් බණක් පිළියෙල කර ගෙන බුද්ධ වන්දනා අවස්ථාවේ දී උපාසිකාවන්ට දේශනා කරන්න.

03. අපව රැකබලා ගන්නා දායක දායිකාවන්ට ඇසෙන දැනෙන මානයේ පමණක් නොව ඔවුන් නැති තැනැත් අප හැසිරිය යුතු අන්දම ගැන මෙම කථාවෙන් කියවෙන පාඩම කුමක් දැයි විස්තර කරන්න.

# 16 සන්සුන් ගමනින් ලොව ම සැනසූ පොඩි හාමුදුරුවෝ

ධර්මාශෝක රජතුමාගේ සොහොයුරන් සිය දෙනා අතර වැඩිමහලු සොහොයුරා සුමන නම් විය. එතුමාගේ දේවිය ද සුමනා නම් වූවා ය.

පියාගේ ඇවෑමෙන් රාජ්‍ය බලය ලබා ගැනීමට ගිය අශෝක කුමාරයාට ඒ සඳහා තම සොහොයුරන් සිය දෙනා සමග දරුණු සටනක යෙදෙන්නට සිදු විය. එහි දී ඒ සුමන කුමාරයා ද ඇතුළු සොහොයුරෝ අනූනව දෙනෙක් මිය ගියහ. මේ වන විට සුමනා දේවිය සිටියේ ගැබ්බරව ය. තම සැමියා මරණයට පත් වීම නිසා අසරණ වූ ඇය දිවි බේරා ගැනීම සඳහා පාටලී පුත්‍ර නගරයේ නැගෙනහිර දොරටුවෙන් පිටත තිබූ සැඩොල් ගමකට පලා ගියා ය. සැඩොල් ගමේ ප්‍රධානියාගේ නිවස තිබුණේ නුග ගසක් අසල ය. '' ගැබ්බර බවත් ගමන් පීඩාවත් නිසා ඉන් ඔබ්බට යාමට අපොහොසත් වූ ඇය ඒ නුග ගස මුල නැවතුණා ය. ඇගේ තත්ත්වය දුටු ගම් ප්‍රධානියා කුටියක් තනා ඇයට සුව පහසුව සැලැස්විය. එද රෑ ම සුමනා දෙවිය පුත් කුමරෙකු බිහි කළා ය. නුග ගස යට දී උපන් නිසා ඔහුට නිග්‍රෝධ යැයි නම් තබන ලදි.

ගම් ප්‍රධානියා දේවියත් පුත් කුමරාත් ඉතා ගරු බුහුමන් සහිතව ඒ වගේ ම රහසිගතව සත් අවුරුද්දක් ම රැක බලා ගත්තේ ය. මහා වරුණ නම් රහතන් වහන්සේ නිතර මේ ගමට පිඬු පිණිස වඩිති. මේ කුඩා කුමරුවා උන් වහන්සේට දැන් හොඳට හුරු පුරුදු ය. ලැදි ය. මේ දරුවාට රහත් වීමට වාසනාව ඇති බව උන්වහන්සේ කල් ඇතිව ම දැන සිටි නමුත් ඒ සඳහා සුදුසු කාලය එන තුරු ඉවසා සිටියහ. දරුවෙකු පැවිදි කිරීමට නම් අඩුම තරමින් කපුටෙකු වත් එළවා ගැනීමට හැකියාව තිබිය යුතු ය. හත් හැවිරිදි විය පැවිද්දට ප්‍රමාණවත් ය. එනිසා වරුණ තෙරණුවෝ සුමනා දේවියගේ ද අවසරය ලබාගෙන කුමරු මොග්ගලීපුත්ත තිස්ස තෙරුන් වෙත කැඳවා ගෙන ගියහ. උන්වහන්සේගේ උපාධ්‍යායත්වයෙන් හා වරුණ තෙරුන්ගේ ආචාර්යත්වයෙන් නිග්‍රෝධ කුමරු පැවිදි විය. පැවිදි වන්නටත් පෙර හිස බූ ගා අවසන් වෙත් ම කුමරු රහත් විය.

නිග්‍රෝධ සාමණේරයන් වහන්සේට දිනක් මෑණියන් දැක බලා ගන්නට සිතුණි. ඇය තවමත් වෙසෙන්නේ සැඩොල් ගමේ ය. උන්වහන්සේ වෙසෙන විහාරයේ සිට ඒ ගමට යාමට දකුණු දොරටුවෙන් නුවරට පිවිස, රජ වාසල ඉදිරියෙන් ගමන් කොට, පැළ දොරින් නික්ම යා යුතු ය. මේ අසෝක රජතුමා කාලිංග යුද්ධයෙන් සිදු වූ විපත් නිසා බලවත් චිත්ත පීඩාවෙන් ගත කරන කාලය යි. එතුමාට හරි හැටි නින්දක් නැත. ආහාර රුචියක් නැත. රාජකාරි කළත් සතුටකින් නොවේ. ඉඩ ලැබෙන හැම විටක ම හුදකලාව කල්පනා කරමින් ගත කරයි. එතුමාගේ සිත සනසන්නට මෙතුවක් අධිරාජ්‍යයේ කිසිවෙකුට හැකිවී නැත. ඒ දවසේත් එතුමා සිටියේ බටහිර දෙසට මුහුණලා තිබුණු සඳළුතලයේ සක්මන් කරමිනි.

නිග්‍රෝධ සාමණේරයන් වහන්සේ පිරිමඬුළු කොට සිවුරු හැඳ පොරවා පා සිවුරු ගෙන බිමට හෙලූ ඇස් ඇතිව, විය දඬු පමණ දුර බලමින් සන්සුන් ගමනින් වැඩම කරති. රජ මිදුල ඉදිරියෙන් ගමන් කරන මේ අපූරු කුඩා ශ්‍රමණ පුත්‍රයන් වහන්සේ එක් වර ම රජතුමාගේ නෙත ගැටුණි. මෙතෙක් මළානිකව තිබුණු රජුගේ සිත පිබිදී ආවේ ය. එතුමාට මෙසේ සිතුණි. '' සියලු මිනිසුන් බියෙන් සැළෙන මුවන් වැනි ය. ඔවුන්ගේ සිත් කළබල ය, විසුරුණේ ය. කුඩා වුවත් මේ ශ්‍රමණ පුත්‍රයා කළබල නොවූ නො විසිරුණු සිත් ඇති කෙනෙකි. මොහු ඉදිරිය බලන ආකාරය, වටපිට නොබලා යන ගමන ඉතා ප්‍රසන්න ය. මෙබඳු කුඩා වියේ සිටින වෙනත් ළදරුවන් මෙන් අත් පා ළෙලවීම්, සෙලවීම්, දිවීම්, පැනීම් කිසිවක් නැත. සත් හැවිරිදි කුඩා දරුවෙකුට මෙතරම් සන්සුන් කමක් ලැබෙන්නේ ඔහු තුළ ලොව්තුරා දහමක් තිබෙන නිසා ම ය. එහි සැකයක් නැත. '' මෙසේ නිග්‍රෝධ සාමණේරයන් කෙරෙහි උපන් ප්‍රසාදය නිසා ම රජතුමාගේ සිතේ කණස්සල්ල ද වහා පහව ගියේ ය.

ඇමතිවරයෙකු ඇමතූ රජතුමා '' පින්වත! අර මහ මග වඩින කුඩා ශ්‍රමණ පුත්‍රයන් වහන්සේ ගරු බුහුමන් ඇති ව මෙහි වැඩමවාගෙන එන්නැ'' යි නියම කළේ ය. ඇමතිවරයා වහා පොඩි හාමුදුරුවන් වෙත ගොස් රජතුමාගේ ආරාධනය දන්වා සිටියේ ය. උන් වහන්සේ ඇමතිවරයා සමග රජ ගෙට පිවිසියහ. රජතුමා ගරු බුහුමන් දක්වා සුදුසු අසුනක වැඩ හිඳිනු මැනවැයි ඉල්ලා සිටියේය. උන්වහන්සේ වටපිට බැලූහ. වෙනත් කිසිදු භික්ෂූන් වහන්සේ නමක් එහි නොවී ය. දැන් මෙහි උසස් ම අසුනේ හිඳීමට සිටින එක ම සුදුස්සා තමා බව උන්වහන්සේට වැටහිණ. ඒ නිසා පොඩි හාමුදුරුවෝ සිහසුන

වෙතට වැඩම කළහ. එයින් රජතුමා තවත් පැහැදුණි. එහෙත් හිඳ ගන්නට උස නැත. රජතුමා ඉතා ගෞරවයෙන් උන්වහන්සේ සිංහාසනය මත හිඳුවී ය.

අනතුරුව මහ රජතුමා තමා සඳහා පිළියෙළ කර තිබුණු කැඳ අවුළුපත් ආදී රජ බොජුන් සාමණේර පොඩි හාමුදුරුවන්ට පිළිගැන්වී ය. උන්වහන්සේ තමන්ට යැපිය හැකි තරමට පිළිගෙන සේබියාවල කී ලෙසින් ඉතා ම ආචාර සම්පන්නව සන්සුන් ව වැළඳූහ. වළඳා අවසන් වූ සාමණේරයන් වෙත ගොස් එකත් පසෙක හිඳගත් රජතුමා '' ඔබ වහන්සේගේ ශාස්තෲන් වහන්සේ දෙසූ දහමක් දන්නා සේක්දැ '' යි විමසීය. මහරජ! තරමක් දනිමි'' යි උන්වහන්සේ පැවසූහ. ස්වාමීනි, එසේ නම් ඒ දන්නා තරම මට කියා දෙනු මැනවැයි රජතුමා කීය. උන්වහන්සේ ධම්ම පදයේ අප්පමාද වග්ගයේ සඳහන් වන

අප්පමාදො අමත පදං
පමාදො මච්චුනො පදං
අප්පමත්තා න මියන්ති
යෙ පමත්තා යථා මතා

යන ගාථාවෙන් '' මහරජ, කුසල දහමෙහි නොපමාව යෙදීම නිවනට මග යි. පස් කම් සැපයෙහි යෙදී ප්‍රමාද වීම මැරි මැරී උපදින සසරට මග යි. අප්‍රමාද වූවෝ මරණයෙන් මිදෙති. ප්‍රමාද වූවෝ ජීවත් වූවත් මළවුන් වැනියැයි. කියා රජතුමාට දහමක් දෙසූහ. රජතුමා එයින් හොඳට ම පැහැදුණේ ය. සිතේ කණස්සල්ල සහ මුලින් සිඳී ගියේ ය. ඉතා ප්‍රීතියට පත් රජතුමා "ස්වාමීනි ! මම ඔබ වහන්සේට නිති පතා බත් වර අටක් පුදමි"යි. තමා සමග අට නමකට රජ ගෙදර දන් වළඳන්නට පැවරුම් කළේ ය. පොඩි හාමුදුරුවෝ එය තමන් නොපිළිගෙන මහරජ ඒ බත් වර අට මම මගේ උපාධ්‍යායන් වහන්සේට පුදමියි කීය. උපාධ්‍යායන් වහන්සේ නම් කවුරුන් දැයි රජතුමා ඇසීය. මහරජ, මා පැවිදි කොට ලොකු කුඩා වරද නිවරද දැක චෝදනා හෝ ප්‍රශංසා කරමින් කරුණු කාරණා තීරණය කරන්නේ උපාධ්‍යායන් වහන්සේ ය. ඒ මාගේ උපාධ්‍යායන් වහන්සේ නම් මොග්ගලීපුත්ත තිස්ස මහ රහතන් වහන්සේ යැයි '' කීහ. හොඳයි, ඒ බත් අට උන්වහන්සේට වේවා. ඔබ වහන්සේට තවත් බත් අටක් දෙමි. එවිට සාමණේරයන් වහන්සේ එය මගේ ආචාර්යයන් වහන්සේට පුදමියි කීය. එවිට රජතුමා ආචාර්යයන්

වහන්සේ නම් කවුරුදැයි ඇසී ය. "අප වත් පිළිවෙත්වල හික්මවන්නේ ආචාර්යයන් වහන්සේ ය. ඒ මාගේ ආචාර්යයන් වහන්සේ නම් වරුණ මහ රහතන් වහන්සේ යැ"යි පොඩිහාමුදුරුවෝ කීය. "හොඳයි එය උන්වහන්සේට වේවා. මම තවත් බත් අටක් දෙමි''යි රජු පැවසී ය. "මහරජ, ඒ අට සංඝයාට දෙන්නැ'යි පොඩිහාමුදුරුවෝ පැවසී"ය. එවිට රජතුමා "ස්වාමීනි, සංඝයා නම් කවුරුදැ'යි ඇසීය. "මහරජ, අප ආචාර්ය උපාධ්‍යායන් වහන්සේගෙත් මාගෙත් පැවිද්ද හා උපසම්පදාව සම්මත කරන්නේ ඒ භික්ෂු සංඝයා යැ"යි සාමණේරයන් වහන්සේ පැවසූහ.

අනතුරු ව සාමණේරයන් වහන්සේ මහ රජතුමා ඇතුළු පිරිස තිසරණ සහිත පංච සීලයේ පිහිටුවූහ. එතැන් පටන් අශෝක රජතුමා සහ පිරිස බෞද්ධ උපාසකයන් බවට පත්වූහ. අශෝක රජතුමා මේ කුඩා ශ්‍රමණයන් වහන්සේගේ සන්සුන්කමට හා හුරුබුහුටිකමටත්, ව්‍යක්ත කමටත් ආත්මගෞරවය සංඝ ගෞරවය ආදී ගුණවත් කමටත් අතිශයින් ම පැහැදී තවත් බත් වර අටක් පුද දුන්නේ ය. උන් වහන්සේ එය තමන් සඳහා පිළිගෙන පසුදා තමනුත් ආචාර්යයන්, උපාධ්‍යායන් වහන්සේලාත් ඇතුළු දෙතිස් නමක් රජ ගෙදරට වැඩියහ. රජතුමා සියතින් ම දන් පිළිගන්වා හෙට තවත් දෙතිස් නමක් සමග වඩිනු මැනවැයි ඇරයුම් කළේ ය. මෙසේ දවසින් දවස රජ මාලිගයේ දන් වළඳන භික්ෂු සංඛ්‍යාව දෙගුණ තෙගුණ වී ගියේ ය. අන්තිමේදී රජතුමා නිග්‍රෝධ සාමණේරයන් වහන්සේට පැහැදුණ නිසා රජ ගෙදරින් දන් වළඳන භික්ෂූහු හැට දහසක් වූහ. මේ ආකාරයෙන් නිග්‍රෝධ සාමණේරයන් වහන්සේගේ තිබූ නොපැහැදුණ වුන් පහදවනසුලු සන්සුන් ගුණය නිසාත් ව්‍යක්ත ධර්ම කථිකත්වය නිසාත්, උතුම් ගුණ ධර්ම නිසාත් චණ්ඩාශෝක රජතුමා ධර්මාශෝක කෙනෙකු බවට පත් විය. එතුමා ධර්මාශෝක වීම නිසා ඉන්දියාවට සීමා වී තිබුණ බුදුදහම ලෝක ආගමක් බවට පත් විය.

අදත් අප මේ භුක්ති විඳින්නේ එහි උතුම් ඵලය යි. එදා ඒ නිග්‍රෝධ පොඩි හාමුදුරුවන්ගේ සංවරකම නොවන්නට අද මේ සියල්ල අපට අහිමි වන්නටත් ඉඩ තිබුණේ ය.

## අභ්‍යාස

01. නිග්‍රෝධ සාමණේරයන් වහන්සේට එම නම ලැබුණේ කෙසේ ද?

02. අශෝක රජතුමා උන්වහන්සේට පැහැදුණු හේතු තුනක් කියන්න.

03. නිග්‍රෝධ සාමණේරයන් වහන්සේගෙන් අපට උගත හැකි පාඩම් දෙකක් කියන්න.

# 17 සිල් පිරෙන්නට වත් පුරමු

**වත්තං න පරිපූරෙන්තො න සීලං පරි පූරති**
**අසුද්ධසීලො දුප්පඤ්ඤො චිත්තෙකග්ගං න වින්දති**
**වික්ඛිත්ත චිත්තො නෙකග්ගො සද්ධම්මං න ච පස්සති**
**අපස්සමානො සද්ධම්මං දුක්ඛා න පරිමුච්චති**

**(විනය විනිච්ඡය -වත්තක්ඛන්ධකය)**

වත් සම්පූර්ණ නොකරන තැනැත්තා ශීලය සම්පූර්ණ නොකරයි. ශීල ශුද්ධිය නැති අනුවණයා' එකඟ බවක් නොලබයි. වික්ෂිප්ත වූ එකඟ නොවූ සිත් ඇති තැනැත්තා ධර්මය නොදකී. ධර්මය නො දක්නේ දුකින් නොමිදේ.

ගිහිගෙය අතහැර සසුනෙහි පැවිදි වූ භික්ෂූන් වහන්සේට මාපියන් නැත. වෙනත් උදව් උපකාර කරන නෑහිතමිතුරන් නැත. සේවක සේවිකාවන් නැත. තමන්ගේ කටයුතු තමා ම කර ගැනීම බුදුසසුනෙහි ලොකු කුඩා සෑම භික්ෂූන් වහන්සේ කෙනෙකුගේ ම පිළිවෙත යි. මෙහි දී තමගේ ශාරීරික පිරිසිදු කමේ පටන් ආවාස පිරිසිදු කරගැනීම, ආරාමය පිරිසිදුව තබාගැනීම, ඇතුළු කොට ඇති පන්සලේ සිදුකළ යුතු කුඩු මහත් කටයුතු සියල්ල ම භික්ෂූන් වහන්සේ නමකට තමන්ගේ කටයුතු ය. ඒ කටයුතු වෙන කෙනෙකු කරනු ඇතැයි කියා මග හැර සිටීමට කිසිම භික්ෂූන් වහන්සේ නමකට ඉඩක් නැත. සංඝරත්නයේ සාමීචිපටිපන්න ගුණය වන්නේ ද මෙය යි. මේ නිසා වතාවත කිසිදු භේදයකින් තොරව සෑම භික්ෂූන් වහන්සේ කෙනෙකු විසින් ම ඉටුකළයුතු වගකීමකි.

භික්ෂූන් වහන්සේ නමක් ලස්සන වන්නේ හිස මුඩුකළ විට ය. පිරිමඬුළු කොට සිවුරු පෙරවූ විට ය. පන්සලක් ලස්සන වන්නේ අතුපතු ගා පිරිසිදුව තිබෙනවිට ය. ඒ නිසා තමන් වහන්සේ ප්‍රසන්නව වෙසෙනවා සේ ම තම පරිසරය ද ප්‍රසන්න ලෙස තබා ගැනීම භික්ෂූන් වහන්සේගේ වගකීම යි.

සාමාන්‍යයෙන් භික්ෂූන් වහන්සේලාට ව්‍යායාම අඩු ය. දවස පටන් ගැනීමේ දීම ඇගේ මැලිකම ඇතිවිට දවස ම ක්‍රියාශීලි නොවේ. වැඩ කටයුතු කෙරෙන්නේ හෙමින් ය. බාගෙට ය. ඒ නිසා මොළය ද අප්‍රාණික වෙයි. භික්ෂූන් වහන්සේගේ ඉගෙනීම් ආදී කටයුතු අතපසු වන්නේත් පිරිවෙන්වල පන්සල්වල වැඩකටයුතු අතපසු වී, අපිරිසිදු ව, අක්‍රමවත් ව පවතින්නේත් මේ අලසගතිය නිසා ය. මේ නිසා භික්ෂූන් වහන්සේට ව්‍යායාමයක් අවශ්‍යම ය. වතාවත් නියමිතව තිබෙන්නේ මේ සඳහා ය. නිසිලෙස වත් පිළිවෙත් කරන භික්ෂූන් වහන්සේ නමකට නිකම් ඉන්නට වෙලාවක් නැත. වතාවත තමාගේ දවස ප්‍රාණවත් ව ගත කිරීමට හොඳ ව්‍යායාමයකි. මොළය ක්‍රියාශීලිවන නිසා ඉගෙනීමට ද උපකාරී වේ. සෞඛ්‍ය සම්පන්න ජීවිතයකට ද හොඳ පිටිවහලකි.

මහජනයා නිතර යන්නට කැමැතිවන්නේ පිරිසිදුවත් අලංකාර ලෙසත් ආකාර්ශනීය ලෙසත් සරසා ඇති තැන්වලට ය. පන්සලට එන්නට ඔවුන්ට ශ්‍රද්ධාව ඇතිවන්නේ ද එසේ තිබෙනවිට ය. (සද්ධා ජාතො උපසංකමති) ආරාමයක් යනු ජනයා පැමිණ දැකබලා සතුටුවන සුව විඳින තැන ය. එනම් උයන් ය. එසේ නම් පන්සල ද උයනක් විය යුතු ය. පන්සල හෝ පිරිවෙන උයනක් සේ සකස්කරගත යුත්තේ එහි වෙසෙන ඇත්තන් විසින් ම ය. එය වතාවතේ ප්‍රධාන අංගයකි.

චුල්ලවග්ග පාලියේ වත්තක්ඛන්ධකයෙහි භික්ෂූන් වහන්සේ විසින් සපිරිය යුතු වත් තුදුසක් දක්වා ඇත. එම වත් සම්පූර්ණ නොකරන උපසපන් භික්ෂූන් වහන්සේට දුකුලා ඇවැත් වේ. වත් සම්පූර්ණ නොකරන සාමණේරයෝ දඬුවම් ලැබිය යුත්තෝ ය. එම වත් තුදුස මෙසේ ය.

1. ආගන්තුක වත
2. ආවාසික වත
3. පිණ්ඩපාතික වත
4. සේනාසන වත
5. ආරණ්‍යක වත
6. අනුමෝදනා වත
7. භත්තග්ග වත (දානශාලා)
8. ගමික වත
9. ජන්තාඝර වත (ගිනිහල් ගේ)
10. වච්චකුටි වත
11. ආචරිය වත
12. උපජ්ඣාය වත
13. සද්ධිවිහාරික වත
14. අන්තේවාසික වත

## ආචරිය වත

භික්ෂු සංඝයා වනාහි ලෝකෝත්තර ජීවිතයට කැපවුණු විශාල පවුලකි. එහි සාමජිකයන් විසින් ඔවුනොවුන් කෙරෙහි සහයෝගයෙන් පැවැතිය යුතු ය. සසුනේ පැවිදිවූ අයට පියෙක් නැත. මවක් නැත. මා පියන් වෙනුවට සිටින්නේ ගුරුවරයා ය. ගුරුවරයා ශිෂ්‍යයා කෙරෙහි පුතෙක් ය යන හැඟීමෙන් ක්‍රියා කළ යුතු අතර ශිෂ්‍යයා ගුරුවරයා කෙරෙහි පියා යන හැඟීමෙන් ක්‍රියා කළ යුතු ය. ගුරුවරයන් වහන්සේ ශිෂ්‍යයාගේ සියලු දුක් සැප සොයා බලන්නා වාගේ ම ශිෂ්‍යයාත් ගුරුවරයාගේ දුක සැප නිතර සොය බැලිය යුතු ය.

උදෑසන ගුරුවරයාට පෙර පිබිදී උණු පැන් සිසිල් පැන් පිළියෙල කර තැබිම, කැඳ හෝ ගිලන්පස ආදිය පිළියෙල කොට පිළිගැන්විම. මල් නෙලා තැබීම, දානශාලවේ දී ගුරුවරයාට දානය වෙන්කොට තැබිම, පාත්‍රා සොදා තැබීම, දන් පිළිගැන්විම, ගුරුවරයාගේ කුටිය පිරිසිදු කිරීම, ගුරුවරයා ගිලන්ව සිටී නම් ඒ අසල ම හිඳිමින් ගුරුවරයාට උවටැන් කිරීම, ගුරුවරයාගේ ඇමතුමක් ලැබේ දැයි නිතර සෙවිල්ලේන් සිටීම, කළ හැකි වයසේ කෙනෙකු නම් ගුරුවරයාගේ සිවුරු පිරිකර ආදිය සෝදා පිරිසිදු කර දීම, යනා දී කුදුමහත් කටයුතු සොයාබලා ඉටුකිරීම ආචාර්ය වත ලෙස සැළකේ. ආනන්ද හාමුදුරුවන් වහන්සේ බුදුරජාණන් වහන්සේ කෙරෙහි ඉතා භක්තියෙන් යුතු ව සැළකුවා සේ සෑම ශිෂ්‍ය නමක් ම ගුරුවරයා වෙත ගෞරවයෙන් හා කරුණාවෙන් උවටැන් කළ යුතු ය. ගුරුවරයා ද ශිෂ්‍යයා පුතෙකු සේ සියලු දුක සැප සොයා බලමින් රැක බලා ගත යුතු යි.

මෙසේ පිය පුතු සෙනෙහසින් ඔවුනොවුන්ට උදව් උපකාර කරගෙන ජීවිත් වනවිට පන්සල හා පැවිදි ජීවිතය ශිෂ්‍යයාටත් ගුරුවරයාටත් සුවදායක තැනක් වේ. එසේ නොවු විට ගුරුවරයාට ශිෂ්‍යයා එපා වේ. ශිෂ්‍යයාට මහණකම ද එපා වේ. ඒ නිසා යට කී ආකාරයෙන් ගුරු සිසු දෙපිරිස අන්‍යොන්‍ය සහයෝගයෙන් පවතිත් නම් මේ සාසනයත් භික්ෂූන් වහන්සේත් දියුණු වන්නේ යැයි බුදුරජාණන් වහන්සේ වදාළ සේක.

## ආගන්තුක වත

ආගන්තුකයෝ ගිහි පැවිදි වශයෙන් දෙපිරිසකි. එයින් ආගන්තුක වත් ඉටුකළ යුතු වන්නේ පැවිදි ඇත්තන්ට ය. එම වත ආගන්තුක වත හා ආවාසික වත යනුවෙන් දෙයාකාර වේ. එයින් ආගන්තුක වත යනු තමන් වෙනත් විහාරස්ථානයකට ගිය විට හැසිරිය යුතු පිළිවෙළයි. වෙනත් ආරාමයකට පිවිසෙන භික්ෂූන් වහන්සේ පළමුකොට පාවහන් ගලවා ඇතුළු වී සිවුරු ඒකාංශ කරගෙන මහතෙරුන්වහන්සේ වෙත එළඹ වැඳ නමස්කාරකොට අවසර ගත යුතු ය. තමාගේ පාසිවුරු ආදිය නියම කරන තැනක තැබිය යුතු ය. පරිභෝග කරන පැන්, වැසිකිළි කැසිකිළි ආදිය ඇති තැන් විචාරා දත යුතු ය. සෙනසුනක් ලැබුණු විට පරීක්ෂාකාරී ව ඊට ඇතුළු වී එය අපවිත්‍ර වී ඇත්නම් හැමද පිරිසිදුකර ගත යුතු ය. මිදුල හැමද පිරිසිදු කළ යුතු ය. වැසිකිළි අපවිත්‍ර නම් එය ද පිරිසිදු කරගත යුතු ය. ආරාමයේ වෙසෙන අනිත් ඇත්තන්ට හිරිහැර නොවන පරිදි වාසය කළ යුතු ය. ආගන්තුක කාමරයේ හෝ වෙනත් තැනක තිබෙන කිසිදු තමාට අදාළ නොවන උපකරණාදියක් ඇල්ලීමෙන් ක්‍රියාකරවීම් ආදියෙන් සහමුලින් ම වැළකිය යුතු ය. පොතක් පතක් වත් විමසීමකින් තොරව නොගත යුතු ය. එම ආරාමයෙන් පිටව යන තුරු ම එහි පවතින නීතිරීතිවලට දිනචරියාවට අනුකූල ව පැවතිය යුතු ය. සියලු දෙනා වහන්සේ එකතු වන දාන ශාලාව, විහාරගේ ආදී තැන්වලට සිනුව නාද කළ වහාම තමන් ද සහභාගී විය යුතු ය.

ආරාමයේ වෙසෙන කුඩා සාමණේර නමක් වත් නොමග යවනසුලු හැසිරීම්වලින් වැළකිය යුතු ය. එතැනින් නික්ම යන විට අසුන් හකුලා තබා, පාවිච්චි කළ වැසිකිළි ආදිය පිරිසිදු කොට, කාමරය හැමද දොර මැනවින් වසා, යතුරු බාරදී යා යුතු ය.

## ආවාසික වත

ආගන්තුක වතෙහි අනෙක් අංශය නම් ආවාසික වත යි. එනම් ආරාමයේ වෙසෙන ඇත්තන් ආගන්තුකයෙකු පැමිණි විට අනුගමනය කළයුතු පිළිවෙත යි. ආගන්තුකයෙකු වඩින විට ලාබාල ඇත්තන් විසින් පෙරගමන් කොට පාසිවුරු පිළිගෙන සුදුසු තැන්වල තැබිය යුතු ය. අසුන් පැණවිය යුතු ය. පා දෙවීම් මුව දෙවීම් ආදියට පැන් තැබීම හෝ තිබෙන තැන්

පෙන්වීම හෝ කළ යුතු ය. වැඩිමහලු ආගන්තුකයන්ට වැඳිය යුතු ය. අවශ්‍ය නම් පවන් සැලිය යුතු ය. දැහැත් ගිලන්පස ආදිය විමසා පිළිගැන්විය යුතු ය. ආගන්තුකයා නවාතැන් ගන්නේ නම් සෙනසුනක් පිළියෙල කර දිය යුතු ය. එහිදී බීමට අවශ්‍ය පැන් තබා වැසිකිළි කැසිකිලි ආදි ඇති තැන්, යා යුතු තැන් නොයා යුතු තැන් කියා දිය යුතු ය. ආවාසිකයා කවර කටයුත්තක යෙදී සිටියත් ආගන්තුකයෙකු පැමිණිවිට ඒ වැඩ නවත්වා ආගන්තුක සත්කාරය කළ යුතු ය. ආගන්තුක සත්කාර නොකර සිටිම දුසිල්වතකුගේ ලක්‍ෂණයකි.

## භත්තග්ග වත

දන්ගේ පිළියෙල කිරීම හා දන් පිළිගන්නා වේලාවේ අනුගමනය කරන පිළිවෙත භත්තග්ග වත නම් වේ. පන්සලක හෝ පිරිවෙණක ඉතා පිරිසිදුවට ම තිබිය යුතු තැන දාන ශාලාව යි. ලංකාවේ භික්ෂූන් වහන්සේලා අද බොහෝ සෙයින් ලබන්නේ මහජනයා පන්සලට ගෙනවිත් පුදන පිණ්ඩපාතය යි. එසේනම් මහජනයාට ඒ පින්කම සතුටින් කිරීමට සුදුසු ප්‍රසන්න තැනක් ලෙස දානශාලාව තිබිය යුතුය. වැළඳීමට පෙර අතුපතු ගා පිරිසිදු කිරීම, නේවාසික සියලු භික්ෂූන් වහන්සේලා සඳහා පාත්‍ර සොදා තබා ඇද්දැයි බැලීම, පානීය ජලය සපයා තැබිම, ගෙනෙන දානය දැමීමට බෙදීමට අවශ්‍ය උපකරණ සපයා තැබීම, දන්බෙදීමට කෙනෙකු නැත්නම් දන් බෙදීම, වළඳා අවසන් වූ පසු ඉතිරි ආහාරවලට සුදුසු දෙයක් කොට, ඉතිරි යමක් වෙතොත් ඉඳුල් සමග කසළ බැහැර කරන තැනට දමා භාජන සෝදා වේලා තැබිම, දන් ශාලාව තුළ ඉඳුල් වැනි අපද්‍රව්‍ය කිසිවක් තිබෙන්නට ඉඩ නොතැබිම, බල්ලන් බළලුන්ට ඇතුලුවිය නොහැකි පරිදි අගුලු දමා තැබිම දන් ශාලාවේ වත යි.

එසේ ම දානය වළඳන විට වැඩිමහලු පිළිවෙලින් හිඳගත යුතු ය. මහතෙරුන් වහන්සේලාට මදක් ඈතින් සෙසු අය වැඩ සිටිය යුතු ය. සේඛියාවලට අනුව දන් වැළඳිය යුතු ය. සියලුදෙනාට දන් පිළිගන්වා අවසන් වන තුරු වැළඳීම ආරම්භ නොකළ යුතු ය. සියලුදෙනා වළඳා අවසන් වෙන තුරු අත නොසේ දිය යුතු ය. දන් පිළිගැනීමේ දී පළමුකොට මහතෙරුන් වහන්සේලාට බෙදන්නට සැළස්විය යුතු ය. වළඳා අවසන් කළ ඇත්තන් දන්ශාලාවෙන් කලින් පිටව යා යුත්තේ වතාවත පැවරි ඇත්නම් හෝ මහ තෙරුන්ගෙන් අවසර ඇත්නම් පමණි. දානශාලාවෙන් පිටව යන විට ද වැඩිමහලු පිළිවෙලින් පිටවිය යුතු ය.

## අනුමෝදනා වත

හත්තවග්ග වතට ම අදාළ තවත් වතක් නම් අනුමෝදනාව යි. දන් වළඳා අවසානයෙහි නිකම්ම නැගිට නො යා යුතු ය. '' අනුජානාමි භික්ඛවේ හත්තග්ගෙ අනුමෝදිතුං '' යැයි වදාරා ඇති පරිදි නොවරදවා ම දන් දුන් අයගේ සිත් සතුටුවනු පිණිස අනුමෙවනි බණක් කිව යුතු ය. එය වළඳන්නට පෙර නොකළේ නම් වළඳා අවසානයේ කළ යුතු ය. අනුමෝදනාවට මහතෙරුන් සිටිය දී සෙසු භික්ෂූන් නො යා යුතු ය. අනුමෝදනාව අවසන් වනතුරු අඩුම තරමේ හතරපස් නමක් වත් දන්හලෙහි නැවතී සිටිය යුතු ය.

## විහාර වත

විහාර මන්දිරය, සෑමළු බෝ මළු ආදිය පිළිබඳ වතාවත මෙන් ම තෙරුවන් වැඳීම වත පිරිත කීම ද අයත් වන්නේ විහාර වතට ය. මේ සාසනික පහසුකම් හා ආගමික සැනසිල්ල අපට උදාවී ඇත්තේ බුදුරජාණන් වහන්සේ නිසා ය '' උන්වහන්සේ වැඳීම හා උන්වහන්සේගේ වත් පිළිවෙත් ඉටුකිරීම සිවුපිරිසගේ ම යුතුකම යි. විශේෂයෙන් ම භික්ෂූන් වහන්සේ සංඝරත්නය ලෙසින් උන්වහන්සේගේ සමීපයේ ම සිටින පිරිස යි. ඒ නිසා භික්ෂූන් වහන්සේ නමකට කොතරම් කටයුතු තිබුණත් විහාර වත පැහැර හැරීමට ඉඩක් නැත. එසේ සිදු කළේ නම් උන්වහන්සේ බුදුරජාණන් වහන්සේට කරන්නේ බරපතල අගෞරවයකි.

ඉර උදාවන්නට පෙර ම විහාරගේ පිරිසිදු කිරීම, බුදුරජාණන් වහන්සේට පැන් තැබිම, විහාර මළුව ඇමදීම, පරමල් ඉවත්කොට මලසුන් පිරිසිදු කිරීම, තැන් තැන්වල විසිරී ඇති පහන් ආදිය අහුලා නියම තැන්වල තැබීම ආදිය විහාරවතේ පූර්ව කෘත්‍යයන් ය.

මළු ඇමැදීම ඉතා සැලකිල්ලෙන් කළයුතු වතාවතකි. සුදුවැලි ඉස රටාවකට අතුගා සකස්කළ සෑ මළුව තරම් පියකරු දසුනක් තවත් නැති තරම් ය. සාමාන්‍යයෙන් පන්සල ගමේ තිබෙන ඉතාම පිරිසිදු තැන ය. හැම දෙයක් ම ලස්සනට කලාවකට සකස් වූ තැන ය. භික්ෂූන් වහන්සේලා තමන්ගේ ආරාමය තමාගේ සංවරයේ ආදර්ශයක් ලෙස සලකා දකින්නන්ට ප්‍රබෝධයක් ඇතිවන තැනක් බවට පත් කරති. මනහර ලෙස පිරිසිදුවට බලාකියාගන්නා

මළුවකින් ආරාමයක තිබෙන සාමය හා ශාන්තිය ම මොනවට පැහැදිලි වේ. පෙර තමන් අතු පතු ගෑ මිදුල දෙස බලා ලද ප්‍රීතියෙන් රහත් බව අවබෝධකර ගත් භික්ෂූන් පිළිබඳ පුවත් විශුද්ධි මාර්ගයේ සඳහන් වේ. මේ නිසා සෑමළු බෝ මළු අමදින විට ගල්කැට ආදිය අතින් ඉවත් කළ යුතු ය. සියලු කුණු ඉවත් වන ලෙසත්, වැලි මතුවන ලෙසත්, බොරළු යට යන ලෙසත්, ඉදල බරකොට අතුගෑ යුතු ය. එසේ අතුගාන විට මාරුවෙන් මාරුවට සතර අතට අතුගෑ යුතු ය. එක තැනකට වැලි ගොඩ නොගැසී මුළු මළුව පුරා සම ව වැලි විසිරෙන සේ අතු ගෑ යුතු ය. කසල ගොඩ තිබෙන පැත්තට අතු ගැමෙන් වැලකිය යුතු ය. හැම දීම අවසන් කළ පැත්තේ කසළ එකතුකොට ඉදලට ගෙන ඉවත් කළ යුතු ය.

මෙහි දී සැලකිය යුතු විශේෂ කාරණයක් නම් උදේ, දහවල් පූජාකළ ආහාර පූජාව භික්ෂූන් වහන්සේලා වළදා අවසන් වූ සැණින් ඉවත් කොට සෝදා තැබිය යුතු ය. රාත්‍රී ගිලන්පස පූජාව විහාර මැදුර වසන්නට පෙර ඉවත් කර සෝදා තැබිය යුතු ය.

භික්ෂූන් වහන්සේලා දවසට තෙවරක් බුදුන් වැඳිය යුතු ය. උදෑසන, දවල් දානයෙන් පසු සහ සන්ධ්‍යාව යනු ඒ තුන් වර යි. මෙයින් සැන්දෑකාලයෙහි සම්ප්‍රදායානුගත ක්‍රමයට වත පිරිත කිව යුතු ය. ඒ වත පිරිතට අනිවාර්යයෙන් අතීත ප්‍රත්‍යවේක්ෂාව සහ දස ධම්ම සූත්‍රය මෙන් ම මෛත්‍රී භාවනාව ඇතුලත් විය යුතු ය.

## වච්චකුටි වත

ශාසනයේ සෑම තැන ම වැඩිහිටියාට මූලිකත්වය හිමිවේ. එහෙත් වැසිකිළියේදී මුලිකත්වය හිමිවනුයේ පැමිණෙන පිළිවෙළ අනුව ය. ආ පිළිවෙළට වැසිකිළි යෑම ශාසනික පිළිවෙත යි. වැසිකිළියට පිවිසෙන විට කෙනෙකු එහි ඇති නැති බව දැනගැනීම සඳහා කෑරීම හෝ දොරට තට්ටු කිරීම කළ යුතු ය. සිවුරහැඳ වැසිකිළියට නොයා යුතු ය. නියමිත දණ්ඩෙහි හෝ වැලෙහි සිවුර තබා වැසිකිළියට පිවිසිය යුතු ය. පාදුකාවට නගින තුරු අඳනය නො එසවිය යුතු ය. අනවශ්‍ය ප්‍රමාණයට ශබ්ද නැගෙන සේ තතනමින් වැසිකිළි නොකළ යුතු ය. දත් මදිමින් වැසිකිළි නොකළ යුතු ය. නියමිත බඳුනෙන් බැහැර වැසිකිළි කැසිකිළි නොකළ යුතු ය. මුත්‍රා කරන තැන කෙළ නොගැසිය යුතු ය. ශබ්ද නැගෙන සේ සේදීම නොකළ යුතු ය. පාදුකාව මතදී ම අඳනය පහත දමා බැහැර විය යුතු ය. සිටගෙන මලමුත්‍ර කිරීම නොකළ යුතු ය.

සෝදන බඳුනෙහි ජලය ඉතිරිකර නොයා යුතු ය. තමා නිසා වැසිකිළිය අපවිත්‍ර වුවහොත් අනිකෙකුට සුද්ද කිරීමට ඉඩ නොතබා තමා ම පිරිසිදු කර යා යුතු ය. වැසිකිළි බඳුන තුළ හිරවිය හැකි ගල්කැට ලී කැබලි ආදී දේ තිබේ නම් එය දුටු කෙනා ඉවත් කර යා යුතු ය. වැසිකිළියේ හා ඉන් පිටත පරිසරය පිරිසිදුව තබාගැනිමට දායක වීම සියලු දෙනාගේ ම වගකිමක් බව සිහිකළ යුතු ය.

විහාරවත නිසි ලෙස ඉටු කිරීමෙන් ඔබ දෙවියන්ගේ ප්‍රසාදයට විශේෂයෙන් ලක්වන්නේ ය. පන්සල් වත හා හත්තග්ග වත ඉටුකිරීමෙන් මහජන ප්‍රසාදයට විශේෂයෙන් ලක්වන්නේ ය. ආගන්තුක ආචාර්ය උපාධ්‍යය හා වැසිකිළිවත් ඉටුකරන භික්ෂුව සංඝයාගේ ප්‍රසාදයට විශේෂයෙන් ලක්වන්නේ ය.

## පුහුණුවට

ආගන්තුකාවාසික පිණ්ඩචාරී සෙනාසනාරක්ඛානුමොදනාසු
වත්තානි හත්ත ගමිකස්ස ජන්තාඝරෙ තථා වච්චකුටිප්පවෙසෙ
ආචරියුපජ්ඣායක සිස්ස සද්ධිවිහාරි වත්තානි පි සබ්බසො ච
වත්තානි වුත්තානි චතුද්දසෙ ව විසුද්ධ චිත්තෙන විනායකෙන

## අභ්‍යාස

1. වත්තනං න පරිපූරෙන්තො.................... යන්න කටපාඩමින් කියන්න.

2. ‘ වතාවත් කිරීමේන් තමාට ලැබෙන වාසි ’ යන මැයෙන් ශිෂ්‍ය සමිතියේ කතාවක් පවත්වන්න.

3. තමන් දිනපතා ඉටු කරන වත් පිළිවෙත් හා තමාට භාරව ඇති වතාවත් ලැයිස්තුවක් කාලසටහනක් සේ පිළියෙල කර අභ්‍යාස පොතේ සටහන් කරන්න.

# 18 මහණකම නම් උසස් ම ශීලාචාරකමයි

චූල සුභද්‍රා නම් අනේපිඬු සිටුතුමාගේ දියණිය යි. ඇය දීග ගියේ උග්ග නුවර උග්ග සිටුතුමාගේ පුතණුවන් සමග ය. ඒ සිටු පවුල නිගණ්ඨ දායකයෝ ය. එදා මංගල උත්සවය නිමිති කරගෙන ඒ සිටු මැදුරේ නිගණ්ඨයන් සඳහා මහා දානයක් පැවැත්විණි. ඒ මොහොතේ අලුත ගෙනා ලේලිය ලවා තම ශ්‍රමණයන් වහන්සේලාට වන්දවන්නට සිටුතුමාට උවමනා විය. ඒ බව චූල සුභද්‍රාට දන්වා යවන ලදී. නිගණ්ඨයෝ වස්ත්‍ර නො අඳින නග්න තවුස් පිරිසකි. ඒ බව දන්නා චූල සුභද්‍රා නග්නයන් දක්නට ඇති හිරිකිතය නිසා දන්හලට යාමට අකමැති විය. දෙතුන් වරක් පණිවුඩ යැව්වත් ලේලිය නොපැමිණියා ය. මෙයින් කුපිත වූ සිටුතුමා ඇය තම සිටු මැදුරෙන් පිට මං කරන්නට තීරණය කළේ ය. ඒ මොහොතේ තමා අකීකරු වීමට හේතුව දක්වන චූල සුභද්‍රා '' මාගේ ශ්‍රමණයන් වහන්සේලා ඉතා ම ආචාර සම්පන්න පිරිසකි. මෙබඳු ලැජ්ජා නැති පිරිසක් නොවේ '' යැයි කියමින් ගාථා හතකින් සඟ ගුණ වැණුවා ය. එයින් පළමු වැන්න මෙසේ ය.

'' සන්තින්ද්‍රියා සන්ත මානසා
සන්තං තෙසං ගතං ඨිතං
ඔක්ඛිත්තචක්ඛු මිතභාණී
තා දිසා සමණා මම ''

''මාගේ ශ්‍රමණයන් වහන්සේලාගේ ඉඳුරන් සංවර ය.
සිත සන්සුන් ය. උන්වහන්සේලාගේ ගමන බිමන ඉඳුම් හිටුම්
සන්සුන් ය. ගමන් කරන විට බිමට හෙලා ගත් ඇස් ඇති ව
වටපිට නොබලා වඩිති. උවමනා දේ පමණක්
පමණට කතා කරති.

'' මහණකම් ප්‍රධාන අංගය සීලය යි. සිල්වත්කම නැති තැන මහණකමක් නැත. බුදුරජාණන් වහන්සේ සිල්වත්කම දෙයාකාරයකින් දේශනා කොට තිබේ.

## 1. පාතිමොක්ඛ සංවරය

එනම් ඉතා කුඩා වරදෙහි පවා බිය දකිමින් සාමණේර දස සීලය හෝ උපසම්පද සීලය සමාදන්ව පිළිපැදීම යි.

## 2. අචාර ගෝචර සම්පන්න භාවය.

එනම් යාම්, ඒම්, ඉඳුම් හිටුම්, කෑම බීම ආදී සියලු කටයුතු ආචාර සම්පන්නව කිරීමත් නොහැසිරිය යුතු තැන්, ඇසුරු නොකළ යුතු පුද්ගලයන් ආදියෙන් ඈත් ව විසීමත් ය. මේ අනුව සීලයත් ආචාරයත් දෙක එකට තිබිය යුතු ගුණාංග දෙකකි. මෙයින් ශික්ෂා පද සීලය වාරිත්‍ර සීලය ලෙසත්, ආචාර සීලය චාරිත්‍ර සීලය ලෙසත් හඳුන්වනු ලැබේ. සීලාචාරකම යනු මේ දෙකට ම යෙදෙන පොදු ව්‍යවහාරය යි.

මහජනයා සිල්වත් කමට ගරු කරති. වඳිති. පුදති. එහෙත් ඔවුන් වඩාත් පැහැදෙන්නේ ආචාර සම්පන්නකමට ය. ඉහත සඳහන් ගාථාවෙන් චූල සුභද්‍රා කියන්නේත් ඒ ආචාර සම්පන්නකම ගැන ය. ශික්ෂා පද ගැන නොවේ. එද අධිරාජ්‍යයක් දිනාගෙනත් යුද්ධයේ බිහිසුණු සිදුවීම් නිසා සිත හද ගැනීමට නොහැකිව සිටි අශෝක රජතුමාගේ සිත හැදුණේ හත් හැවිරිදි නිග්‍රෝධ පොඩි හාමුදුරුවන්ගේ ආචාර සම්පන්නකමට ය.

මේ නිසා ආචාර සම්පන්නකම මහණකමේ වැදගත් ම අංගය යි සඳහන් කළහොත් නිවැරදි ය. මේ සඳහා දී ඇති බුද්ධෝපදේශය නම් '' අප්පසන්නා නං වා පසාද ය, පසන්නානං වා භීයෝයා භාවාය '' නොපැහැදුනවුන්ගේ පැහැදීම ඇති වන ලෙසත්, පැහැදුන වුන්ගේ පැහැදීම වැඩිවන ලෙසත් හැසිරිය යුතු බව යි. මෙයින් ශික්ෂා පදවලටත් වඩා ආචාර සම්පන්න භාවය හැඟවේ.

භික්ෂූන් වහන්සේ තුනුරුවන් අතරින් තුන්වන රුවන යි. මහජනයා උන්වහන්සේ නැති තැනත් ගුණ සිහි කරන හැටි චූල සුභද්‍රා කතාවෙන් පෙනේ. එසේ නම් ඔවුන් ඉදිරියේ පෙනී සිටින භික්ෂූන් වහන්සේ ඔවුන්ගේ සිතේ තිබෙන ඒ ගුණ ඇස් ඉදිරිපිට පෙනෙන ආකාරයට හැසිරිය යුතු ය.

ගිහි ඇත්තන්ට බොහෝ විට මේ ආචාර සම්පන්නකම එතරම් පුරුදු නැත. එයට කියන්නේ ග්‍රාම්‍ය ගතිය කියා ය. මේ නිසා ගිහිගෙය හැර පැවිදි වූ අලුත සීලාචාරකම්වල අඩු ලුහුඬුකම් තිබිය හැකි ය. බුදුරජාණන් වහන්සේ වැඩ සිටි කාලයේ පවා එබඳු සීලාචාරකම් පුරුදු නැති ඇත්තෝ සඟ මැද සිටිය හ. ඒ නිසා ඔවුන්ට අඳින පොරවන හැටි, මග යන එන හැටි, ගේ දොරවල හැසිරෙන හැටි, කන බොන හැටි, පමණක් නොව මල මුත්‍රා කරන හැටි පවා ඉගැන්වීමට සිදු විය. ශික්‍ෂා පද පැණවීමට පවා සිදු විය. එසේ පැණ වූ සීලාචාරකම පිළිබඳ ශික්‍ෂා පද සේඛියා නමින් හැඳින්වේ. බුදු දහමේ ඉගැන්වෙන පරිදි සේඛ යනු හික්මෙන්නා ය. සේඛියා යනු හික්මිය යුතු ආකාරය යි. කරුණු යි.

<u>සේඛියා</u>

## පරිමණ්ඩල වග්ගය

01. පෙළ :- පරිමණ්ඩලං නිවාසෙස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- හාත්පසින් වටකොට මනා ලෙස අඳනය අඳිමියි හික්මිය යුතු යි.

02. පෙළ :- පරිමණ්ඩලං පාරුපිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- හාත්පසින් වටකොට මනා ලෙස සිවුර පොරවමි යි හික්මිය යුතු යි.

03. පෙළ :- සුපටිච්ඡන්නො අන්තරඝරෙ ගමිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- මනා කොට සිවුර, අඳනය හැඳ පොරවා ඇතුළු ගමෙහි යමියි හික්මිය යුතු යි.

04. පෙළ :- සුපටිච්ඡන්නො අන්තරඝරෙ නිසීදිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- මනා කොට සිවුර හැඳ පොරවා ඇතුළු ගමෙහි හිඳිමියි හික්මිය යුතු යි.

05. පෙළ :- සුසංවුතො අන්තරඝරෙ ගමිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- මනා ලෙස සංවරව ඇතුළු ගමෙහි ගමන් කරමියි හික්මිය යුතු යි.

06. පෙළ :- සුසංවුතො අන්තරඝරෙ නිසීදිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- මනා ලෙස සංවර ව ඇතුළු ගමෙහි හිඳිමියි හික්මිය යුතු යි.

07. පෙළ :- ඔක්ඛිත්තචක්ඛු අන්තරඝරෙ ගමිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- පහත හෙළන ලද ඇස් ඇතිව ඇතුළු ගමෙහි ගමන් කරමින් හික්මිය යුතු යි.

08. පෙළ :- ඔක්ඛිත්තචක්ඛු අන්තරඝරෙ නිසීදිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- පහත හෙළන ඇසි ඇතිව ඇතුළු ගමෙහි හිඳිමි යි හික්මිය හික්මිය යුතු යි.

09. පෙළ :- න උක්ඛිත්තකාය අන්තරඝරෙ ගමිස්සාමීති සික්ඛා කරණීයා

10. තේරුම :- සිවුර ඔසවාගෙන ඇතුළු ගමෙහි නොයමියි හික්මිය යුතු යි.

11. පෙළ :- න උක්ඛිත්තකාය අන්තරඝරෙ නිසීදිස්සාමීති සික්ඛා කරණීයා

12. තේරුම :- සිවුර ඔසවාගෙන ඇතුළු ගමෙහි නො හිඳිමියි ''
හික්මිය යුතු යි.

## සක්කච්ච වග්ගය

1. පෙළ :- සක්කච්චං පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- සකස්ව ( සිහි කල්පනාවෙන් පිළිවෙළකට) දනය වළඳිමියි හික්මිය යුතු යි.

2. පෙළ :- පත්තසඤ්ඤීපිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- පාත්‍රයෙහි පිහිටුවාගත් සිහි ඇතිව දනය වළඳිමි යි හික්මිය යුතු ය.

3. පෙළ :- සපදානං පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- පාත්‍රයෙහි තම පැත්තේ සිට අනුපිළිවෙලින් දනය වළඳිමි යි හික්මිය යුතු ය.

4. පෙළ :- සමසූපකං පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බතට ප්‍රමාණවත් ව්‍යඤ්ජන සමග දනය වළඳිමියි හික්මිය යුතු යි.

5. පෙළ :- න ථූපතො ඔමද්දිත්වා පිණ්ඩපාතං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- පාත්‍රයේ මුදුනින් අනා දනය නො වළඳිමියි හික්මිය යුතු යි.

6. පෙළ :- න සූපං වා බ්‍යඤ්ජනං වා ඔදනෙන පටිච්ඡාදෙස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- සූප හෝ ව්‍යඤ්ජන හෝ බත් වලින් නො වසමි යි හික්මිය යුතු යි.

7. පෙළ :- න සූපං වා ඔදනං වා අත්තනො අත්ථාය විඤ්ඤාපෙත්වා භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- (නො ගිලන්ව) සූප හෝ බත් තමන් සඳහා ඉල්ලා නො වළඳිමියි හික්මිය යුතු යි.

8. පෙළ :- න උජ්ඣානසඤ්ඤී පරෙසං පත්තං ඔලොකෙස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- ගරහනු කැමතිව අනුන්ගේ පාත්‍රය දෙස නොබලමියි හික්මිය යුතු යි.

9. පෙළ :- නාති මහන්තං කබලං කරිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- ඉතා මහත් ව බත් පිඬු නො කරමියි හික්මිය යුතු යි.

10. පෙළ :- පරිමණ්ඩලං ආලොපං කරිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බත් පිඬු ගුලි කොට වළඳිමියි හික්මිය යුතු යි.

## කබල වග්ගය

1. පෙළ :- න අනාහටෙ කබලෙ මුඛද්වාරං විවරිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බත් පිඬ මුවට ළං වනතුරු මුව නො අරිමියි හික්මිය යුතු යි.

2. පෙළ :- න භුඤ්ජමානො සබ්බං හත්ථං මුඛෙ පක්ඛිපිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- වළඳින විට මුළු අත මුවට නො දමමියි හික්මිය යුතු යි.

3. පෙළ :- න සකබලෙන මුඛෙන බ්‍යාහරිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- මුව තුළ ආහාර ඇතිව කථා නො කරමි යි හික්මිය යුතු යි.

4. පෙළ :- න පිණ්ඩුක්ඛෙපකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බත් පිඬ මුවට විසි කරමින් නො වළඳිමියි හික්මිය යුතු යි.

5. පෙළ :- න කබලාවච්ඡෙදකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බත් පිඬ මුවින් කඩ කඩා නො වළඳිමියි හික්මිය යුතු යි.

6. පෙළ :- න අවගණ්ඩකාරකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- වඳුරන් මෙන් ආහාර හක්කේ තබාගෙන නො වළඳිමියි හික්මිය යුතු යි.

7. පෙළ :- න හත්ථ නිද්ධූනකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- අත ගසා දමමින් නො වළඳිමියි හික්මිය යුතු යි.

8. පෙළ :- න සිත්ථාවකාරකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බත් හුළු විසුරුවමින් අහර නොවළඳමියි හික්මිය යුතු යි.

9. පෙළ :- න ජිව්හා නිච්ඡාරකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- දිව එළියට දම දමා නො වළඳිමියි හික්මිය යුතු යි.

10. පෙළ :- න චපු චපු කාරකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- තලු ගසමින් ආහාර නො වළඳිමියි හික්මිය යුතු යි.

## සුරු සුරු වග්ගය ( මුල් හය )

1. පෙළ :- න සුරු සුරු කාරකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- සුරු සුරු යන හඬ ඇතිවන සේ නො වළඳිමියි හික්මිය යුතු යි.

2. පෙළ :- න හත්ථනිල්ලෙහකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- අත ලෙවකමින් නො වළඳිමියි හික්මිය යුතු යි.

3. පෙළ :- න පත්තනිල්ලෙහකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- පාත්‍රය ලෙවකමින් නො වළඳිමියි හික්මිය යුතු යි.

4. පෙළ :- න ඔට්ඨනිල්ලෙහකං භුඤ්ජිස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- දිවෙන් තොල් ලෙවකමින් නො වළඳිමියි හික්මිය යුතු යි.

5. පෙළ :- න සාමිසෙන හත්ථෙන පානීය ථාලකං පටිග්ගහෙස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- ඉඳුල් සහිත අතින් පැන් භාජනය නො පිළිගනිමියි හික්මිය යුතු යි.

6. පෙළ :- න සසිත්ථකං පත්තධොවනං අන්තරඝරෙ ඡඩ්ඩෙස්සාමීති සික්ඛා කරණීයා

තේරුම :- බත් හුළු සහිත පාත්‍රා සේදූ ජලය ගෙවල් අසල නො දමමියි හික්මිය යුතු යි.

**අභ්‍යාස**

01. සේඛියා අර්ථ සහිත ව වණපොත් කරන්න.

02. සේඛියාවල කියවෙන ආචාර ධර්ම නුපුරුදු කෙනෙකු ගැන පන්තියේ සාකච්ඡා කොට ඒවා පුරුදු පුහුණු කරගන්නා අයුරු පෙන්වා දෙන්න.

03. සේඛියාවල දැක්වෙන ආචාර ධර්මවලට සමාන තවත් සමාජයේ පිළිගත් සීලාචාරකම් ලැයිස්තුවක් පිළියෙල කරන්න.

# 19 ධම්ම පදය I

## හැඳින්වීම :-

බුද්ධ ධර්මය පිටක වශයෙන් කොටස් තුනකට බෙදේ. එයින් සූත්‍ර පිටකයෙහි ප්‍රධාන කොටස් පහකි. දීඝ නිකාය, මජ්ඣිම නිකාය, සංයුත්ත නිකාය, අඞ්ගුත්තර නිකාය, ඛුද්දක නිකාය, යනුවෙනි. ඛුද්දක නිකාය පොත් පසළොසකින් සමන්විත වේ. ධම්මපදය ඒ අතුරින් දෙවැන්න යි.

මුළු ත්‍රිපිටකයට අයත් සාරවත් ධර්ම කරුණු වෙන වෙන ම සැකෙවින් සරළ ව ගාථාවෙන් ගාථාවට ඇතුළත් වන බැවින් මෙම ග්‍රන්ථයට ධම්මපද යන නම ඉතාමත් උචිත වේ.

ධම්ම පදය වග්ග විසිහයකින් ( 26 ) යුක්ත ය. මුළු ග්‍රන්ථය ම සකස් වී අත්තේ ගාථාවලිනි. ගාථා සියල්ල 423 කි. බොහෝ වග්ගවල ඇතුළත් කරුණු එම වග්ගවලට දී ඇති නම්වලින් ම සිතා ගත හැකි ය. බාල, පණ්ඩිත වැනි නම් ඊට නිදසුන් ය.

බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කිරීමේ දී විවිධ ක්‍රම අනුගමනය කර ඇත. එම ලක්ෂණ රැසක් ධම්මපදයෙහි දක්නට ලැබේ. ගාථා යොදා ගැනීම හා උපමා යොදා ගැනීම එයට සාධකයන් ය. මෙහි එන උපමා සෑම අයෙකුට ම අත්දැකිය හැකි ඉතා සරල ඒවා ය. 'චක්කංව වහතො පදං' (ගොනා පසු පස යන කරත්ත රෝද මෙනි) 'දබ්බි සූපරසං යථා' (ව්‍යඤ්ජන රසය නො දන්නා හැන්ද මෙනි) 'උදකං හි නයන්ති නෙත්තිකා' (දියඇළිවෝ තමා කැමති තැනට දිය ගෙනයන්නාක් මෙනි) වැනි තැන් ඊට නිදසුන් ය. මෙ නිසා ධම්ම පදය ජන ජීවිතයට ඉතා සමීප වේ.

ප්‍රධාන වශයෙන් ධම්මපදය ධර්මෝපදේශ ග්‍රන්ථයකි. බුදුරජාණන් වහන්සේ තැන් තැන්වලදී කරන ලද දේශනාවන්හි ඇතුළත් සාරවත් ගාථා ධර්ම රාශියක් ධම්මපදයට එකතු කරගෙන ඇත. මෙහි විශේෂත්වයක් නම් නිවන් දැකීමට පමණක් නොව එදිනෙදා ජන ජීවතයේ දී මුළු මහත්

ලෝකයට ම වැදගත් උපදේශ මෙහි අන්තර්ගත වීම යි. මේ හැරුණු විට මෙහි එන හැම ගාථාවක් සම්බන්ධව ම කථාවක් ද තිබේ. එම කතා පුවත ඇතුළත් වන්නේ මෙයට ම සපයන ලද ධම්මපදට්ඨ කථා නම් වූ අටුවා ග්‍රන්ථයෙහි ය.

මෙය අතේ ගෙන යා හැකි තරම් ඉතා කුඩා පොතක් ව තිබීම තවත් විශේෂ ලක්ෂණයකි. බෞද්ධ ජනතාව ධම්මපදය අත් පොතක් ලෙස භාවිත කරති. ධර්ම දේශකයන් වහන්සේලා අතර වැඩිපුර ම භාවිත වන ග්‍රන්ථය ධම්ම පදයයි. විශේෂයෙන් නවක දේශකයන් වහන්සේලාට ධර්ම දේශනා පුහුණුවට ඉතා උචිත ග්‍රන්ථයක් ලෙස ද ධම්මපදය හා එම අටුවාව වැදගත් වේ.

ධම්ම පදයෙහි වටිනාකම තේරුම් ගත් විද්වතුන් එය ලොකයේ විවිධ භාෂාවන්ට පරිවර්තනය කර ඇත. මෙහි ඇති වග්ග විසිහය (26) අතුරින් මුල් වග්ග දෙක වන යමක හා අප්පමාද යන වග්ග දෙක මෙහි ඇතුළත් වේ.

# යමක වග්ගය

## 19.1 කළ කළ දේ පළ පළ දේ

සැවැත් නුවර මහා සුවණ්ණ නම් කෙළෙඹියෙක් සිටියේ ය. හේ මහා ධනවතෙකි. එහෙත් ඔහුට දරුවන් නැත. ඔහු සිටියේ ඒ ගැන කණස්සල්ලෙනි. දිනක් ඔහුට අතරමග අතුපතර ගැවසීගත් මහා නුග ගසක් මුණ ගැසිණි. එහි කිසියම් මහානුභාව සම්පන්න දෙවියෙකු අධිගෘහිතව ඇතැයි ඔහුට සිතිණි. ඒ ගස මුල හොඳින් පිරිසිදු කොට පවුරක් බැඳ, වැලි අතුරවා, ධජ පතාක ඔසවා, අලංකාර කරවූ හෙතෙම, පුතෙකු හෝ දුවක ලැබෙන්නට බාරයක් වී ගියේ ය. නොබෝ කලකින් ම ඔහුගේ බිරිඳ ගැබ්බර වූවා ය. කෙළෙඹියා ගැබ් පෙරහර කරවා සියලු සංග්‍රහ කළේ ය. දස මසක් ඇවෑමෙන් ඕ පුතෙකු වැදුවා ය. කෙළෙඹියා ද තමා පාලනය කළ වනස්පති ය නිසා ලද පුතු බැවින් ඔහුට පාල යැයි නම් තැබී ය. නොබෝ කලකින් ඇය තවත් පුතෙකු බිහි කළා ය. ඔහුට චුල්ලපාල යනුවෙන් නම් තබා වැඩිමහල්ලාට මහාපාල යැයි නම් තැබී ය. නිසි වයසට පැමිණි ඔවුහු දෙදෙන විවාහ දිවියට පත්වූහ. මෙ සමයෙහි බුදුරජාණන් වහන්සේ අනේපිඬු සිටුතුමාගේ දෙව්රම් වෙහෙර වැඩ වාසය කරන සේක.

දෙව්රම් වෙහෙරට යන සෙනඟ පසු පස ගොස් බණ ඇසූ මහාපාලයන් කම් සැප කෙරෙහි කළකිරුණේ ය. තමන් සතු සියලු දේපළත් අඹු දරුවනුත් තම සොයුරාට පවරා දී හේ පැවිදි විය.

උන් වහන්සේ මහලු වියේදී පැවිදි වූ බැවින් බුදුරදුන්ගෙන් කමටහන් ගෙන විදර්ශනා ධුරය පුරන්නට විය.

ඉක්මනින් සිත දමනය කරනු පිණිස උන් වහන්සේගේ නේසජ්ජිකාංග ධූතාංගය සමාදන් ව භාවනා වැඩී ය. ඒ ධූතාංගය සමාදන් වූ කෙනෙක් සැතපීමේ ඉරියව්වෙන් තොරව අනෙක් ඉරියව් තුනෙන් පමණක් කල් ගෙවිය යුතු ය. මේ ධූතාංගය පුරමින් මසක් පමණ නිදි වරන විට උන් වහන්සේගේ ඇසේ රෝගයක් හට ගත්තේ ය. නොයෙක් වෙදදුරන් ඇසට වෙදකම් කළ ද නිදි වැරීමත්, ඇසට බෙහෙත් උරාගන්නට සැතපෙන ඉරියව්වෙන් නොසිටීමත් නිසා රෝගය උත්සන්න විය. ඇසේ රුදුව නොතකා උන් වහන්සේ වීර්ය වැඩූහ. අන්තිමේ දී සියලු කෙලෙසුන් නසා රහත් ඵලයට පත් වූහ. ඒ සමගම උන් වහන්සේගේ ඇස් නොපෙනී ම ගියේ ය.

වැසි දිනවල සක්මන් කරන උන් වහන්සේගේ පයට පෑගෙන ගැඩවිලි, පණු ආදිහු නොදැනුවත්ව මිය යති. මේ ගැන සෙසු භික්ෂූහු බුදුරදුන්ට පැමිණිලි කළහ. මහණෙනි, රහතුන්ට මරණ චේතනාව නැතැයි උන්වහන්සේ වදාළහ. එවිට භික්ෂූන් වහන්සේලා, රහත් වීමට තරමේ හේතු සම්පත් ඇති කෙනෙක් කෙසේ අන්ධ වූයේ දැයි බුදුරදුන්ගෙන් විමසා සිටියෝ ය.

'' මහණෙනි, පෙර උන්වහන්සේ දක්ෂ වෙදදුරෙකි. ඇස් රෝගයෙන් පෙළුණු එක් කාන්තාවක් ඔහු වෙත පැමිණ තමාගේ දෙනෙත් සුවපත් කළහොත් දිවි හිමියෙන් දසියක් වන්නෙමි '' යි කීවාය. ඒ පොරොන්දුව පිට හෙතෙම වෙදකම් කළේ ය. එක් බෙහෙතකින් ම රෝගය සුව අතට හැරුණි. එහෙත් වෙදදුරා ඇගෙන් සුවදුක් විමසූ විට පොරොන්දුව ඉටු කරන්නට වන නිසා රෝගය තිබුණාටත් වඩා වැඩි යැයි ඇය කීවා ය. මෙයින් කිපුණු වෙදදුරු '' ඉතිරි ටිකත් සුවපත් කරන්නෙමි '' යි කියා බෙහෙතක් දුන්නේ ය. එයින් ඇයගේ දෑස් නොපෙනී ගියේ ය. මහණෙනි, ඒ කර්මය මුන් වහන්සේ පසු පස දුක් දෙමින් ලුහු බැඳ අවුත් රහත් වන මොහොතේත් දෑස අන්ධ කළේ යැයි වදරා මේ ගාථාව දේශනා කළ සේක.

මනො පුබ්බංගමා ධම්මා
මනො සෙට්ඨා මනොමයා
මනසා චෙ පදුට්ඨෙන
භාසති වා කරොති වා
තතො නං දුක්ඛමන්වෙති
චක්කං ව වහතො පදං

සියලු කුසලාකුසල ධර්මයන්ට සිත මුල් වේ. සිත ප්‍රධාන වේ. ඒවා සිතින් ම උපදී. යමෙක් කිළිටි සිතින් යමක් කියයි නම් හෝ කරයි නම් එහි විපාකය ගැල ඇදගෙන යන ගොනුන්ගේ පසු පස එන රිය සක මෙන් දුක් දෙමින් ඔහු පසු පස ලුහු බැඳ එයි.

## 19.2 බුදුන් කෙරෙහි සිත පහදවා ගත් පමණින් දෙව්ලොව ගිය තරුණයා

සැවැත් නුවර ධනවත් බමුණෙක් විසීය. හේ ඉතා මසුරෙකි. කෝටි ගණන් ධනය තිබුණත් ඔහු හරි හැටි භුක්ති වින්දේ නැත. පිනකට දහමකට දෙනවා තබා නෑ හිතවතෙකුටවත් කිසිවක් දුන්නේ ද නැත. එ නිසා හේ **අදින්නපුබ්බක** යයි ප්‍රසිද්ධ විය. ඔහුට සිටියේ එකම පුතෙකි. ඔහුට රන් ආභරණයක් තැනීමට මුදල් වැයවන නිසා **අදින්නපුබ්බක** රන් කැබලි දෙකක් තමා ම තලා සිදුරු කොට පුතුගේ කණේ එල්ලී ය. එ නිසා ඔහුගේ යහලුවෝ ඔහුට **මට්ටකුණ්ඩලී** යැයි නම් පට බැන්දෝ ය.

මේ මසුරු ගෙදර දරුවාට හරි හැටි කෑම බීමක්වත් නැත. මන්දපෝෂණයෙන් දරුවාට පාණ්ඩු රෝගය වැළඳුණි. වෛද්‍යවරුන් ගෙන්වුව හොත් වියදම් වෙති' යි බියෙන් හෙතෙම වෙදුන් වෙත ගොස් රෝගය ගැන කියා ඊට දෙන බෙහෙත් අසයි. ඔහු ගැන දන්නා වෙදදුරෝ බොරු බෙහෙත් කියති. ඒවා පෙවීමෙන් දරුවාගේ රෝගය වැඩි වී මරණාසන්න විය.

දැන් මට්ටකුණ්ඩලී ඇඳේ පණ අදී. මොහු මිය ගිය හොත් ගෙදරට එන නෑ හිතවතුන් ධනය දැක දොස් කියනු ඇතැයි බිය වූ පියා පුතු ආලින්දයේ ඇඳක තබා දොරවල් වසා දැම්මේ ය.

මහා කරුණාවෙන් ලොව බලා වදරණ බුදුරජාණන් වහන්සේට එදා අසරණ මට්ටකුණ්ඩලීව පෙණුණි. උන් වහන්සේ උදෑසන ම ඒ නිවස ඉදිරිපිටට වැඩම කළහ. බිත්තියට වැටුණු අමුතු ආලෝකයක් දුටු මට්ටකුණ්ඩලී අපහසුවෙන් ඒ දෙස බැලුවේ ය. බුදුරජාණන් වහන්සේ දුටු මට්ටකුණ්ඩලීගේ සිත ශ්‍රද්ධාවෙන් පිරී ගියේ ය. වඳින්නට සැරසුණත් දෑත ඔසවන්නට පණක් නොවී ය. එකෙණෙහි ම මිය ගිය හෙතෙම දෙව් ලොව උපන්නේ ය. බුදුරජාණන් වහන්සේ වෙහෙරට වැඩියහ.

මට්ටකුණ්ඩලීගේ සිරුර සොහොනට ගෙන ගොස් දමන ලදී. තමා කළ ක්‍රියාවේ බරපතලකම පියාට දැනෙන්නේ දැන් ය. මුළු රෑ ම අදින්නපුබ්බක සොහොනට වී හඬයි, වැළපෙයි. මේ අතර තවත් තැනක කඩවසම් තරුණයෙක් වැළපෙමින් සිටියි. අදින්න පුබ්බක එතැනට ගොස් ඔහුගෙන් හඬන්නේ ඇයිදැයි විමසී ය. තමාගේ රථයට රෝද දෙකක් නැති හෙයින් අඬන බව තරුණයා කීය. දැන් අදින්න පුබ්බකගේ මසුරුකම නැත. හෙතෙම ඔහුට රනින් හෝ රිදියෙන් වුවත් රෝද තනවා දෙන්නට සූදානම් ය. එහෙත් තරුණයා ඉල්ලන්නේ ඉර හඳ දෙක ය. අදින්න පුබ්බක එය මෝඩ ඉල්ලීමකැ'යි කියා සිනා සුණේ ය. එවිට තරුණයා මා ඉල්ලන්නේ පෙනෙන දෙයකි. ඔබ ඉල්ලන්නේ නොපෙනෙන පුතෙකි. අප දෙදෙනාගෙන් වඩා මෝඩ කවුරු දැයි කීය. අදින්න පුබ්බකට කාරණය වැටහිණි. '' පුත ඔබ කවුරුද'යි හේ ඇසී ය. පියාණනි, ඔබේ පුතු මම ය. මම දෙව් ලොව උපන්නෙමි'යි කීය. ඒ කවර පිනකින් දැයි පියා විමසූ විට බුදුරදුන් දැක සිත පහන් කරගත් පුවත විස්තර කළේ ය. මසුරුකම පහව ගිය අදින්න පුබ්බක පසුදා බුද්ධ ප්‍රමුඛ සංඝයාට මහ දනක් පිළිගැන්වී ය. වළඳා අවසානයේ '' ස්වාමීනි වෙන කිසිදු පිනක් නොකොට තථාගතයන් වහන්සේ කෙරෙහි සිත පහදවාගත් පමණින් දෙව් ලොව ගිය අයත් සිටිත් ද''යි බමුණා විමසී ය. 'ඇයි බමුණ ! ඒ අන් කවරෙකුවත් නොව ඔබේ ම පුතු මට්ටකුණ්ඩලී නොවේද'යි වදරා, මේ ගාථාව දේශනා කළ සේක.

මනො පුබ්බංගමා ධම්මා
මනො සෙට්ඨා මනොමයා
මනසා චෙ පසන්නෙන
භාසති වා කරොති වා
තතො නං සුඛමන්වෙති
ඡායාව අනපායිනී

සියලු කුසලාකුසල ධර්මයන්ට සිත පෙරටු වේ. සිත ප්‍රධාන වේ. ඒවා සිතින් ම උපදී. පිවිතුරු සිතින් යමක් කියයි නම් හෝ කරයි නම් එහි විපාකය අත් නොහැර බොහොම සැහැල්ලුවෙන් තමා පසු පස එන සෙවනැල්ල මෙන් ගෙන දෙමින් ලුහු බැඳ එයි.

## 19.3 උඩඟුකමින් දූපී සිටි ථුල්ල තිස්ස තෙරුණුවෝ

තිස්ස තෙරුණුවෝ බුදුරදුන්ගේ සහලේ නෑයෙකි. සුද්ධෝදන රජතුමාගේ නැගණියගේ පුතු ය. තරමක් මහලු වියේ පැවිදි වූ උන් වහන්සේ බණ දහම් ඉගෙනීමට හෝ බණ භාවනා කිරීමට උනන්දු නොවී ය. බුදුරදුන්ට ලැබෙන මිහිරි දේ වළඳා පුෂ්ටිමත් වූ සිරුරු ඇතිව නිතර උටැන්හලෙහි ම කල් ගෙවයි. එනිසා ම උන්වහන්සේට ථුල්ලතිස්ස යැයි නමක් පටබැඳුණි.

බුදුරදුන්ගේ නෑකම හිතට ගත් උන් වහන්සේ උවටැන් හලෙහි මහ අසුනක වැඩ හිඳී. වැඩි මහලු තෙරවරු පැමිණියත් හුනස්නෙන් නො නැගිටියි. වතාවත් ආදී කිසිවක් නොකරයි. වැඩිහිටි තෙරවරු පවා මහතෙර නමකැයි සිතා උන් වහන්සේට වැඳුම් පිදුම් කරති. තිස්ස තෙරණුවෝ උඩගුකම නිසා ඒ සියල්ල නිහඬ ව ඉවසති.

දිනක් ආගන්තුක හිමි නමක් උන්වහන්සේගේ වස් ගණන විචාළේ ය. එයින් උන්වහන්සේ අළුත පැවිදි වූ කෙනෙකු බව දැනගත් භික්ෂූන් වහන්සේලා මෙතරම් බාල කෙනෙක් මහ තෙරවරුන්ගෙන් වැඳුම් පිදුම් ලබන්නේ කුමන නිර්ලජ්ජිකම නිසා දැයි චෝදනා කළහ. එයින් මහත් සේ කිපුණු ථුල්ලතිස්ස තෙරුණුවෝ බුදුරදුන් වෙත හඬාගෙන ගොස් එය පැමිණිලි කළ හ. එවිට

බුදුරජාණන් වහන්සේ තිස්ස ඔබ සිටියේ කොහි ද? ස්වාමීනි, වෙහෙර මැද උපස්ථාන ශාලාවෙහි ය. මේ භික්ෂූන් වඩිනවා දුටුවා ද? එසේය ස්වාමීනි' ඔබ පෙර ගමන් කළා ද? පා සිවුරු පිළිගත්තා ද? පා දෝනා පැන් තැබුවා ද? අසුන් පැනෙව්වා ද? '' තිස්ස තෙරුන් ඒ සියල්ලට ම නැතැයි කීය. '' තිස්ස වැඩි මහලු භික්ෂූන්ට වැඳ මේ සියලු දේ කළ යුතු යි. එසේ නොකරන්නෙකු වෙහෙර මැද නොසිටිය යුතු යි. වරද ඔබේ ය. මේ භික්ෂූන්ට වැඳ සමාව ගන්නැ'' යි වදළ හ. '' ස්වාමීනි, මොවුන් මට බැන්නා. මම සමාව නොග නිමි මොවුන් මගෙන් සමාව ගත යුතුය'යි '' තිස්ස තෙරණුවෝ වදාළ හ. උන්වහන්සේ බුදු වදනට වත් නැමුණේ නැත. ස්වාමීනි, මේ තිස්ස තෙරුන් අකීකරු නොවේදැයි අනෙක් භික්ෂූහු පැවසූ හ. එවිට බුදුරජාණන් වහන්සේ '' මහණෙනි, මොහු අකීකරු වූයේ අද පමණක් නොවේ '' යයි පෙර දේවල තාපසයන් වූ බෝසතාණන් වහන්සේට නාරද තාපසව සිටි තිස්ස තෙරුන් අකීකරු වූ පුවත වදරා තිස්ස තෙරුන්ට අවවාද කරමින් මේ ගාථා දෙකින් දහම් දෙසූ හ.

අක්කොච්ඡි මං අවධි මං
අජිනි මං අහාසි මේ
යෙතං උපනය්හන්ති
වෙරං තෙසං න සම්මති

අසවලා මට බැන්නේ ය. අසවලා මට ගැසුවේ ය. අසවලා මා පරදවා ජය ගත්තේ ය. අසවලා මා සතු දේ පැහැර ගත්තේ ය. යනුවෙන් සිතමින් වෛර බඳින්නන්ගේ වෛරය කිසිද නො සංසිඳේ.

අක්කොච්ඡි මං අවධි මං
අජිනි මං අහාසි මේ
යෙතං උපනය්හන්ති
වෙරං තෙසූපසම්මති

අසවලා මට බැන්නේ ය. අසවලා මට ගැසුවේ ය. අසවලා මා පරදවා ජය ගත්තේ ය. අසවලා මා සතු දේ පැහැර ගත්තේ ය. යනුවෙන් නොසිතන වෛර නොබඳින්නාගේ වෛරය සංසිඳේ.

උපනය්හන්ති - " බද්ධවෙරමූපනාහෝ " උප නාහය යනු බද්ධ වෛරය යි. නැවත නැවත වෛර බැඳීම යි.

## 19.4 වෛරයෙන් වෛරය නොසන්සිඳේ

එක්තරා තරුණයෙක් තම පියා මළ පසු කුඹුරු වැඩත්, ගෙදර වැඩත්, කරමින් මවට ද උවටැන් කරමින් වාසය කළේ ය. පුතු විඳින වෙහෙස දුටු මෑණියෝ ඔහුට ආවාහයක් කර දෙන්නට කල්පනා කළා ය. මුලදී එයට අකැමැති වූ තරුණයා මවගේ පෙරැත්තය නිසා ම අන්තිමේදී එකඟ විය. නිසි සිරිත් විරිත් ඉටු කර ගෙදරට කුමරියක් කැන්දගෙන එන ලදී.

කලක් ගත විය. ඇය දරුවන් නැති වඳ ගැහැණියකි. පුතෙකු නැතිව කුලය වැනසේ යැයි සිතූ මව තවත් කුමරියක ගෙන එන්නට යෝජනා කළා ය. පුතු අකමැති විය. එවිට පළමු බිරිය ම ඉදිරිපත් වී ඔහුට කුමරියක කැන්ද දුන්නා ය. දෙවන බිරියට දරුවකු ලැබෙන සලකුණු පහළ විය. දරුවා ලැබුණු විට සියලු ධනය ඇයට හිමිවේය යන බිය නිසා පළමු බිරියට ඊර්ෂ්‍යාව ඇති විය. තම යෙහෙළියට කැඳ බත් දී සලකන මුවාවෙන් බෙහෙතක් දී ඇය ගබ්සා කළා ය. මෙසේ දෙවරක් ම සිදු විය. තුන්වන වර ඇය තමා ගැබ්බර බව සඟවාගෙන සිටියා ය. ගැබ මෝරා ගියේ ය. පළමු තැනැත්තියට ඉවසුම් නැති විය. තමාට ඒ ගැන නොකීම ගැන බැණ වැදුණු ඈ එවර ද ගැබ නසන්නට බෙහෙතක් බලහත්කාරයෙන් ම පෙව්වාය. ගැබ මෝරා ගිය හෙයින් හරස් වී, මව ද මරණාසන්න වූවා ය. එහි දී කෝපයෙන් වියරු වූ ඇය "මගේ දරුවන් තිදෙනෙකු නසා දැමූ තිගේ දරුවන් යකිනියක වී කා දමමි" යි කියා වෛරයෙන් ම මිය ගියා ය.

ඇය මිය ගොස් ඒ නිවසෙහි ම බැළලියක වී උපන්නා ය. සිද්ධියෙන් කෝපයට පත් සැමියා ගැසූ පහරින් අනෙක් ස්ත්‍රිය මිය ගොස් එහි ම කිකිළියක වී උපන්නා ය. පතා ගෙන ආ පරිදි ම කිකිළිය දමන දමන බිත්තර බැළලිය කා දමයි. මෙයින් වෛර බැඳගත් කිකිළිය මමත් නුඹේ දරුවන් කන්නෙමි'යි

වෛරයෙන් ම මිය ගොස් කොටි දෙනක වී උපන්නා ය. බැළලිය ඒ වනයෙහි ම මුව දෙනක ව උපන්නා ය.

මුව දෙන වදන වදන පැටියා කොටි දෙන අවුත් කා දමයි. එයින් වෛර බැඳගත් මුව දෙන 'මමත් නුඹේ දරුවන් කා දමන්නෙමි' යි වෛරයෙන් මිය ගොස් අප බුදුන් දවස සැවැත් නුවර යකිනියක ව උපන්නා ය. අනෙක් තැනැත්තිය පරණ පිනකින් එනුවර කුල දුවක ව උපන්නා ය. කුල දුව දරුවෙකු බිහි කළ විට යකිනිය යෙහෙළියක ගේ වේශයෙන් අවුත් සුරතල් කරන මුවාවෙන් දරුවා වඩාගෙන කා දමයි. මෙසේ දෙවරක් ම සිදු විය.

තුන්වෙනි වර කුල දුව මව්පියන් වෙත ගොස් එහිදී දරුවා බිහි කළා ය. යකිනිය ඇය සොයා එහෙ මෙහෙ දුවන්නට විය. දරුවා ද රැගෙන ආපසු එන දෙමහල්ලන් නාන පොකුණක් ළඟ සිටිය දී හදිසියෙන් ම යකිනියට මුණ ගැසිණ. බියපත් ස්ත්‍රිය දරුවා රැගෙන දුවන්නට වූවා ය. යකිනිය ඈ පසු පස ලුහු බඳියි. ස්ත්‍රිය දරුවා රැගෙන දිගට ම ගියේ දෙව්රම් වෙහෙර තුළට ය. දෙවියන්ගේ ආරක්ෂාව නිසා ඇතුළට යා නොහැකි ව යකිනිය දොරටුව අසල නැවතුණා ය. කුල දුව දරුවා බුදු පා මුල තබා හඬමින් තම දුක් ගැනවිල්ල කියා සිටියා ය. ඒ මොහොතේ අනඳ තෙරුන් යවා යකිනිය කැඳවූ බුදුරජාණන් වහන්සේ " ඔබ මෙසේ කරන්නේ ඇයි? අද බුදු කෙනෙකුන් හමු නොවුණා නම් වලස් කොළොම් දබරය මෙන් ද කපුටු බකමුහුණු වෛරය මෙන් ද කප තිබෙන තුරු මේ වෛරය නොසංසිඳෙන්නේ යැයි වදරා මේ ගාථාවෙන් දහම් දෙසූ සේක.

නහි වෙරෙන වෙරානි
සම්මන්තීධ කුදාචනං
අවෙරෙන ච සම්මන්ති
එස ධම්මො සනන්තනො

මෙ ලොව කිසි කලෙකත් වෛරයෙන් වෛරය නොසන්සිඳේ. වෛරය අවෛරය හෙවත් මෛත්‍රියෙන් ම සන්සිඳේ. මෙය පෙර සිට පැවත එන සදාකාලික දහමකි.

මේ දේශනාව අවසානයේ යකිනිය සෝවාන් පලයෙහි පිහිටියා ය. ඉන්පසු බුදුරදුන්ගේ අනුමැතියෙන් දරුවා අතට ගෙන සිප වැළඳ ගෙන ආපසු මවට දුන්නා ය. එහෙත් මෙතැන් සිට ප්‍රාණඝාත නොකරන තමාට අහර ලබන්නට ක්‍රමයක් නැති හෙයින් යකිනිය හඬන්නට වූවා ය. එවිට බුදුරජාණන් වහන්සේ ඇය කැඳවා ගෙන ගොස් පෝෂණය කරන්නට කුල දුවට ම භාර කළා ය. දුන් ඇය ගෙය පිටුපස මඩුවක යකිනිය නවත්වාගෙන සලකයි. එහෙත් කුස්සියේ පිටි කොටන, මෝල් හඬ යකිනියට ඉවසිය නොහැක. ඇය ඒ බව යෙහෙළියට කීවා ය. ක්‍රමයෙන් ගෙයින් තරමක් ඈත තැන් තැන්වල නවත්වන ලදී. ළමයින්ගෙන් බල්ලන්ගෙන් ඉඳුල්වලින් කසලවලින් වන හිරිහැර නිසා ඇයට කිසි තැනක සිටිය නොහැකි විය. අන්තිමේදී ගමෙන් පිටත තැනක් පිළියෙල කොට යකිනිය එහි නවත්වා නිතිපතා ආහාර පාන ලබා දෙන ලදී. එහිදී යකිනිය යෙහෙළියට ගොවිතැන් ආදිය පිළිබඳ නොයෙක් අනාවැකි කියයි. කුළ දුව ඒ ගැන ගැමියන් ට කියා විපත්වලින් ගම ගලවා ගනී. සම්පත් උදා කර දේ. මේ තොරතුරු දන්නේ කෙසේදැයි මිනිස්සු කුල දුවගෙන් විමසූහ. අසවල් තැන සිටින යක්ෂණිය අනාවැකි කියන්නී ය. ඔබත් ආහාර පාන ගෙන ගොස් දුන්නොත් ඔබට ද උපකාර කරනු ඇතැයි ඇය කීවා ය. එතැන් පටන් ඒ නුවර වැසියෝ ඇයට සත්කාර කරන්නට පටන් ගත්තෝ ය. යකිනිය ඔවුන්ට උපකාර කළා ය. අද දක්වාත් ඕ ඒ සත්කාර ලබමින් ජනයාට උපකාර කරන්නී ය.

## 19.5 කොසඹෑ නුවර විනය කෝලහලය

කොසඹෑ නුවර ඝෝෂිතාරාමයෙහි පන්සියයක් පිරිවර ඇති ප්‍රසිද්ධ විනයධර භික්ෂූන් වහන්සේ නමක් ද පන්සියයක් පිරිවර ඇති ප්‍රසිද්ධ ධර්ම කථිකයන් වහන්සේ නමක් ද විසූ හ. මෙයින් ධර්ම කථික තෙරුන් වහන්සේ දිනක් වැසිකිළි බඳුනෙහි ජලය ටිකක් ඉතිරිකොට නික්ම ගොස් තිබුණි. විනයධර භික්ෂූන් වහන්සේ උන්වහන්සේට වරද පෙන් වූහ. එවිට ධර්ම කථික තෙර තමා වරද නොදන්නා බවත් පිළියම් කිරීමට කැමති බවත් කීය. නොදැන කළ හෙයින් ඇවැතක් නැතැයි විනයධර තෙරණුවෝ කීහ. ධර්ම කථික තෙර එතෙකින් එය අමතක කර දැමී ය.

එහෙත් විනයධර තෙර නම "ධර්ම කථිකයන් වහන්සේ තමාට ඇවතක් සිදු වී තිබියදීත් එය නොදනිතියි", තමන් වහන්සේගේ පිරිසට කියමින් උපහාස

කළහ. එවිට ධර්ම කථිකයන් වහන්සේ "විනයධර තෙර නම මුසාවාදියෙකි. මුලදී වරද නැතැයි කියා දැන් වැරදි යැයි කියති"යි පෙරළා චෝදනා කළහ.

මෙසේ දෙපිරිස අතර විවාදය වැඩි වී ගියේ ය. අනතුරු ව විනයධරයෝ ධර්ම කථික හිමියන්ට වරද නොදැකීම පිළිබඳ ව **උක්ඛෙපනීය කර්මය** කළහ. එයින් තත්ත්වය තවත් උග්‍ර විය. එතැන් පටන් ඒ ඒ භික්ෂු පිරිසට පක්ෂ දායකයෝ ද, උපස්ථායකයෝ ද, භික්ෂුණියෝ ද, දේවතාවෝ ද යනා දී සෑම තලයක ම අය දෙපක්ෂයට බෙදී ගියහ. අකනිටා බඹලොව දක්වා මේ කෝලාහලය ප්‍රසිද්ධව ගියේ ය. බුදුරජාණන් වහන්සේ ඔවුන්ට සමගි වන ලෙස දෙවරක් ම දන්වා යැවූ නමුත් කිසිවෙක් ඊට අවනත නොවූහ. අනතුරුව උන්වහන්සේ එතැනට වැඩමවා සමගියේ අනුහස් පෙන්වා දෙමින් **ලටුකික ජාතකය** වදාළ සේක. එයත් නොපිළිගත් විට **දීඝීති කෝසල ජාතකය** ද දේශනා කළහ. එයින් ද විවාදය නොසන්සිඳුණි.

එවිට බුදුරජාණන් වහන්සේ 'මේ භික්ෂුහු මගේ වචනය නොපිළි ගනිති. මා මොවුන්ගෙන් වෙන් ව හුදකලාව විසුව මැනව'යි. තනිව ම පා සිවුරු ගෙන පාරිලෙය්‍ය වනයට වැඩම කොට එහි වස් විසූහ. ඒ තුන්මස පාරිලෙය්‍යක ඇතා බුදුරදුන්ට උපස්ථාන කළේ ය. බුදුරදුන්ටත් අවනත නොවීම නිසා භික්ෂු පිරිස ගැන කළකිරුණු කොසඹෑ නුවර ජනයා ඔවුන්ට සිවුපසය දීමත් ඔවුන් සමග කතා කිරීමත් නතර කර දැමූහ.

අවසානයේ දී භික්ෂූන් වහන්සේලා වරද පිළිගෙන සමගි වූහ. එහෙත් බුදුරජාණන් වහන්සේගෙන් සමාව ගන්නා තුරු මහජනයා තම තීරණය වෙනස් නොකළහ. අනතුරු ව අනඳ තෙරණුවෝ වෙනත් භික්ෂූන් වහන්සේලා පන්සියයක් සමග පාරිලෙය්‍ය වනයට ගොස් භික්ෂූන් නවතා, තනිව බුදුරදුන් හමුවීමට ගියේ ය.

එවිට පාරිලෙය්‍යය ඇතු දණ්ඩක් ගෙන පහර දීමට පැන්නේ ය. බුදුරජාණන් වහන්සේ ඔහු වළකාලී ය. පසුව පන්සියයක් භික්ෂූහු ද එහි වැඩිය හ. පසු ද ඇතාගේ කැමැත්ත පරිදි උන්වහන්සේලාට දවසක් වනයේ ගත කරන්නට සිදු විය. පාරිලෙය්‍යක ඇතා බුද්ධ ප්‍රමුඛ සංඝයාට පලතුරු වලින් දානය සැපයී ය. අනඳ හිමියන්ගේ ඇරයුම පිළිගෙන බුදුරජාණන් වහන්සේ ආපසු ඒමට පිටත් වූහ. පෙරළා වඩින විට පසු පසින් ම හඬ හඬා පැමිණි පාරිලෙය්‍යයක ඇතා ගම් මායිම අසල දී බුදුරජාණන් වහන්සේ විසින්

නවතන ලදී. බුදුරදුන් පේන තෙක් මානයෙන් ඉවත්වන තුරු ම සංවේගයෙන් බලාසිටි ඇත් රජු හද පැලී මිය ගොස් තව්තිසා දෙව්ලොව පාරිලෙය්‍යක දිව්‍ය පුත්‍රව උපන්නේ ය. බුදුරජාණන් වහන්සේ භික්ෂූන් පිරිවරා දෙව්රම් වෙහෙරට වැඩම කළ සේක.

මේ අතර කොසඹෑ නුවර භික්ෂූහු බුදුරජාණන් වහන්සේගෙන් සමාව ගැනීමට සැවැත් නුවර බලා පිටත් වූහ. සිද්ධිය සැළ වී කොසොල් රජතුමා ඒ භික්ෂූන්ට විජිතයට ඇතුල් වීමට ඉඩ නොදෙන්නට සැරසුණේ ය. අනේපිඬු සිටුතුමා ද දෙව්රම් වෙහෙරට පිවිසීම ද වළක්වාලන්නට සූදානම් විය. බුදුරජාණන් වහන්සේ කරුණු කියා දෙදෙනා ම වැළකූහ. භික්ෂු පිරිස බිම බලා ගෙන ම මහත් ලැජ්ජාවෙන් පැමිණ බුදුරදුන් සමා කරවා ගත්හ. ඒ මොහොතේ ඔවුන් කළ වරදෙහි බරපතලකම පෙන්වා දෙමින් බුදුරජාණන් වහන්සේ මේ ගාථාව දේශනා කළ සේක.

පරෙ ච න විජානන්ති
මයමෙත්ථ යමාමසෙ
යෙ ච තත්ථ විජානන්ති
තතො සම්මන්ති මෙධගා

කෝලාහල කරන සමහර කෙනෙක් මෙයින් අප නැසෙනු ඇත. වැනසෙනු ඇතැයි කියා හෝ නොදනිති. යම් කෙනෙක් ඒ බව දනිත් නම් එයින් ඔවුන්ගේ කළහයෝ සන්සිඳෙති.

## 19.6 මහණකමෙහි කලකිරවන සුබ දසුන්

දඹදිව සේතව්‍ය නුවර **චූලකාල**, **මජ්ඣිම කාල**, **මහා කාල**, යයි වෙළඳ පුත්‍රයෝ තිදෙනෙක් විසූහ. එයින් වැඩි මහලු සහ බාල සොහොයුරෝ දෙදෙන තැන තැන ගොස් වෙළඳ බඩු රැස් කරගෙන එති. මජ්ඣිම කාල ඒ බඩු විකුණයි.

වරක් චූලකාල සහ මහකාල දෙදෙනා වෙළඳ බඩු සොයා සැවැත් නුවර ගියෝ ය. සවස් යාමයෙහි ගැල් මුදහැර සිටින අතර මහාකාලට දෙව්රම් වෙහෙරට යන පිරිසක් මුණ ගැසුණි. ඔවුන් බුදුරදුන්ගෙන් බණ ඇසීමට යන බව දැන ගත් මහාකාල ඔවුන් සමග ගොස් බුදුන් වැඳ පිරිස කෙළවර හුන්නේ ය.

බුදුරජාණන් වහන්සේ මහාකාලගේ පින් මහිමය දැක ඔහුට සරිලන දහමක් ම දෙසුහ. දේශනාව අවසානයෙහි කම් සැපයෙහි කලකිරුණු හෙතෙම බුදුරදුන් හමු වී පැවිදි වන්නට අවසර ඉල්ලීය. අවශ්‍ය ඥාතීන්ගෙන් අවසර ගෙන එන්නැයි බුදුරජාණන් වහන්සේ වදාළහ. බාල සොහොයුරා වෙත ගිය මහාකාල ගැල් බඩු, ගේ දෙර ඇතුලු සියලු සම්පත් ඔහුට බාරකොට ඔහුගේ බලවත් ඇවිටිලි ද නොතකා බුදුරදුන් වෙත ගොස් පැවිදි විය. සොහොයුරා කෙසේ හෝ සිවුරු හරවාගෙන එන්නෙමියි සිතා ඒ පසුපස ම ගිය චූලකාල ද පැවිදි විය.

මහාකාල තෙරණුවෝ මහලු ව පැවිදි වූ හෙයින් විදර්ශනා ධූරය පුරන්නට විය. **සෝසාසනික ධුතාංගය** සමාදන් වී රාත්‍රී යාමයෙහි සොහොනෙහි හිඳ බවුන් වැඩූ උන්වහන්සේ විදර්ශනා වඩා රහත් වුහ. පෙරළා ගිහිගෙට යන්නට සිටි චූලකාල තෙරණුවෝ ගේ, දෙර අඹු දරුවන් ගැන ම සිතමින් කල් ගෙවී ය.

මේ අවදියේ බුදුරජාණන් වහන්සේ චාරිකාවෙහි හැසිරෙමින් සේතව්‍ය නගරයට වැඩම කළහ. චූලකාල තෙරුන්ගේ භාර්යාවෝ උන්වහන්සේ ගෙදරට ගෙන්වා සිවුරු හරවා ගන්නා අදහසින් බුද්ධ ප්‍රමුඛ සංඝයාට දනට ඇරයුම් කළෝය. එහි අසුන් පැණවීමට කල් ඇතිව යවන ලද්දේ චූලකාල තෙරණුවන් ය. එහිදී උන් වහන්සේ වටා රොක් වූ භාර්යාවෝ උසුළු විසුළු කොට උන් වහන්සේ බලහත්කාරයෙන් සිවුරු හරවා සුදුවත් හඳවා බුදුරදුන් වැඩමවාගෙන ඒමට යැවූහ.

බුද්ධ ප්‍රමුඛ සංඝයා නිවසට වැඩ දන් වළඳා අවසානයේ දී මහාකාල තෙරුන්ගේ පළමු බිරියෝ ද උන්වහන්සේ සිවුරු හරවා ගන්නා අදහසින් භුක්තානුමෝදනාව සඳහා මහාකාල තෙරුන් නවතා වඩින ලෙස බුදුරදුන්ගෙන් ඉල්ලා සිටියහ. උන්වහන්සේ ද ඊට ඉඩ දී සංඝයා සමග වෙහෙරට වැඩි සේක. වෙහෙරට වැඩ දම් සභාවේ වැඩසිටි භික්ෂූන් වහන්සේලා කතා කළේ චූලකාල හිමියන්ට සිදු වූ දේ දැන දැනත් තථාගතයන් වහන්සේ මහාකාල තෙරුන් නවතා ඒම ගැන ය.

දම් සභාවට වැඩි බුදුරජාණන් වහන්සේ උන් වහන්සේලාගේ අදහස දැන '' මහණෙනි! එසේ නොසිතන්න. චූලකාල භික්ෂුව කඳු පාමුලක ඇති දුබල රුකක් වැනි ය. රූපාදී අරමුණු සුභ ලෙස දකියි, පහසුවෙන් කෙළෙස් සුළඟින් ගසාගෙන යා හැකි කෙනෙකි. එහෙත් රූපාදී අරමුණුවල අසුභ පැත්ත දකින මහාකාල ගල් පර්වතයක් වැනි ය. දැන් කිසිදු සැඩ සුළඟකින් නොසැළේ යයි වදාළහ.

මේ අතර මහාකාළ තෙරුන්ගේ පුරාණ බිරියෝ '' ඔබ කාගෙන් අසා පැවිදි වූයෙහි ද ? දැන් ගිහි වෙනවා නොවේද'' යි කියමින් උන් වහන්සේ වට කරගෙන සිවුරු හරවා ගන්නට තැත් කළහ. උන් වහන්සේ සෘද්ධියෙන් ඔවුන්ගෙන් ගැලවී මැදුරෙහි කැණි මඩල පලාගෙන අහසට පැන නැංගාහ. දම් සභා මණ්ඩපය මැද පහළ වූ උන්වහන්සේ බුදුරදුන් වැඳ එකත්පස් ව හුන්හ. ඒ මොහොතේ බුදුරජාණන් වහන්සේ පහත සඳහන් ගාථා වලින් දහම් දෙසූහ.

සුභානුපස්සිං විහරන්තං - ඉන්ද්‍රියෙසු අසංවුතං
භොජනම්හි අමත්තඤ්ඤුං - කුසීතං හීන වීරියං
තං වෙ පසහතී මාරො - වාතො රුක්ඛං ව දුබ්බලං

රූපාදී අරමුණු සුභ ලෙසින් බලන, පසිඳුරන් සංවර කර නොගත්, ආහරයෙහි පමණ නොදන්නා, කුසීත වූ, වීර්යය අඩු වී ගිය පුද්ගලයා, දුබල රුකක් සුළඟින් බිඳ වැටෙන්නා සේ මැරි මැරී උපදින්නෙක් වන්නේ ය.

අසුභානුපස්සිං විහරන්තං - ඉන්ද්‍රියෙසු අසංවුතං
භොජන ම්හි ච මත්තඤ්ඤුං - සද්ධං ආරද්ධ වීරියං
තං වෙ නප්පසහතී මාරො - වාතො සෙලං ව පබ්බතං

රූපාදි අරමුණු අසුභ ලෙස දකින, මැනවින් ඉඳුරන් දමනය කරගත් ආහාරයෙහි පමණ දන්නා, සැදැහැති, පටන් ගත් වීර්යය ඇති තැනැත්තා, සුළඟින් නොසැලෙන පර්වතයක් සේ නැවත මරණයට ගොදුරු නොවන්නෙක් වේ.

# 20 ධම්ම පදය II

## 20.1 කහවතට සුදුසු නුසුදුසු ඇත්තෝ

අගසවු සැරියුත් මුගලන් මහරහතන් වහන්සේලා දෙනම වරක් දහසක් භික්ෂූන් වහන්සේලා පිරිවරාගෙන රජගහ නුවරට වැඩම කළහ. නුවර වැස්සෝ වහා කණ්ඩායම්වලට බෙදී දන් පිළියෙල කොට පිළිගැන්වූහ. ඔවුනට අනුමෝදනාව කළ සැරියුත් මහ තෙරුන් වහන්සේ මෙසේ දනානිසංස වදාළහ.

" උපාසකවරුනි, තමන් දන්දෙන නමුත් අනුන් ඊට අනුන් සම්මාදම් කර නොගන්නා අය ඒ පිනෙන් මතු භවභෝග සැප සම්පත් ලබති. එහෙත් පිරිවර සම්පත් නොලබති. තමන් දන් නොදී අනුන් සම්මාදන් කරවන අය මතු පිරිවර සම්පත් ලබති. භවභෝග සම්පත් නොලබති. තමනුත් දන් නොදෙන අනුනුත් සම්මාදම් නොකරවන අය කැඳවත් නොලබන, කාත් කවුරුත් නැති අසරණයන් ව උපදිති. තමනුත් දන්දෙන අනුනුත් ඊට සම්මාදන් කරගන්නා අය සියදහස් ගණන් ආත්මවල දී මහා භෝග සැප සම්පත් මෙන් ම මහා පිරිවර සම්පත් ද ලබති".

මේ බණ අසා සිටි නුවණැති උපාසකයකුට මේ දෙයාකාර වූ ම සම්පත් ලබන පිනක් කරන්නට සිතුණි. හෙතෙම එදා ම ඒ දහස් නමට ම පසුදා දනට අරයුම් කළේය. අනතුරුව උපාසක තැන නුවර වීදියක් ගානේ යමින් කැමති කැමති අයට කැමති කැමති තරම් භික්ෂූන් වහන්සේලාට දන් දෙන්නට භාර දෙමින් සම්මාදම් කළේ ය. ඉතිරි භික්ෂූන් වහන්සේලාට දන්දීම තමා ම භාරගත්තේ ය. එදා ම සියලු දනෝපකාරණ එක් තැනකට රැස්කරගත් ඔවුහු දන් පිසන්නට වූහ.

මේ අතර තවත් කෙළඹියෙක් ලක්‍ෂයක් අගනා සුවඳ වස්ත්‍රයක් ගෙනවුත් දී " මෙය විකොට අඩුපාඩු දෙයක් ගන්න, නැතිනම් සුදුසු තෙර නමකට පුදන්නැ " යි කියා ගියේ ය. දනෝපකාරණවල අඩුවක් නොවූයෙන්

එම වස්ත්‍රය පුදන්නට තීරණය විය. පුදන්නේ කාටදැයි විමසීමේදී '' සැරියුත් තෙරුන්ට පුදමු''යි කෙනෙක් කීහ. තවත් කෙනෙක් සැරියුත් තෙරුන් මෙහි වඩින්නේ ඉඳහිට ය. එහෙත් අපේ මඟුල්, අවමඟුල් ආදී හැම දෙයකදී ම සිවුමංසලක පිංතාලියක් සේ අපට ඉන්නේ දෙවුදත් තෙරුන් ය. අපි මෙය උන්වහන්සේට පුදමුයි කීහ. අන්තිමේදී වැඩිදෙනාගේ කැමැත්තෙන් එය දෙවුදත් තෙරුන්ට පුදන ලදී.

උන්වහන්සේ ද එය කපා, මසා, පඬු පොවා පොරෙවාගෙන මහානුභාවයෙන් එහෙ මෙහෙ වඩිති. කෙසේ වුවත් මේ සිවුර නම් ගැළපෙන්නේ දෙව්දත් තෙරුන්ට නොව සැරියුත් තෙරුන්ට ම යැයි ජනයා දිගින් දිගට ම කියන්නට වූහ. රජගහ නුවරින් දෙවුරම් වෙහෙරට පැමිණි භික්ෂූන් වහන්සේ නමකගෙන් බුදුරදුන්ට මෙම පුවත සැළ විය. එහිදී උන්වහන්සේ '' මහණෙනි, දෙවුදතුන් තමන් සිවුරට නුසුදුසු ව සිටිමින් තමන්ට නොගැළපෙන සිවුරු පෙරවූයේ අද පමණක් නොවේ. පෙරත් එසේ කළේ '' යැයි හෙළිදරව් කරමින් ඡද්දන්ත ජාතකය වදාළ සේක.

එදා ඡද්දන්ත ඇතුන්ගේ රජවූයේ බෝසතාණන් වහන්සේ ය. දෙවුදත් දළ සඳහා ඇතුන් මරන්නෙක් වීය. මිනිසෙකුට වල් ඇතුන් මැරීම පහසු කටයුත්තක් නොවේ. එනිසා ඔහු සිටියේ ඒ සඳහා උපායක් සොයමිනි. ඒ වන-යේ පසේ බුදුරජාණන් වහ්සේ නමක් වෙසෙති. උන් වහන්සේ දුටු තැන සියලු ඇත්තු දණ නමා නමස්කාර කර යනු මේ මිනිසා දුටුවේය. මේ අවස්ථාවෙන් ප්‍රයෝජන ගන්නට සිතූ හෙතෙම පසේ බුදුරදුන් ස්නානය කරන වෙලාවක උන්වහන්සේගේ සිවුරක් සොරකම් කරගත්තේ ය. එය හිසේ සිට පොරවා ගත් හේ ඇතුන් යන එන මග මහ ගසක් මුල හුන්නේ ය. ඇතුන් පසේ බුදුරදුන් යැයි රැවටී ඔහු ළඟ දණ ගසා නමස්කාර කර යති. හෙතෙම සඟවා ගෙන සිටි අවියෙන් ගසා අන්තිමට ම යන ඇතු මරා දළ කපා ගෙන යයි.

ඇත් රැළ ක්‍රමයෙන් අඩුවන්නට විය. මෙයට හේතුව සෙවූ ඇත් රජුට රහස හෙළි විය. වේගයෙන් ඔහු වෙත පැන්න ඇත් රජු ඔහු එක් වර ම පාගා දමන්නට ගොස්, ආපසු හිත වෙනස් කරගෙන ඔහුට අවවාද කොට මුදා හළේ ය.

මෙසේ අතීත පුවත ගෙනහැර දක්වූ බුදුරජාණන් වහන්සේ එදා දුන් ඒ අවවාදය ද ඇතුළත් කොට මේ ගාථා දෙක දේශනාකර වදාළහ.

අතික්කසාවො කාසාවං
යො වත්ථං පරිදහෙස්සති
අපෙතො දම සච්චෙන
න සො කාසාවමරහති.

ඇතුළත කෙලෙස් කසටින් කිළිටි ව, ඉඳුරන් දමනය කර නොගෙන වෙසෙන, සත්‍යවාදී නොවන තැනැත්තා කසාවත දරා සිටියත් කසාවතට සුදුස්සෙක් නොවේ.

යො ච වන්ත කසාවස්ස
සීලෙසු සුසමාහිතො
උපෙතො දම සච්චෙන
ස වෙ කාසාවමරහති

කෙලෙස් කසට වමරා දැමූ, සතර සංවර සීලයෙහි මැනවින් හික්මුණු, ඉන්ද්‍රිය දමනයෙන් යුතු සත්‍යයෙහි පිහිටා සිටින උතුමා ඒකාන්තයෙන් ම කසාවතට සුදුස්සෙකි.

## 20.2 සරුයයි සිතා නිසරු දේ ම ගන්නෝ

රජගහනුවර අසබඩ උපතිස්ස කෝලිත නම් බමුණුගම් දෙකක් විය. ඒ ගම් දෙකේ ප්‍රධාන පවුල් දෙකෙහි උපන් වැඩිමහලු පුතුන් දෙදෙනා ද **උපතිස්ස හා කෝලිත** නම් වූහ. සසර එකට පෙරුම් පුරාගෙන පැමිණි මේ දෙදෙනා පණ වැනි මිතුරෝ ය. වරක් **ගිරග්ග සමජ්ජ** නම් සැණකෙළියක් බලන්නට ගිය මේ නුවණැති තරුණයෝ දෙදෙන '' අප මේ කරන්නේ කෙතරම් නිසරු බාල දේවල් දැ'යි කියා කම් සැපයෙහි හොඳට ම කලකිරුණෝ ය. අමාරුවෙන් මව්පියන්ගෙන් අවසර ලබාගත් ඔවුහු සංජය බෙල්ලට්ඨිපුත්ත තුමා ළඟ පරිබ්‍රාජකයන් ලෙස පැවිදි වූහ.

එතුමාගේ ධර්මය සම්පූර්ණයෙන් ම ඉගෙන පුරුදු කළත් එය තමන් සොයන නිවන නොවන බව ඔවුන්ට වැටහිණි. එනිසා එතුමාගෙන් සමුගත්

ඔවුහු නැවතත් සත්‍ය සොයා ඇවිදින්නට වූහ. මෙවර දෙදෙනා ගියේ වෙන වෙනම ය. මෙසේ යන උපතිස්ස පිරිවැජියාට අස්සජි මහරහතන් වහන්සේ මුණ ගැසිණ, උන්වහන්සේ දුටු පමණින් ඔහුගේ සිත පහන් විය. වැඳ එකත් පස්ව සිටි පිරිවැජියා ඔබ වහන්සේගේ ගුරුවරයා කවරෙක් ද? එතුමාගේ දහම කුමක්දැයි විමසීය. ඊට පිළිතුරු දෙන අස්සජි තෙරණුවෝ,

'' පිරිවැජිය, අපගේ ශාස්තෘන්වහන්සේ ගෞතම බුදුරජාණන් වහන්සේ ය. නමුත් අලුත පැවිදි වූ බැවින් අප තව ම දන්නේ ස්වල්ප දහමක් පමණකැයි වදාළහ.

'' ස්වාමිනි, දන්නා තරමින් වදරනු මැනවි, එය සියදහස් නයින් අවබෝධකර ගැනීම අපට භාර යැයි උපතිස්ස පිරිවැජියා කීය. එවිට අස්සජි තෙරණුවෝ:

'' හේතූන් ප්‍රත්‍යයන්ගෙන් හටගන්නා යම් දෙයක් වේද, ඒ දේ ඇති වීමේ හේතුව ද එය නැති වීමට හේතුව ද ඒ මහා ශ්‍රමණයන් වහන්සේ වදරන සේක. යනුවෙන් ප්‍රකාශ කළහ.

මෙය ඇසූ පමණින් උපතිස්ස පිරිවැජියා සෝවාන් විය. උන්වහන්සේ වැඳ සමුගෙන තම යහළුවා සොයා ගිය උපතිස්ස පිරිවැජියා මේ ආරංචිය ඔහුට ද පැවසී ය. ඔහු ද එම ප්‍රකාශය අසූ පමණින් සෝවාන් විය. අනතුරුව දෙදෙනා ම බුදුරදුන් වෙත යන්නට පිටත් වී පළමු කොට ගුරුවරයාගෙන් අවසර ගෙන යමුයි සංජය තුමා වෙත ගියෝ ය.

එතුමාට ආචාර කළ ඔවුහු '' ඇදුරුතුමනි, අපට නිවන් මග කියා දෙන කෙනෙකු හමුවිය. බුදුන්, දහම්, සඟුන් ලොව පහළවී ඇත. මේ සසර තවත් සැරිසැරීමෙන් ඇති ඵලය කුමක් ද? අපි කවුරුත් උන්වහන්සේ වෙත යමුයි ගුරුතුමාට ද යෝජනා කළෝය. එවිට ඇදුරුතුමා '' දරුවෙනි මෙතෙක් සැළියක් සේ සිටි මට කෙණෙස්සක් විය නොහැකි ය. ඔබ යන්න මම මෙහෙම ඉන්නම්' යැයි කීය.

උපතිස්ස කෝලිත පිරිවැජියන් දෙදෙනා බුදුරදුන් වෙත ගොස් පැවිදිව රහත් වූහ. **සාරිපුත්ත මොග්ගල්ලාන** යනුවෙන් මවුවරුන්ගේ නමින් ප්‍රසිද්ධ වූ උන්වහන්සේලා අගසවු තනතුර ද ලැබූහ. පසුව උන්වහන්සේලා තම ගුරුවරයා වූ සංජය තුමාගේ පුවත බුදුරජාණන් වහන්සේට සැළ කළහ.

එවිට උන්වහන්සේ ''මහණෙනි, සංජය තමාගේ මිසදිටු බව නිසා අසාර දෙය සාරය ලෙස ගත්තේ ය. සාරය අසාරය ලෙස අත්හළේ ය. ඔබ සසර මුහුකුරා ආ නුවණැති නිසා අසාරය අසාරය යයි අත්හැර, සාරය සාරය ලෙස ගත්තහු ය''යි වදරා මෙම ගාථා දෙක දේශනා කළ සේක.

අසාරෙ සාර මතිනො - සාරෙචාසාර දස්සිනො
තෙ සාරං නාධිගච්ඡන්ති - මිච්ඡා සංකප්ප ගොචරා

නිසරු දේ සරු යයි පිළිගෙන, සරු දේ නිසරු යයි දකින සුලු ( කාම, ව්‍යාපාද, විහිංසා යන ) වැරදි කල්පනා ඇතියන්ට කිසිදක ( සීල, සමාධි, ප්‍රඥා, විමුක්ති යන ) සාර දේ නොලැබේ.

සාරං ච සාරතො ඤත්වා - අසාරං ච අසාරතො
තෙ සාරං අධි ගච්ඡන්ති - සම්මා සංකප්ප ගොචරා

සරු දේ සරු බව දැන, නිසරු දේ නිසරු බවත් දැන නිවැරදි කල්පනාවෙන් යුතු ව වෙසෙන තැනැත්තා සාරය ලබන්නේ ය.

## 20.3 වහලය හරිහැටි සෙවිලි කරගන්න

බුදුරදුන්ගේ සුළු මවගේ පුත් නන්ද කුමරු පැවිදි වුණේ කැමැත්තකින් නොවේ. ගතින් මහණ වුවත් උන්වහන්සේගේ සිත යන්නේ ම ගිහි ගෙදරට ය. එද කුමරුන් ඉක්මනින් එන්නැයි කී ජනපද කල්‍යාණියගේ වදන් නිතර දෙසවන රැව් පිළි රැව් දෙයි. රජකම ගැන සිතුවිලි සිතේ නිතර ම හොල්මන් කරයි. ඉවසිය නොහැකි තැන තමාට ගිහිගෙට යන්නට වුවමනා බව උන්වහන්සේ අනෙක් භික්ෂූන් වහන්සේලාට දැන්වූහ. මේ පුවත බුදුරජාණන් වන්සේට ද සැළවිය. උන්වහන්සේ නන්ද හිමියන් ගෙන්වා මේ කරුණ සැබෑදැයි ඇසූහ. '' සැබෑය'යි නන්ද හිමියෝ පැවසූහ.

නන්ද හිමියන්ගේ හිත හදන්නට උපක්‍රමයක් ගැන සිතූ බුදුරජාණන් වහන්සේ උන්වහන්සේ අතින් ගෙන තව්තිසා දෙව්ලොව බලා වැඩි සේක. එසේ වඩින අතර මග ද ගිය හේනක සිටි බාගෙට පිළිස්සී ගිය වැඳිරියක් ද නන්ද හිමියන්ට පෙනෙන්නට සැලැස්සූහ. තව්තිසා දෙව් ලොව දී පරෙවියන්ගේ බඳු රතු දෙපා ඇති දෙවඟනක් පෙන් වූ බුදුරජාණන් වහන්සේ ''නන්ද වඩා හොඳ ජනපද කල්‍යාණිය ද නැතහොත් මේ දෙවඟනන් දැ'යි ඇසූහ. ''ස්වාමිනී, මේ දෙවඟනන් හා සසඳන විට ජනපද කල්‍යාණිය අතරමගදී දුටු වැඳිරිය වැනියැ'යි නන්ද හිමියෝ කීහ. '' එසේ නම් නන්ද මම මේ දෙවඟනන් ලබා දෙන්නට පොරොන්දු වෙමි. හොඳින් මහණ දම් පුරන්නැයි' බුදුරජාණන් වහන්සේ වදාළහ. එයට එකඟ වූ නන්ද හිමියෝ ආපසු දෙව්රම් වෙහෙරට වැඩ ඉතා උනන්දුවෙන් මහණදම් පුරන්නට පටන් ගත්හ.

මේ ආරංචිය භික්ෂූන් වහන්සේලා අතර පැතිර ගියේ ය. ඇතැම් පුහුදුන් භික්ෂූන් වහන්සේලා බුදුරදුන්ගේ සුළුමවගේ පුත් නන්ද හිමියන් කුලියට මහණදම් පුරන්නේ යැයි උසුළු විසුළු කරන්නට වූහ. මෙයින් ලැජ්ජාවට පත් නන්ද හිමියෝ ගිහි ගෙදරට යන අදහස පසෙක ලා බවුන් වඩා රහත් වූහ. අනතුරු ව බුදුරදුන් වෙත ගිය නන්ද හිමියෝ තමාට දුන් පොරොන්දුවෙන් පලක් නැතැයි කීහ. '' නන්ද ඔබ රහත් වන විටම මම ඒ පොරොන්දුවෙන් මිදුණෙමි' යි බුදුරජාණන් වහන්සේ වදාළහ.

නන්ද හිමියන්ගේ මේ වෙනස් වීම ගැන භික්ෂූන් වහන්සේලාට තිබුණේ කුතුහලයකි. ඔවුහු උන්වහන්සේ රහත් වී යැයි නොසිතූහ. එනිසා මේ ගැන බුදුරජාණන් වහන්සේට සැළ කළහ. එවිට උන්වහන්සේ මහණෙනි, පසුගිය කාලයේ නන්ද හිමියන්ගේ සිත හරිහැටි සෙවිලි නොකළ වහලයක් වගෙයි තිබුණේ. දැන් එය හොඳින් සෙවිලි කළ වහලක් වගේය යයි වදරා මේ ගාථා දෙක දේශනා කළ සේක.

යථාගාරං දුච්ඡන්නං
වුට්ඨී සමති විජ්ජති
එවං අභාවිතං චිත්තං
රාගො සමති විජ්ජති

අතු දිරාගිය හෝ හරිහැටි සෙවිලි නොකළ වහලයේ සිදුරු අතරින්

වැසිදිය ගෙට වදින්නා සේම රාගය (ද්වේශය, මෝහය ) දියුණු නොකළ සිත තුළට වදින්නේ ය.

යථාගාරං සුච්ඡන්නං
වුට්ඨී න සමති විජ්ජති
එවං සුභාවිතං චිත්තං
රාගො න සමති විජ්ජති

මනාව සෙවිලි කළ වහලය විනිවිද වැසි දිය ගෙට නොවදින්නේ ය. එසේම රාගය ( ද්වේෂය, මෝහය ) මනාව දියුණුකළ සිත විනිවිද නොයන්නේ ය.

දම්සභා මණ්ඩපයට රැස් වූ භික්ෂූන් වහන්සේලා අතර නන්ද තෙරුන් හික්මවා ගැනීමට බුදුරජාණන් වහන්සේ යෙදූ අපූරු උපක්‍රමය ගැන කතා බහක් ඇති විය. එවෙලේ එහි වැඩි බුදුරජාණන් වහන්සේ '' මහණෙනි, අද පමණක් නොවේ පෙර ද මම මුන් වහන්සේ ස්ත්‍රියක් මගින් පොළඹවා ගෙන හික්මවා ගතිමි '' යි වදරා **ගද්‍රභ ජාතකය** දේශනා කළ සේක.

## 20.4 තමාගේ කිළුටුකම් දැක තමාම ශෝක වීම

චුන්ද සූකරික රජගහනුවර, ඌරන් මරා මස් විකුණා දිවි ගෙවූවෙකි. හෙතෙම දුර්භික්ෂ කාලයට කරත්තයක වී පුරවාගෙන පිටිසර ගම්වල යයි. එහිදී වී නැලියට දෙකට ඌරු පැටවුන් ගෙන කරත්තය පුරවා ගෙනවුත් ඌරු කොටුවක දමා ඇති දැඩි කරයි.

ඌරන් හොඳින් වැඩී පුෂ්ටිමත් වූ පසු ඇඟමස් ඉදිමී ලේ සිඳෙන තුරු සතරැස් මුගුරකින් තලයි. අනතුරුව දණ්ඩකින් උගේ මුව අරවා කටාරමක කකාරවාගත් උණු දිය මුවට වත් කරයි. උගේ කුස පිරී ගිය උණු දියෙන් මල මුත්‍රා සියල්ල සේදී අධො මුඛයෙන් පිටවෙයි. මෙසේ උදරය සේදී පිරිසිදු දිය පිටවෙන තුරු ම උණු දිය වත් කරයි. ඉතිරි උණුදිය ඌරාගේ පිටට වත් කරයි. එයින් උගේ කළු සම ගැලවී යයි. අනතුරුව තණ හුලකින් ලොම් පුළුස්සා දමයි. අන්තිමේ දී තියුණු අවියකින් හිස සිඳ ඌරා මස්කොට ලේ වෙන ම බඳුනකට ගෙන ලේ වල තවර තවරා මස් විකුණයි. ගෙදර කෑමට ද ගනී.

මෙසේ වසර පනස් පහක් ගෙවී ගියේ ය. චුන්ද සූකරික වේළුවනාරාමය අසල ම සිටියත් කිසිදක මලක් පිදීම තරම්වත් පිනක් නොකළේ ය. කල්යාමේ දී ඔහුට නොයෙක් රුදුරු ආබාධ හට ගැනිණි. මෙලොවදී ම අවීචියේ ගින්නෙන් දැවෙන තරම් දැවිල්ලකින් ඔහු නිරතුරුව ම දැවෙන්නට විය. ඌරන්ට කළ වධ හිංසා ඒ ආකාරයෙන් ම පෙරළා ඔහු කරා පැමිණියේ ය. ඔහු ද ඌරෙකු මෙන් දණ ගාමින් ඌරු හඬලන්නට පටන් ගත්තේ ය. ගෙදර ඇත්තන් ඔහු පිටත යෑම වලක්වන්නට ගෙට දමා දොරගුළු ලා ඔහුගේ කට ද බැඳ තැබුවත් කර්ම විපාකය වලක්වන්නට හැකි නොවී ය. සත් දිනක් ඇවෑමෙන් ඔහු මිය ගොස් අවීචි මහ නරකාදියේ උපන්නේ ය.

අවසාන දිනවල ඒ ගෙය අසලින් වඩින භික්ෂූන් වහන්සේලාට ද නොකඩවා ම මේ මර ලතෝනිය ඇසුණි. කුමක් හෝ උත්සවයකට මස් සැපයීමට චුන්ද දිනපතා ඌරන් මරනවා විය යුතු යැයි උන්වහන්සේලා සිතූහ. මේ පුවත බුදුරජාණන් වහන්සේ සමග ද උන්වහන්සේලා පැවසූහ. එවිට බුදුරජාණන් වහන්සේ

'' මහණෙනි, මේ සත් දවසේ චුන්ද ඌරන් මැරුවේ නැත. මර බියෙන් ඌරෙකු මෙන් දිනපතා කෑගැසුවේ ඔහු ම ය. ඔහු දිගු කලක් තිස්සේ කළ කර්මයට අනුරූප විපාක මෙලොවදී ම ඔහුට පල දුන්නේ ය. අවීචි ගින්නේ දහය ඔහු ළඟට ම පැමිණියේ ය. අද හෙතෙම අවීචි මහ නරකයේ දුක් විඳී '' යයි වදුරා මේ ගාථාව දේශනා කළ සේක.

ඉධ සොචති පෙච්ච සොචති
පාපකාරී උභයත්‍ථ සොචති
සො සොචති සො විහඤ්ඤති
දිස්‍වා කම්ම කිලිට්ඨමත්තනො

පව් කළ තැනැත්තා ජීවිතයේ අවසාන සමයේ තමා මෙතෙක් කළ කිළිටි පව්කම් දැක (මම පිනක් නොකළෙමි. පව්කම් කළෙමි යි) මෙලොවදී ම ශෝක වෙයි. (එය කර්ම ශෝචනාවයි) පරලොව දී ඒ පව්කම්වලට අනුරූප දුක් විපාක ලැබෙන විට හෙතම වඩාත් ශෝක වෙයි, වැලපෙයි, දුකින් හැපෙයි, (ඒ විපාක ශෝචනාවයි)

# 21 ධම්ම පදය III

## 21.1 දැහැමියාට දෙවු ලෝ හයෙන් ම ඇරයුම්

සැවැත් නුවර ධම්මික නම් උපාසකවරයෙක් විසී ය. ඔහුට පුත්තු සත් දෙනෙක් හා දූවරු සත් දෙනෙක් ද වූහ. මේ උපාසකතුමා සිල්වත් ය, ගුණවත් ය, නිතර දන් දෙයි. සම්පත් සතුටින් බෙදා හදා ගෙන භුක්ති විඳියි. ඔහුගේ අඹුදරුවෝ ද එසේ ම ය.

මේ සොළොස් දෙනා සළාක කැඳය, සළාක බතය, වස්සිවාසිකය, යනාදී වශයෙන් එක් කෙනා එක් දන බැගින් නිරතුරු ව දන් සොළොස් වර්ගයක් දීමට පුරුදුව සිටියෝ ය. මෙසේ පියා අනුව ම යන බැවින් ඔහුගේ දරුවෝ ද අනුජාත පුත්‍රයෝ යයි හඳුන්වනු ලැබූහ.

මෙසේ දැහැමෙන් සෙමෙන් පින් දහම් කරගෙන අඹුදරුවන් සමග සතුටින් විසූ ධම්මික උපාසකතුමා කල්යාමේ දී රෝගාතුර විය. ආයුෂ පිරිහී මරණාසන්න ද වූයේ ය. හෙතෙම බණ ඇසීමේ ආශාවෙන්, භික්ෂූන් වහන්සේලා කිහිප නමක් එවනු මැනවයි බුදුරදුන් වෙත ඇරයුමක් යැවී ය.

බුද්ධ නියමයෙන් භික්ෂූන් වහන්සේලා අටනමක් වැඩම කොට ඔහුගේ ඇඳ වටා වැඩ හුන්හ. භික්ෂූන් වහන්සේලාට නමස්කාර කළ උපාසකතුමා සූත්‍රයක් සජ්ඣායනා කරනු මැනවයි ඉල්ලා සිටියේ ය. ඔබ වඩාත් කැමති කුමන සූත්‍රයටදැයි ඇසූවිට සියලු බුදුවරුන් විසින් අත්නොහැර පුරුදු පුහුණු කරන ලද සතිපට්ඨාන සූත්‍රය දෙසනු මැනවැයි ඉල්ලා සිටියේ ය. උන්වහන්සේලා සූත්‍ර දේශනාව ආරම්භ කළහ.

ධම්මික උපාසකතුමා කොතරම් දැහැමි කෙනෙක් වීද යත් එතුමා මරණාසන්න වූ පුවත සියලු දෙවියන් අතර පැතිර ගියේ ය. දිව්‍ය ලෝක හයෙන් ම විසිතුරු ලෙස සැරසූ රිය හයක් පැමිණ ''අපේ ලොවට එන්න. අපේ ලොවට එන්නැයි'' පෙරැත්ත කරන්නට වූහ. එය බණ ඇසුමට බාධාවක් වූ නිසා

''මදක් ඉවසන්න මදක් ඉවසන්නැ''යි උපාසක තුමා කීය. එය කීවේ තමාට යයි සිතූ භික්ෂූන් වහන්සේලා පිරිත නවතා විහාරයට වැඩියහ. පියා සිහිමුළාවෙන් දොඩවතියි සිතූ දරුවෝ වැලපෙන්නට වූහ. ඒ හඬට ඇස් හැර බැලූ උපාසකතුමා ආර්යයන් වහන්සේලා කොයිදැයි ඇසී ය. එවිට දරුවෝ සිදු වූ දේ කීහ.

ඒ ඇසූ උපාසකතුමා ''දරුවෙනි, මා මදක් ඉවසන්නැ''යි කීවේ ආර්යයන් වහන්සේලාට නොවේ. රිය ගෙනවුත් තම තම දෙව්ලොවට එන්-නැයි පෙරැත්ත කරන සදෙව්ලොව දෙවියන්ට '' යැයි කීය. '' පියාණෙනි අපට පෙනෙන රථයක් නැතැයි දරුවන් කීවිට මල්මාලාවක් ගෙන්වා ගත් උපාසකතුමා '' දරුවෙනි, වඩා හොඳ කුමන දෙව්ලොවදැයි ඇසී ය. '' සියලු බුදුවරුන් වාසයට තෝරා ගන්නා තුසිත දෙව්ලොව හොඳයැ''යි දරුවෝ කීහ. '' එසේ නම් තුසිත දෙව්ලොවෙන් ආ රියෙහි රැඳේවායි මල් මාලාව අහසට දමන්නැයි පියා '' කීය. ඔවුහු එසේ කළ හ. දැන් මහ ජනයාට මල් මාලාව පෙනේ. රථයක් නොපෙනේ.

අනතුරුව උපාසකතුමා රැස්ව සිටි පිරිස අමතා '' මම තුසිත දෙව්ලොවට යමි. අමුත්තක් නොසිතන්න. මා ළඟට එන්න කැමති අය මා කළා සේ පින්දහම් කරන්නැයි '' අවවාද කොට එම රථයට නැංගේ ය. මොහොතකින් ඔහුට තුන්ගව්වක් තරම් විශාල, අලංකාර අබරණින් සැරසුණු ආත්මභාවයක් පහළ විය. විමානය විසිපස් යොදුනක් විය. දහසක් දෙවඟනෝ එතුමා පිරිවරා ගත්හ.

එදා විහාරයට වැඩි භික්ෂූන් වන්සේලාගෙන් උපාසකතුමන්ගේ තතු විමසූ බුදුරජාණන් වහන්සේට උන්වහන්සේලා සිදු වූ දේ සැළ කළහ. එවිට උන්වහන්සේ '' මහණෙනි, ධම්මික උපාසක තැන එසේ කීවේ අවසිහියෙන් නොවේ. ඔහුගේ පින් මහිමය නිසා කැඳවාගෙන යන්නට පැමිණි දෙවියන්ට '' යැයි වදාළ විට '' එසේ නම් ස්වාමිනි, මේ පින්වත් උපාසකතුමා මෙලොවත් සුවෙන්, සතුටින් සිටියා වගේ ම දැන් පරලොව වඩාත් සතුටින් ඇතැයි '' භික්ෂූන් වහන්සේලා කීහ. ඒ වේලෙහි බුදුරජාණන් වහන්සේ එම කීම අනුමත කරමින් මේ ගාථාව දේශනා කළහ.

ඉධ මොදති පෙච්ච මොදති
කතපුඤ්ඤො උභයත්ථ මොදති
සො මොදති සො පමොදති
දිස්වා කම්ම විසුද්ධි මත්තනො

පින් කළ තැනැත්තා තමා කළ පිරිසිදු කුසල කර්ම සම්පත්තිය සලකා බලා ( ජීවිතයේ අවසාන සමයේ ) මෙලොවදී ම (කර්ම මෝදනාවෙන්) සතුටු වෙයි. පරලොවදී ඒ කර්මවලට අනුරූප සැප විපාක විඳින විට හෙතෙම ( විපාක මෝදනාවෙන් ) වඩාත් සතුටු වෙයි.

## 21.2 පොළොව නුහුලන අපරාධකරුවෙක්

බුදුරජාණන් වහන්සේ කිඹුල්වතට වැඩම වූ පළමු වතාවේ ම භද්දිය, අනුරුද්ධ, ආනන්ද, භගු කිම්බල, දේවදත්ත, යන ප්‍රධාන පෙළේ කුමාරවරු සය දෙනාත් උපාලි නම් කරණවෑමියාත් පැවිදි වූහ. ඒ අතුරින් උපාලි තෙරණුවෝ රහත් වී විනය ධරයන් අතර අග තනතුරට පත් වූහ. සෙසු ඇත්තන්ගෙන් භද්දිය තෙරණුවෝ එම වස් කාලයේදී ම රහත් වූහ. විතක්ක සණ්ඨාන සූත්‍රය අසා රහත් වූ අනුරුද්ධ තෙරණුවෝ දිවැස් අත්තවුන්ගෙන් අගතනතුර ලැබූහ. සෝවාන් ඵලයට පත් අනඳ තෙරණුවෝ බුද්ධෝපස්ථායක මෙන්ම ධර්ම භාණ්ඩාගාරික ද වූහ. භගු, කිම්බල, දෙදෙනා වහන්සේත් ඉන් මෑත භාගයෙහි රහත් වූහ. ඉතිරි වූයේ දෙව්දත් තෙර පමණි. කිසිදු මාර්ග ඵලයක් නොලද උන් වහන්සේ ධ්‍යාන වඩා ඍද්ධි බලය පමණක් ලබා ගත්හ.

දෙව්දත් තෙර යශෝධරා දේවියගේ සොහොයුරා ය. පෘථග්ජන කම නිසා උන් වහන්සේ තමාටත් සසුනෙහි බලයක් තිබිය යුතු යැයි කල්පනා කළේ ය. තමා ඇතුළු ක්ෂත්‍රිය වංශිකයන් අපමණ සිටියදී සැරියුත් තෙරුන්, මුගලන් තෙරුන්, මහා කාශ්‍යප තෙරුන්, වැනි බ්‍රාහ්මණ වංශිකයන්ට සසුනේ මුල් තැන ලැබීම දෙව්දත් තෙර නොරිස්සුවේ ය. මේ නිසා ම උන්වහන්සේ වරක් භික්ෂු සංඝයාගේ පාලනය තමාට පවරන ලෙස බුදුරජාණන් වහන්සේගෙන් ඉල්ලා සිටියේ ය. බුදුරජාණන් වහන්සේ එම ඉල්ලීම එකහෙළා ම ප්‍රතික්ෂේප කළහ. දෙව්දත් තෙර මේ භවයේදී මුලින් ම බුදුරදුන් කෙරෙහි වෛර බැඳ ගත්තේ මේ සිද්ධිය නිසා ය.

ඉන්පසු උන් වහන්සේ කෙසේ හෝ සංඝයාගේ පාලනය අතට ගන්නට තීරණය කළේ ය. ඒ සඳහා බලවන්තයෙකුගේ උපකාර අවශ්‍ය විය. බිම්බිසාර රජුගේ පුත් අජාසත්ත කුමරු සොයා ගිය උන් වහන්සේ ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්වා ඔහු පහදවා ගත්හ. එහෙත් බුදුරදුන්ගේ පළමුවෙනි දායකයා වූ බිම්බිසාර රජතුමා සෝවාන් වූ ඉතා ශ්‍රද්ධා සම්පන්න උපාසකයෙකි. ඔහු සිටියදී තම බලාපොරොත්තුව ඉටු නොවන බව දෙව්දත් තෙරුන්ට පෙණුණි. ඒ නිසා අජාසත් කුමරු අමතා '' කුමරුනි, ඔබ පියා මරා රජ වන්න. මම බුදුන් මරා බුදු වන්නෙමියි '' කීහ.

අජාසත් කුමරු නොයෙක් වධ දී පියා මරා රජ විය. ඊළඟට දෙව්දත් තෙරුන්ගේ වාරය එළඹිණි. බුදුන් මැරීමට රජුගේ ද ආධාරය ඇතිව පළමු කොට දුනු වායන් යැවී ය. ගිය ගිය දුනු වායන් බුදුන් දැක පැහැදී පැවිදි වූ නිසා ඒ උපක්‍රමය අසාර්ථක විය. ඊළඟට නාලාගිරි ඇතුට රා පොවා බුදුරදුන් පාගා මැරීමට පෙර මගට යැවීය. එහෙත් බුදුරදුන්ගේ මෛත්‍රී බලයෙන් ඇතු දමනය විය.

අන්තිමේ දී බුදුරදුන් මැරීමේ කටයුත්ත තමා ම කරන්නට දෙව්දත් තෙර තීරණය කළේ ය. ඒ අනුව හෙතෙම ගිජුකුළු පර්වතය පාමුල සක්මන් කරමින් සිටි බුදුරදුන් මතට මහ ගලක් පෙරළී ය. ඒ ගල වෙනත් ගල් කුලක වැදී ඉවත විසි විය. එයින් කැඩී ආ පතුරක් වැදී බුදුරදුන්ගේ පාදයේ ලේ සෙළවිණි. මෙයින් හෙතෙම දරුණු ම පාප කර්මයන් වන පංචානන්තරිය පාප කර්මවලින් එකක් සිදු කර ගත්තේ ය.

ඊළඟට උන් වහන්සේ සිතුවේ සංඝයා තමාට පක්ෂපාතී කරගෙන බලය ලබා ගන්නට ය. ඊට උපක්‍රමයක් වශයෙන්

භික්ෂූන් වහන්සේ දිවි හිමියෙන් ආරණ්‍යක විය යුතු ය.
පිණ්ඩපාතික විය යුතු ය.
පාංශුකූලික විය යුතු ය.
වෘක්ෂ මූලික විය යුතු ය.
මත්ස්‍ය මාංශ අනුභවයෙන් වැළකිය යුතු ය.

යන වර පහක්

පණවන ලෙස ඉල්ලීය. බුදුරජාණන් වහන්සේ කැමති කෙනෙක් ඒවා කරත්වා අකමැති කෙනෙක් නොකරත්වා යි එම ඉල්ලීම ද ප්‍රතික්ෂේප කළ සේක.

දෙව්දත් තෙරුන්ගේ බලාපොරොත්තුව ඉටු විය. මෙතරම් යහපත් ඉල්ලීම් පහක් බුදුරජාණන් වහන්සේ ප්‍රතික්ෂේප කළ බව ප්‍රසිද්ධියේ ප්‍රකාශ කළ දෙව්දත් තෙරණුවෝ තමා ඒවා පිළිපදින බවත් ඊට එකඟ වන භික්ෂූන් වහන්සේලා තමා සමඟ එකතුවන ලෙසත් ඉල්ලා සිටියහ. පන්සියයක පමණ භික්ෂු පිරිසක් උන් වහන්සේට පක්ෂ වූහ. දෙව්දත් තෙර ඔවුන් රැගෙන සංඝයාගෙන් වෙන් වී ගයා ශීර්ෂයෙහි ආරාමයට ගියහ. එයින් සංඝ භේදය නම් තවත් ආනන්තරිය පාප කර්මයක් උන්වහන්සේ සිදු කර ගත්හ.

මේ පුවත බුදුරදුන්ට සැළ වී උන්වහන්සේ නොමග ගිය ඒ භික්ෂු පිරිස රැගෙන එන්නට දැගසව්වන් වහන්සේලා පිටත්කර යැවූහ. උන් වහන්සේලා යන විට දෙව්දත් තෙර සිටියේ භික්ෂු පිරිසට බණ කියමිනි. බුදුරජාණන් වහන්සේ ළඟ මෙන් තමා දෙපස ඉඳගන්නා ලෙස කියා දෙව්දත් තෙර දැගසව්වන්ට අසුන් පෙන්වී ය. එහෙත් උන්වහන්සේලා එහි හිඳ නොගත්හ. අනතුරුව දෙව්දත් තෙර තමාගේ පිට රිදෙන බව කියා බණ කීම සැරියුත් තෙරුන්ට පැවරීය. ඒ අවස්ථාවෙන් ප්‍රයෝජනගත් දැගසව්වන් වහන්සේලා නොයෙකුත් ප්‍රාතිහාර්ය පාමින් ධර්මය දේශනා කළහ. එයින් ඒ භික්ෂූහු සෝවාන් වූහ. අනතුරුව උන්වහන්සේලා ඒ පිරිසත් කැටිව අහසින් ම දෙව්රමට වැඩියහ.

මේ සිද්ධියෙන් දෙව්දත් තෙරුන්ගේ ප්‍රධාන අතවැසි වූ කෝකාලික තෙර කුපිත විය. සැරියුත් මුගලන් දෙදෙනා වහන්සේට පිරිස ගෙන යන්නට දීම ගැන පරොස් බසින් බැණ, සැතපී සිටි දෙව්දත්ගේ පපුවට දණහිසින් පහරක් දුන්නේ ය. එයින් දෙව්දත් තෙරුන්ට ලේ වමනය විය. එතැන් සිට නව මසක් ම දැඩිව ගිලන් ව සිටි උන් වහන්සේ මරණාසන්න විය. තමා කළ අපරාධ නිසා මහත් ළතැවිල්ලට පත් උන්වහන්සේට බුදුරදුන් වෙත ගොස් සමාව ඉල්ලන්නට උවමනා විය. තමා එහි ගෙන යන ලෙස ශ්‍රාවකයන්ට නියම කළේ ය. මුලදී අකමැති වූ ඔවුහු උන්වහන්ස්ගේ බලවත් ඉල්ලීම නිසාම ඇඳක තබා ගෙන දෙව්රම් වෙහෙරට ගෙන ගියහ. එහෙත් දෙව්රම් වෙහෙරෙහි පොකුණෙන් ඔබ්බට යන්නට නොලැබිණි. තම සව්වන් නාන්නට පොකුණට බැස්ස මොහොතෙහි ඇඳෙන් නැගිට දෙපා බිම තැබූ දෙව්දත් තෙරුන් පොළව පැලී ගිලී ගොස් අවීචි මහා නරකයේ උපන්නේ ය.

එසේ ගිලෙද්දී උන්වහන්සේ බුදුන් සරණ ගියේ ය. මේ කාරණය භික්ෂූන් වහන්සේලා බුදුරජාණන් වහන්සේට සැළ කළහ. ඒ අවස්ථාවෙහි

උන් වහන්සේ මේ ගාථාව දේශනා කළේ ය.

ඉධ තපපති පෙච්ච තපපති
පාපකාරි උභයත්ථ තපපති
පාපං මේ කතන්ති තපපති
භියොයා තපපති දුගගතිං ගතො

පව්කම් කරන්නා ( පාප කර්මය කිරීමේදී ඇතිවන දෙම්නසින් ) මෙළොවත් තැවේ. පරලොව දී ඒ කර්ම විපාකයෙන් දරුණු අපා දුක් විඳිමින් තැවේ. මෙසේ ඔහු දෙලොව ම තැවේ. මා විසින් පාපයක් කරණ ලදැයි මෙලොවදී තැවෙයි. දුගතියට ගිය විට එහි විපාක විඳිමින් වඩ වඩාත් තැවෙයි.

දෙව්දත් තෙර මෙවන් අපරාධ කළත් පෙර බොහෝ කල් පෙරුම් පිරූ කෙනෙකි. එහෙයින් කාලාන්තරයකට පසු නිරයෙන් මිදී අවුත් පින් දහම් පුරා මතු කාලයක සට්ඨිස්සර නම් පසේ බුදුවන්නේ යැයි බුදුරජාණන් වහන්සේ වදාළ සේක.

## 21.3 පියාණන් මලණුවන් වූ හැටි

අනේපිඬු සිටුතුමා බුදු සසුනෙහි අග්‍ර දායකයා විය. පනස් හතර කෝටියක් ධනය වැය කොට ජේතවනාරාමය ඉදි කරවූ එතුමාගේ ප්‍රධාන කටයුත්තක් වූයේ බුදුරජාණන් වහන්සේගේ පහසුව සැලසීම යි. එසේ ම එතුමාගේ නිවසෙහි දිනපතා භික්ෂූහු දෙදහසක් දන් වැළඳූහ. මේ අතර නගරයේ වෙනත් නිවෙස්වල පැවැත්වෙන දන පිංකම්වල මූලිකත්වය ගැනීමට හා සංවිධානය කිරීමට ද එතුමාට යන්නට සිදු විය.

අනේපිඬු සිටුතුමාට චූල සුභද්‍රා, මහා සුභද්‍රා, සුමනා යැයි දියණියෝ තිදෙනෙක් වූහ. තමා නැති අවස්ථාවල නිවසේ දන් වළඳන භික්ෂූන් වහන්සේලාට වතාවත් කළේ දෙවු දයණිය වූ මහාසුභද්‍රා ය. ඇය පති කුලයට ගිය පසු වතාවත් කළේ චූල සුභද්‍රා ය. මේ දෙදෙනා ම සෝවාන් වූ අය යි. සංඝයාගේ උපස්ථානය මැනවින් කළ ඇය ද පති කුලයට ගියා ය. අනතුරුව වතාවත් කළේ බාල දියණිය වූ සුමනා කුමරිය යි. සකෘදගාමී උපාසිකාවක

වූ සුමනා පති කුලයට නොගොස් කුමරියක ලෙස ම සිටියා ය. හදිසියේ රෝගාතුර වූ ඇය මරණාසන්න වූවා ය. ඒ මෙහොතේ ඇයට පියා දකින්නට උවමනා විය. එවිටත් අනේපිඬු සිටුතුමා සිටියේ දන් ගෙදරක ය. පණිවුඩය ලැබුණු සැණින් එතුමා වහා එහි ආවේ ය. දියණිය වෙත ලංවී '' දුව සුමනා-වෙනි, කිමද්ද''යි පියා විමසී ය. එවිට ඇය '' මළණුවනි, කොහි සිටියේද්ද''යි විමසුවා ය. තමාට මළණුවන් යැයි කීවිට ඇගේ සිහි විකල් වී දෝ යි සිටුතුමාට සිතිණි. '' දියණියනි, නන් දෙඩවන්නේ ඇයි, බිය වූයේ ද්ද''යි හේ ඇසී ය.

එවිට සුමනා කුමරිය ''මළණුවනි මම නන් නොදෙඩමි. බිය නොවූයෙමි''යි කියද්දී ම මිය ගියා ය. සිටුතුමාට දුවගේ වියෝව ඉවසිය නොහැකි දුකක් විය. ඒ මොහොතේ ඇය දෙඩවීම ගැන සිටුතුමා වඩාත් කම්පාවට පත් විය.

ඇගේ අවසන් කටයුතු නිම වූ සැණින් සිටුතුමා හඬමින් බුදුරදුන් හමුවට ගියේ ය. බුදුරජාණන් වහන්සේ '' ගෘහපතිය, මෙසේ දුක් දෙම්නසින් වැළපෙන්නේ මන්ද '' යි ඇසූහ. '' ස්වාමිනී, මාගේ දුව සුමනා දේවිය කළුරිය කළාය.'' යැයි කීය. '' ඉතින් ශෝක කරන්නේ මන්ද? මරණය ඒකාන්තය නොවේ දැයි '' බුදුරජාණන් වහන්සේ ඇසූහ. '' ස්වාමීනී, මම එය දනිමි. එහෙත් මෙතරම් සිල්වත් ව, ගුණවත් ව, විලිබිය ඇතුව විසූ මගේ දියණිය සිහි කල්පනාව නැතිව නන් දොඩවමින් මිය යාම මට ඉවසිය නොහැකි දුකකැ''යි සිටුතුමා කීය.

එවිට සියලු සිදුවීම අසා දැනගත් බුදුරජාණන් වහන්සේ '' සිටාණෙනි! ඔබේ දියණිය නන් දෙඩෙව්වා නොවේ. ඇය සකෘදගාමී ය. ඔබ සෝවාන් ය. ඔබට වඩා ඇය මාර්ග ඵලවලින් වැඩිමහලු නිසා ඔබට මළණුවනියි ඇමතුවා යැ'' යි කරුණු පැහැදිලි කර දුන්හ. එයින් ඉතා ප්‍රීතියටපත් සිටුතුමා ඈ කොහි උපන්නේදැයි ඇසීය. '' තුසිත භවනේ' යැයි වදාළ කල්හි '' ස්වාමිනී! මගේ දුව මෙහිදීත් පින් දහම් කොට ප්‍රීතියෙන් සිට, පරලොවත් සතුටුවන තැනක ම උපන්නේ නොවේද්ද'යි '' කීය. බුදුරජාණන් වහන්සේ එය අනුමත කරමින් මේ ගාථාව වදාළ සේක.

ඉධ නන්දති පෙච්ච නන්දති
කත පුඤ්ඤෙඤා උභයත්ථ නන්දති
පුඤ්ඤං මේ කතන්ති නන්දති
භියො නන්දති සුගගතිං ගතො

පින් කළ තැනැත්තා මෙලොවත් ( පින් කරමින් ) සතුටු වේ. පරලොවත් ( විපාක විඳිමින් ) සතුටු වේ. මෙසේ හෙතෙම දෙලොවම සතුටු වෙයි. මෙලොවදී මම පිනක් කළෙමියි ( කර්ම ප්‍රීතිය ලබා ) සතුටු වෙයි. පරලොවදී සැප විපාක භුක්ති විඳින අතර ( අහෝ සැපයි, අහෝ සැපයි කියා විපාක ප්‍රීතියෙන්) වඩාත් සතුටු වේ.

## 21.4 මහණ එළයෙහි හිමිකරුවෝ

සැවැත් නුවර වැසි යහලුවෝ දෙදෙනෙක් නිතර පන්සල් යාමට බණ ඇසීමට පුරුදුව සිටියෝ ය. බණ අසා ගිහි ජීවිතයෙහි කළකිරුණු ඔවුන් දෙදෙනා පැවිදි වූහ. උන්වහන්සේලාගෙන් එක නමක් '' මා මහලු ය. ග්‍රන්ථ ධූරය පුරන්නට අපොහොසත් ය. විදර්ශනා ධූරය පුරමි.'' යි කියා රහත් බව දක්වා කමටහන් ලබාගෙන විවේක සෙනසුනක් බලා ගියේ ය. එහිදී බොහෝ වෙර වඩා සිව්පිළි සිඹියා සහිත රහත් බවට පැමිණියහ.

අනෙක් තෙර නම ග්‍රන්ථ ධූරය පුරමින් ත්‍රිපිටක බුද්ධ ධර්මය හදාළේ ය. දැන් උන්වහන්සේ ගිය ගිය තැන ධර්ම දේශනා කරති. පන්සියයක් භික්ෂූන්ට ධර්මය උගන්වති.

මේ අතර භික්ෂූන් වහන්සේලා ඉහත කී රහතන් වහන්සේ වෙත ගොස් අවවාද අනුශාසනා ලබමින් භාවනා පුහුණුව ලබති. රහත් වී කටයුතු නිමකළ භික්ෂූන් වහන්සේලා ඒ තෙරුන් වහන්සේ වැඳ පෙරළා බුදුන් දකින්නට යති. එවිට උන්වහන්සේ '' හොඳයි යන්න, මගේ වචනයෙන් බුදුන් වඳින්න, අසූ මහා සව්වන් වඳින්න, මගේ යහළු තෙරුන් හමු වී අපේ ආචාර්යයන් වහන්සේ ඔබ වඳිතියි කියන්නැයි '' පණිවුඩ යවති.

මෙසේ එන යන භික්ෂූන් බුදුන් වැඳ ශ්‍රාවකයන් වැඳ, ග්‍රන්ථ ධූරය පූරණ භික්ෂුවට ද වැඳ පණිවුඩය කියති. මෙසේ එන පිරිස වැඩිවන විට ත්‍රිපිටකධාරී භික්ෂුවට එය ඉවසා ගත නොහැකි විය. අපේ ගුරුතුමා ඔබ වඳිතියි කී කළ ඒ කවුදැයි අසයි. ඔබගේ යහළු තෙරුන් වහන්සේ යැයි කී විට ''උන්වහන්සේ ඔබට කළ ගුරුකම කුමක් ද? ඔවුන්ගෙන් උගත්තේ කුමක් ද? තුන් පිටකයෙන් එක් පිටකයක් හෝ නිකාය ග්‍රන්ථවලින් එක් නිකායක් හෝ උන්වහන්සේ දන්නවා ද? පැවිදි වූ ගමන් ම පාංශුකූල සිවුරු දරා කැලයට ගියේ ය. අතවැස්සෝ නම් බොහෝ ය. එහෙත් සතරපාද ගාථාවක්වත් නොදනිති '' යි හෙළා දැක උන්වහන්සේ පැමිණි විටකදී ප්‍රශ්න කරන්නට ද සිතා ගත්තේ ය.

කලකට පසු ඒ විදර්ශක තෙරුන් වහන්සේ පැමිණ යහළු තෙරුන්ගේ ආවාසයෙහි නවාතැන් ගත්හ. බුදුන් වැඳ අසූ මහා ශ්‍රාවකයන් වැඳ ආපසු ආවාසයට පැමිණි විට ත්‍රිපිටකධාරී තෙරණුවෝ තම අතවැසියන් ලවා සියලු වතාවත් කරවා සම අසුනක් ගෙන ප්‍රශ්න අසන රිසියෙන් උන්වහන්සේ ළඟ හිඳ ගත්හ.

මේ සිදුවීම දිවැසින් දුටු බුදුරජාණන් වහන්සේ මේ භික්ෂුව මේ රහතන් වහන්සේ වෙහෙස කරවා අපාගත වන්නේ යැයි දැන විහාර චාරිකාවේ වඩින ලෙසින් එතනට වැඩියහ. පැණවූ අසුනෙහි වැඩ සිටි බුදුරජාණන් වහන්සේ පළමුවෙන් ම ත්‍රිපිටකධාරී ආවාසික භික්ෂුවගෙන් ධ්‍යාන සමාපත්ති ගැන ප්‍රශ්න විචාළහ. එහෙත් පිළිතුරු නොළැබිණි. විදර්ශනා භික්ෂූන් වහන්සේ ඊට පිළිතුරු සැපයූහ. අනතුරුව සෝවාන් මාර්ගය ගැන ප්‍රශ්න කෙරිණි. එයට ද ත්‍රිපිටකධාරී භික්ෂුව නිරුත්තර විය. සෙසු මාර්ග ගැනත් පිළිවෙළින් විචාළහ. ග්‍රන්ථ ධූරය පිරූ භික්ෂුවට ඒ එකකටවත් පිළිතුරු දිය නොහැකි විය. විදර්ශක රහතන් වහන්සේ සියල්ල මැනවින් විසඳාලූහ. ඒ සෑම අවස්ථාවකදී ම බුදුරජණන් වහන්සේ සාධුකාර දුන්හ.

ඒ සාධුකාරය අසා බුමාටු දෙවියන්ගෙන් පටන් ගෙන බඹලොව දක්වා සාධුකාරය පැතිර ගියේ ය. ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේට ප්‍රශංසාවක්වත් නොලැබිණි. මේ ගැන උන්වන්සේගේ අතවැසියන් අතර කතා බහක් ඇති විය. එවේලෙහි බුදුරජාණන් වහන්සේ '' මහණෙනි, ඔබගේ ත්‍රිපිටකධාරී ගුරුවරයා කුලියට හරකුන් බලන ගොපල්ලෙකු වැනි ය. ඒ

ගොපල්ලා පස් ගෝ රසයට හිමකම් නොලබන්නා සේ ඔබගේ ගුරුවරයා ද ගරු බුහුමන්වලට හිමිකාරයෙකු වුවත් මගපලවලට හිමිකාරයෙකු නොවී ය''.

'' එහෙත් මේ විදර්ශක රහතන් වහන්සේ පස්ගෝරසය පරිභෝග කරන ගව හිමියෙකු මෙන් ධර්මය ද අවබෝධ කරගෙන මගඵලවලට ද හිමිකරුවෙකු වූයේ '' යැයි වදරා මේ ගාථා දෙක දේශනා කළ සේක.

බහුමපි චෙ සහිතං භාසමානො
න තක්කරො හොති නරො පමත්තො
ගොපොව ගාවො ගණයං පරෙසං
න භාගවා සාමඤ්ඤස්ස හොති

බොහෝ බණ දහම් ඉගෙන ගෙන එය දෙසන නමුත් එ ධර්මයට අනුව නොපිළි පදින ( නම්බු නාම තනතුරු ලාභ ප්‍රසංසාවලින් සතුටු වී ) ප්‍රමාදව වෙසෙන පුද්ගලයා අනුන්ගේ ගවයන් රැක බලාගෙන ගණන් කර බාර දෙන ගොපල්ලෙකු මෙන් මහණකමේ ඵලයට ( මගඵල වලට ) හිමි කරුවෙක් නොවන්නේ ය.

අප්පමපි චෙ සහිතං භාසමානො
ධම්මස්ස හොති අනුධම්මචාරී
රාගං ච දොසං ච පහාය මොහං
සම්මප්පජානො සුවිමුත්ත චිත්තො
අනුපාදියානො ඉධ වා හුරංවා
ස භාගවා සාමඤ්ඤස්ස හොති

බණ දහම් ස්වල්පයක් දැනගෙන අනුන්ට දෙසන කෙනෙකු වුවත් ( සිල් පුරමින් ඉන්ද්‍රිය සංවරයෙන් යුතුව කමටහන් ගෙන බවුන් වඩමින් ) ධර්මානුකූල ව හැසිරෙන්නේ වේ නම් රාගය, ද්වේශය, මෝහය දුරුකළ විදර්ශනා නුවණින් සංස්කාර ධර්මයන්ගේ තතු මනාව දන්නා කෙනෙකු වේ නම්, මනාව මිදුණු සිත් ඇති, මෙලොව හෝ පරලොව සම්බන්ධ කිසිවෙක් '' මමයි මාගේ ය '' යැයි දැඩිව නො ගන්නා කෙනෙකුත් වේ නම් හෙතෙම මහණකමේ හිමිකරුවෙක් වන්නේ ය.

## අභ්‍යාසය

01. යමක වග්ගයට එම නම යෙදීමේ යුක්තිය පහදන්න.

02. යමක වග්ගයේ එන ධර්මකාරණා කුසල - අකුසල වශයෙන් තීරු දෙකට බෙදූ සටහනක් පිළියෙල කර පන්තිකාමර බිත්තියේ එල්ලන්න.

03. යමක වගගයේ කුසල පක්‍ෂයේ ගාථාව එක් අසුනකටත්, අකුසල පක්‍ෂයේ ගාථාව අනෙක් අසුනකටත් භාර දී යුගාසන ධර්ම දේශනා පුහුණුවක යෙදෙන්න.

# 22 ධම්ම පදය IV

## අප්පමාද වර්ගය

### 22.1 රූප මදය කළ විනාශයක්

කුරු රට මාගන්දිය නම් බමුණෙක් විසී ය. ඔහුට දෙවඟනක් බඳු රූමත් දියණියක් වූවා ය. ඇය ගැන මහත් ආඩම්බරයෙන් සිටි පියා කොතරම් උසස් තැන්වලින් විවාහ යෝජනා ගෙනාවත් කිසිවෙකට එකඟ නොවී ය. ඇයට වඩාත් සුදුසු පුරුෂයෙකු හමු වන තුරු සිටියේ ය.

මාගන්දිය බමුණා සහ බැමිණිය සසර පින් පුරා සිටි දෙදෙනෙකි. ඒ බව දිවැසින් දුටු බුදුරජාණන් වහන්සේ වරක් ඔවුන්ගේ යහපත උදෙසා එනුවරට වැඩම කළ සේක. අතරමගදී මාගන්දිය බමුණාට උන්වහන්සේ මුණ ගැසිණ. දුටු පමණින් ම බුදු රුව ඔහුගේ සිත පැහැර ගත්තේ ය. තම දියණියට නියම පුරුෂයා හමු විණැයි හෙතෙම ප්‍රීතියෙන් ඉපිල ගියේ ය. තමන් එනතුරු මදක් ඉවසන්නැයි බුදුරදුන්ට කියා හෙතෙම කලබලයෙන් ගෙදර දිවී ය. උන්වහන්සේ එහි පා සටහන් තබා වෙනත් තැනකට වැඩිය හ.

ගෙදර ගිය බමුණා දුවත් සරසාගෙන බැමිණියත් සමග සැණෙකින් ආවේ ය. ඒ වන විට බුදුරජාණන් වහන්සේ එහි නැත. පා සටහන පමණක් තිබුණි. '' මේ තිබෙන්නේ ඒ පුරුෂයාගේ පියවර '' යැයි බමුණා බැමිණියට පෙන්වී ය. අංග ලක්ෂණ ශාස්ත්‍රය හෙඳින් දැන සිටි ඇය එය පරීක්ෂා කොට :-

රත්තස්ස හි උක්කුටිකං පදං භවෙ
දුට්ඨස්ස හොති සහසානුපීළිතං
මූළ්හස්ස හොති අවකඩ්ඪිතං පදං
විවත්තච්ඡදස්සිද මීදිසං පදං

රාගාධික පුද්ගලයන්ගේ පියවර උඩට මතු වී සිටී. ද්වේශය අධික තැනැත්තාගේ පියවර සමතලා ය. මෝඩයාගේ පියවර සටහන

මැදින් කැඩී සිටී, මෙය නම් මේ දෝෂ තුනෙන් ම තොර, කෙලසුන් නැසූ කෙනෙකුන්ගේ පිය සටහනකි. මොහු සෙවීමෙන් පලක් නැතැයි කීවා ය.

ඇගේ කීම නොතැකූ බමුණා ඇයටත් බැණ වැදී බුදුරදුන් සොයන්නට විය. ගසක් මුල වැඩහුන් උන්වහන්සේ දුටු හෙතෙම දියණිය ද කැටුව එහි ගොස් '' පින්වත, මෙතෙක් මා සෙවූවේ ඔබ ය. මගේ දුවට සුදුසු ම පුරුෂයා ඔබ ය. මැය භාරගනු මැනවැ'' යි කීය. එවිට බුදුරජාණන් වහන්සේ

> දිසවාන තණ්හං අරතිං රගං ච
> නාහොසි ඡන්දං අපි මෙථුනසමිං
> කිමෙවිදං මුත්ත කරීස පුණ්ණං
> පාදපි නං සම්ඵුසිතුං න ඉච්ඡෙ

'' තණ්හා, රතී, රගා යන (ඉහළම දෙවු ලොව වූ පරනිම්මිත වසවර්තියේ) දෙවඟනන් දැකත් කාම හැඟීමක් ඇති නොවූ මට මේ මල මූත්‍රවලින් පිරුණු ශරීරයකින් කුමන පලයක් ද, මම, මෙය පයින් පාගන්නටවත් කැමති නෙවෙමි' යි වදරා ඔවුන්ට දහම් දෙසූහ. ඒ බණ ඇසූ බමුණු දෙමහල්ලෝ සෝවාන් වූහ. එහෙත් රූප මදයෙන් මත් ව සිටි මාගන්දියා කුමරිය තමන්ට අපහාස කළා යැයි බුදුරදුන් කෙරෙහි වෛර බැඳ ගත්තා ය.

එහෙත් බමුණා සහ බැමිණිය සිය දියණිය ඇගේ සුළු පියාට භාර කොට පැවිදිව රහත් වූහ. මේ අතර මගන්දියා දුක ඇගේ රුවට වසඟ වූ උදේන රජු ඇය ගෙන්වා ගෙන සිය අග මෙහෙසිය කරගත්තේ ය. ඇයත් සමග කොසඹෑ නුවර උදේන රජතුමාට මාගන්දියා, වාසුලදත්තා, සාමාවතී යයි බිසෝවරු තිදෙනෙක් වූහ. ඔවුන්ගේ පිරිවර කුමරියෝ ද පන්සියය බැගින් වූහ.

කලක් ගෙවුණි. කොසඹෑ නුවර සිටුවරු තිදෙනෙක් ඝෝසිතාරාමය, කුක්කුටාරාමය, පාවාරිකාරාමය, යනුවෙන් ආරාම තුනක් කරවා, ඒවා පූජා කරන උළෙලට බුදුරදුන්ට ද ඇරයුම් කළ හ.

බුදුරජාණන් වහන්සේ කොසඹෑ නුවරට වඩින බව ඇසූ මාගන්දියා බිසව මෙය තම වෛරය පිරිමහ ගන්නට හොඳ ම වේලාව යයි සිතුවා ය. නගරයේ අවිනීත මිනිසුන් අල්ලසට ගත් ඇය ඔවුන් ලවා බුදුරදුන්ට

නින්ද අපහාස කරන්නට යෙදුවා ය. කුලීකරුවෝ ද උන්වහන්සේ වඩින මග දෙපස දහස් ගණනින් රැස්වී දිගින් දිගටම නින්ද පරිභව කරන්නට වූහ. එයින් මහත් සේ කම්පාවට පත් අනඳ තෙරණුවෝ '' ස්වාමීනි, අපි වෙනත් නගරයකට යමු'' යි යෝජනා කළ හ. එවිට බුදුරජාණන් වහන්සේ

'' ආනන්ද යම් තැනක අර්බුදයක් උපන් විට එය සංසිඳෙන තුරු එතැන හැර යාම සුදුසු නැත. ආනන්ද මම යුද බිමට වන් ඇතෙක් දසතින් එන ඊ පහර ඉවසන්නා සේ නින්ද පරිභව උහුලමි. මන්දයත්, මොවුන් බොහෝ දෙනා දුස්සීලයන් බැවිනි''යි වදරා එහි ම විසූ හ. සතියක් යනවිට කරුණු වටහා ගෙන ලැජ්ජාවට පත් ජනයා නිහඬ වූහ.

කොසඹෑ නුවර සුමන නම් මාලාකාරයෙක් විසී ය. හෙතෙම මුළු නුවර ම වීදි මලින් සරසා බුදුන් වඩින මග මල් වියන් බැඳ මල් පාවඩ එළා මහ පුද පෙරහැරක් පැවැත් වීය. සාමාවතී බිසවට දිනපතා මාලාකාරාගෙන් මල් ගෙන යන ඛුජ්ජුත්තරා නම් සේවිකාව ද මේ අපූරු පූජාවට සහභාගි වූවා ය. බුදුරදුන්ගේ අනුමෙවෙනි බණ අසා සුමන මාලාකාරයා මෙන් ම ඛුජ්ජුත්තරා ද සෝවාන් වූවා ය. පසුව බුදු සසුනේ මහා ප්‍රඥාවන්ත උපාසිකාවන් අතර අගතනතුර ලැබුවේ ද ඇය යි.

ඛුජ්ජුත්තරාවගෙන් තොරතුරු අසා පැහැදී ඇගෙන් ම බණ ඇසූ සාමාවතී ඇතුළු පන්සියයක් කුමාරිකාවෝ ද සෝවාන් වූහ. ඔවුන්ට බුදුරදුන් දැකීමට ආශාව ඇති වූවත් බැහැර යාමට අවසර නොතිබිණි. එනිසා ඛුජ්ජුත්තරාගේ උපදෙස් පරිදි ඔවුහු මැදුරුවල කවුළු තනාගෙන මහ මග වඩින බුදුන් දැක වැඳ පුද ගත්හ. මේ කවුළු දුටු මාගන්දියා '' මොවුහු කවුළු තනාගෙන වෙනත් පිරිමින් දෙස බලන්නාහ'යි රජුට පැමිණිලි කළා ය. කාරණය විමසා බැලූ රජතුමා එය ගණනට නොගෙන කවුළු වස්වා දැමී ය. බුදුරදුන්ගෙන් ගතයුතු පලිය සමාවතී ඇතුළු පිරිසගෙන් ගනිමියි සිතූ මාගන්දියා නොයෙක් උපක්‍රම කොට, රජු ලවා ඔවුන් නැසීමට තැත් කළා ය. එහෙත් ඒ සියල්ල අසාර්ථක විය. අන්තිමේදී උදේන රජතුමාත් බුදුන් සරණ ගියේ ය.

කෝපයෙන් වියරු වූ මාගන්දියා අන්තිමේදී සිය සුළු පියා ලවා සාමාවතී ඇතුළු පිරිසත් සමග ම මාලිගය අගුළු ලා තෙල් දමා ගිනි ලැවී ය. ඒ පන්සියයක් කුමාරිකාවෝ බුදුගුණ මෙනෙහි කර මෙත් වඩමින් මියගොස් දෙවුලොව උපන්හ.

මේ රුදුරු පුවත අසා දැඩි සේ කෝප වූ උදේන රජු උපක්‍රමයකින් මාගන්දියාගේ සියලු නෑයන් රජ මිදුලට ගෙන් වා කරවටක් වළලා පිදුරු දමා ගිනි ලැවී ය. මාගන්දියාගේ ඇඟ මස් කපා තෙලෙහි බැද ඇයට ම කවා වධ දී ඇය ද මැරවී ය.

මේ බිහිසුණු සිදුවීම් දෙක දම්සභා මණ්ඩපයේ දී භික්ෂූන් වහන්සේලා අතර කතාබහට ලක් විය. ඒ මොහොතේ එහි වැඩම කළ බුදුරජාණන් වහන්සේ භික්ෂූන් වහන්සේලාගේ ඇරයුම පරිදි මේ දෙපිරිසට ම මේ ඉරණමට ගොදුරු වීමට හේතු වූ පෙර කළ කර්ම විස්තර කොට, " මහණෙනි, මාගන්දියා වැන්නියන් අපරාධ කොට, ජීවත් වුවත් මළවුන් වැනි ය. සාමාවතී වැන්නියන් මළත් ජීවත්වන්නවුන් වැනි යැයි මේ ගාථා දේශනා කළ සේක.

අප්පමාදෙ අමත පදං - පමාදෙ මච්චුනො පදං
අප්පමත්තා න මීයන්ති - යෙ පමත්තා යථා මතා

(අප්‍රමාදය) කුසල් දහම්හි සිහියෙන් සැලකිල්ලෙන් යෙදීම (අමෘතයට) මරණයෙන් මිදෙන නිවනට (පදය යි) තබන පියවරයි. (ප්‍රමාදය) කුසලයෙහි යෙදීමට සිහියක් සැලකිල්ලක් නැති කම (මරණයට) සසර දිගට ම ඉපදී ඉපදී මැරි මැරී යාමට (පදයයි) තබන අඩිය යි. අප්‍රමාදී වූවෝ (ඉපදීම නිමා කරන හෙයින්) නැවත නොමැරති. ප්‍රමාදී වූවෝ (මරණයෙන් මිදීම කල් දමන බැවින්) ජීවත් වූවත් මළවුන් වැනි ය.

එතං විසෙසතො ඤත්වා - අප්පමාදම්හි පණ්ඩිතා
අප්පමාදෙ පමොදන්ති - අරියානං ගොචරෙ රතා

අප්‍රමාදය පිළිබඳ (පමා වන්නාට සසර දුකින් මිදීමක් නැත. එය ඇත්තේ නොපමා වන්නාට පමණක් ය යන)මේ කරුණු විශේෂයෙන් වටහාගෙන නුවණැත්තෝ තමා වෙත ඇති ඒ අප්‍රමාද ප්‍රතිපත්තිය ගැන සතුටු වෙති. එසේ සතුටු වන ඔවුහු ආර්යයන් වහන්සේලාගේ ගොදුරු බිම ලෙස සැලකෙන සතිපට්ඨානාදී ධර්මයන්හි යෙදෙති.

තෙ ඣායිනො සාතතිකා
නිච්චං දළ්හ පරක්කමා
ඵුසන්ති ධීරා නිබ්බාණං
යොගක්ඛෙමං අනුත්තරං

මුල පටන් ම නොකඩවා සමථ විදර්ශනා වශයෙන් ධ්‍යාන වඩන, පසු නොබැස නිරතුරුව ම වීර්යය දැඩිව පත්වාගෙන යන, ඒ උත්තමයෝ (කාම, භව, දිට්ඨි, අවිජ්ජයන) යෝගයන්ගෙන් නිදහස් වූ සියලු ධර්මයන් අතර උතුම් ම ධර්මය වූ නිවන (රහත් ඵලයෙන්) පසක් කරති (අත් දකිති).

## 22.2 කීර්තිය වැඩෙන කරුණු 7 ක්

බුදුරදුන් දවස රජගහ නුවර රජගහ සිටුගෙදර ඇත්තන්ට අහිවාතක නම් දරුණු වසංගත රෝගය වැළඳිණි. එය සර්පයන්ගේ විෂධූමය නිසා හටගන්නා බැවින් එනම් වෙයි. ඒ රෝගයෙන් පළමුව මැස්සන්ගේ පටන් සියලු තිරිසන්හු මැරෙති. අනතුරු ව දැසි දස්සෝ ද සියල්ලන්ට ම පසුව ගෙහිමියෝ ද මිය යති. ඒ සිටු ගෙදර ද සිටුතුමාට හා සිටු බිරිඳට අන්තිමේ දී රෝගය වැළඳිණි. ඉතිරිව සිටියේ එකම පුතු ය.

එම රෝගයෙන් ගැලවෙන්නේ බිත්ති බිඳගෙන පලා ගිය කෙනෙකු පමණි. එනිසා නිදන් කළ ධනය ඇති තැන් පුතුට කියා වහා ම පලා ගොස් පසු කලෙක පැමිණ ධනය ගෙන ජීවත් වන ලෙස මව්පියෝ ඉල්ලා සිටියහ. පුත්‍රයා ද කළ හැකි අන් කිසිවක් නොමැති හෙයින් හඬා වැලපී දෙමාපියන් වැඳ සමුගෙන බිත්ති බිඳගෙන පලා ගියේ ය.

වනගත ගම්මානයක කලක් ජීවත් වූ හෙතෙම යළි නගරයට පැමිණියේ ය. නගරයේ කිසිවෙක් දැන් ඔහු නොහඳුන යි. නිදන් කළ ධනය පිරික්සා බැලී ය. ඒවා නිරුපද්‍රිතව තිබිණි. දැන් ම එය ගැනීම අවදානම් බැවින් ඒ සඳහා කාලය එනතුරු ජීවිකාවක් සොයා ගත්තේ ය. ඒ අලුයම කම්කරුවන් අවදි කරවීමේ කාරිය යි. ඒ සඳහා ඔහුට වැටුපක් මෙන් ම වාසයට නිවසක් ද ලැබිණ.ඒ වෘත්තිය නිසා ඝෝෂක නම් වූ ඔහුගේ, කටහඬ කලයක හඬ මෙන් ගැඹුරු වූ නිසා හේ කුම්භඝෝෂක නම් විය.

රජ ගෙදර අසලින් කාල සෝෂා කරගෙන යන ඔහුගේ හඬ බිම්බිසාර රජතුමාට ද ඇසිණි. රජතුමා හඬ පිළිබඳ විශේෂ දැනුමක් තිබූ කෙනෙකි.

මොහුගේ හඬ ද ඇසුණු සැණින් ම රජතුමා '' මේ නම් කුලී වැඩ කළ යුතු දුගියෙක් නොව මහා ධනවතෙක් විය යුතු යයි '' අසල සිටි අයට පැවසී ය. මෙසේ දෙතුන් දිනක් ම කී විට එක්තරා පරිවාර ස්ත්‍රියක් මෙය පරීක්ෂා කර බලන්නට තීරණය කළා ය. ඒ සඳහා රජුගෙන් අවසර ගෙන, අවශ්‍ය වියදම ද ඉල්ලා ගත් ඇය රජගෙදර ම හැදෙන වැඩෙන සිය දියණිය ද කැටුව කම්කරු වීදියට ගියා ය.

වැරහැලි හැඳ දුගියන් සේ ගිය මේ දෙදෙනා කිහිප දිනකට නවාතැනක් ඉල්ලූහ. සෝෂකගේ ගෙදර ඉඩ ඇති හෙයින් ඔහුගෙන් විමසන ලෙස කම්කරුවෝ කීහ. සෝෂක ද අනුකම්පා කොට දින කිහිපයකට ඉන්නට දුන්නේ ය. දිනෙන් දින කල් යවමින් එහි ම විසූ මේ දෙදෙනා සෝෂකට මිහිරි ලෙස උයා පිහා දෙන්නට ද පටන් ගත් හ. සෝෂකට ද ඔවුන් පිටත් කරන්නට කලබලයක් නොවී ය. අන්තිමේ දී සිය දියණිය කෙරෙහි උපක්‍රමශීලීව ඔහු පොළඹවා ගන්නට ද ඒ මව සමත් වූවා ය.

මේ අතර ඇගේ ම උපක්‍රමයක් අනුව ඒ වීදියේ උත්සවයක් පවත්වන ලෙස රාජ නියෝගයක් ලැබිණ. ඒ සඳහා ලොකු මුදලක් අවශ්‍ය විය. එය පැහැර හැරිය නොහැකි බැවින් සෝෂක තම නිදන්ගත ධනයෙන් රන් කාසි කීපයක් ගෙන නැන්දණියට ගෙනවුත් දුන්නේ ය. ඇය ද ඒ කාසි සඟවා ගෙන තම මුදලින් උත්සවය පවත්වා ඒ කාසි රජුට යැව්වා ය. මෙසේ දෙතුන් වතාවක් ම සිදු විය. සියලු කාසි පරීක්ෂා කර බැලූ රජතුමාට සලකුණු අනුව ඒවා රජගහ නුවර සිටුතුමාගේ කාසි බව හෙළි විය. ඔහු මියගිය ආකාරයත්, ඔවුන්ට එක් පුතෙක් සිටි බවත් රජතුමාට සැළ විය.

රජතුමා සෝෂක කැඳවා කැරුණු විමසා බලා එය තහවුරු කර ගත්තේ ය. අනතුරු ව රථ යවා ඔහුගේ සියලු නිදන් ගත රන් ගෙන්වා ගොඩ ගැස්වී ය. මහජනයා රැස් කරවා ඔවුන්ට ධනය පෙන්වා සියල්ලන්ගේ කැමැත්ත පරිදි සෝෂකට රජගහ නුවර සිටුපදවිය ද පිරිනමා පරිවාර කුමරිය ද ඔහුට පාවා දුන්නේ ය.

අනතුරු ව ඔවුන් ද කැටුව බුදුරදුන් වෙත ගිය බිම්බිසාර රජතුමා වැඳ එකත් පසෙක හිඳ '' ස්වාමීනි, බලනු මැනවි, මේ බුද්ධිමත් තරුණයා සතළිස් කෙළක් ධනය තිබියදී උඩගු නොවී ඉවසීමෙන් දුගියෙකු ලෙස කල් ගෙවී ය. මා ඔහු කවුදැයි සොයා ගත්තේත් උපක්‍රමයකිනි. මෙබඳු, දුරදිග බලා වැඩ කරන, කල්පනාකාරී බුද්ධිමතෙකු මට හමු වූ පළමු වතාව '' මේ යැයි පැවසී ය. බුදුරජාණන් වහන්සේ ඒ නිමිති කරගෙන පහත සඳහන් ගාථාවෙන් දහම් දෙසූ සේක.

> උට්ඨානවතො සතිමතො
> සුචිකම්මස්ස නිසම්මකාරිනො
> සඤ්ඤතස්ස ච ධම්ම ජීවිනො
> අප්පමත්තස්ස යසොභිවඩ්ඪති

නැගී සිටි වීර්යය ඇති, සිහි කල්පනාවෙන් යුතු, කයින් වදනින් නිදෙස් ක්‍රියා ඇති, කරුණු කාරණා සලකා බලා කටයුතු කරන, ඉඳුරන් සංවර කරගත්, දැහැමින් දිවිගෙවන, නිතර ම සිහියෙන් වැඩ කරන පුද්ගලයගේ කීර්තිය හා ධනය වැඩෙන්නේ ය.දේශනාව අවසානයේ කුම්භඝෝෂක සිටුතුමා සෝවාන් විය.

## 22.3 නුගත් කම ජය ගත් මන්තරයක්

රජගහ නුවර ධනවත් සිටුවරයෙකුට ඉතා රූමත් දියණියක් විය. ඉතා ආරක්ෂා සහිත ව හැදුවත් ඇය කෙසේ හෝ සිටු මැදුරේ සේවකයෙකු සමග පැන ගියා ය. දෙමාපියෝ තමන්ට වූ අවනම්බුව අමාරුවෙන් විඳ දරාගෙන ඇය අමතක කර දැමූහ. කලක් ගත විය. ඈත පිටිසර විසූ ඇයට පළමු දරු උපත සඳහා මාපියන් ළඟට යාමට වුවමනා විය. ඇය අමාරුවෙන් සැමියා කැමති කරවා ගෙන රජගහ නුවර බලා යෑමට මහ මගට පිවිසියා ය. නමුත් අතරමගදී දරුවා ලැබිණ. අතර මගදී උපන් හෙයින් ඔහුට **පන්ථක** යැයි නම් තබන ලදි. මේ ආකාරයෙන් ම දෙවැනි දරුවා ද දෙමාපියන් බලන්නට යද්දී මගදී ම බිහි විය. ඔහුට **චූල්ල පන්ථක** යැයි නම තැබිණ. පළමු දරුවා **මහාපන්ථක** නම් විය. දෙදනාට දැනුම් තේරුම් එන විට මුත්තණු මිත්තණියන් දැකීමේ

ආශා ඇති විය. ඔවුන්ගේ ඇවිටිල්ල නිසා දෙමාපියෝ ඔවුන් රජගහ නුවර සිටුමැදුරට ගෙන ගියෝ ය. සිටු දෙමාහල්ලෝ මාපිය දෙදෙනාට ධනය දී ආපසු යවා දරුදෙදෙනා පමණක් භාර ගත්තෝ ය.

මේ දරු දෙදෙනා නිතර මුත්තණුවන් සමග වෙළුවනාරාමට යති. ඒ අතර මහාපන්ථකට පැවිදි වීමේ ආශාවක් ඇති විය. මුත්තණුවන්ගේ ඉල්ලීම පරිදි බුදුරජාණන් වහන්සේ ඔහු පැවිදි කළහ. උන්වහන්සේ නොබෝ කලකින් විදසුන් වඩා රහත් වූහ. අනතුරු ව මහාපන්ථක තෙරණුවෝ තම මළණුවන් ද මුත්තණුවන්ගෙන් ඉල්ලා අවුත් පැවිදි කළහ. උන්වහන්සේ ඉගෙනීමේ දක්ෂයෙක් නොවී ය. පෙර කාශ්‍යප බුදුරදුන් සමයෙහි ද මුන්වහන්සේ පැවිදිව සිටියේ ය. එදා පාලි ඉගෙන ගන්නා භික්ෂූන් වහන්සේ කෙනෙකුට වරදින තැන්වල දී විහිළු කළේ ය. එයින් ලැජ්ජාවට පත් එම භික්ෂූන් වහන්සේගේ ඉගෙනීම එතැනින් නතර විය. එය සසර නොයෙක් වර විපාක දී මේ අන්තිම භවයේදීත් පල දුන්නේ ය. උන්වහන්සේට සතර පද ගාථාවක් මතක තබාගැනීමට හාර මාසයෙකුනුත් බැරි විය. ගුරුවරයා වූ මහාපන්ථක තෙරණුවෝ "සතර පද ගාථාවක්වත් පාඩම්කර ගත නොහැකිව මහණ දම් පුරන්නේ කෙසේ ද ? මේ විහාරයෙන් පිටව යන්නයැ"යි නියම කළේ ය. එහෙත් චුල්ලපන්ථක හිමියන් නැවත ගිහි වීමට අකමැති ය. එදා ජීවක වෙද ඇදුරුතුමාගේ නිවසේ දානය යි. දන්වලට භික්ෂූන් නම් කරන(භත්තුද්දේසක) තනතුර දැරුවේ මහාපන්ථක තෙරණුවෝ ය. උන්වන්සේ චුල්ලපන්ථක හිමියන් හැර අනෙක් සියලු ම දෙනාට ඇරයුම් කළහ. එය අසා සිටි චුල්ලපන්ථක තෙරණුවෝ මහාපන්ථක තෙරණුවන් තමා පිළිබඳ කළකිරී ඇති බව සිතා සිවුරු හරින්නට පිටත් විය. උන්වහන්සේ යන මග දොරටුව අසල සක්මන් කරමින් සිටි බුදුරජාණන් වහන්සේ ඔබ මේ කොහි යන්නේ දැයි විචාළහ. එවිට උන්වහන්සේ සියලු තොරතුරු පැවසී ය. බුදුරජාණන් වහන්සේ ඒ අසා චුල්ලපන්ථක ඔබේ පැවිද්ද මා සතු ය. සොහොයුරා එළවා ගත්තේ නම් එන්නට තිබුණේ මා ළගට නොවේ දැ යි කියා උන්වහන්සේගේ හිස පිරිමැද ගඳ කිළිය වෙත කැඳවාගෙන ගියහ. එහි දී උන්වහන්සේගේ සසර පුරුදු කමටහනක් විමසා බැලූ බුදුරජාණන් වහන්සේ පිරිසිදු රෙදි කැබැල්ලක් දී නැගෙනහිර දෙස බලාගෙන "රජෝ හරණං රජෝ හරණං" කියමින් පිරිමදින ලෙස නියම කළහ.

අනතුරු ව බුදුරජාණන් වහන්සේ මහසඟන පිරිවරා ජීවක වෙද ඇදුරුතුමාගේ නිවසේ දනට වැඩම කළහ. වෙළුවනාරාමයේ ඉතිරි වූයේ චුල්ලපන්ථක හිමියන් පමණි. උන්වහන්සේ සුදු රෙදි කැබැල්ල පිරිමදිමින් සිටිය දී එය කිලිටි වී ගියේ ය. එයින් එක වර ම උන්වහන්සේට තිගැස්මක් ඇති විය. එහෙත් එය සිදු වූයේ තමාගේ ම සිරුරේ කුණුවලින් බව තේරුම් ගත් උන්වහන්සේට සියලු සංස්කාරයන්ගේ අනිත්‍ය බව වැටහෙන විදර්ශනා නුවණ පහළ විය. ඒ බව දැනගත් බුදුරජාණන් වහන්සේ උන්වහන්සේ ඉදිරියේ ඍද්ධියෙන් පෙනී සිට රජො හරණං යන පාඨයේ අර්ථය පැහැදිළි කරමින් "රජො" (රජස්) යනු දූවිල්ල නොව රාගය, ද්වේෂය නැතහොත් මෝහය යි. මහණ, ඒ රජස් දුර හැර බුදු සසුනෙහි විසිය යුතු යැ'යි ගාථා තුනකින් වදාළ හ. ඒ අවසානයේ චුල්ල පන්ථක පොඩිහාමුදුරුවෝ සිව්පිළිසිඹියා සහිත රහත් බවට පත් වූ හ. ඒ සමග ම උන්වහන්සේට විවිධ විචිත්‍ර රූප මැවීමෙහි සමත් ඍද්ධි බලය ද ලැබිණ.

දන් බෙදන අවස්ථාවේ බුදුරජාණන් වහන්සේ විහාරයේ තවත් භික්ෂූන් ඇතැයි කියා පාත්‍රය වැසූ හ. මහා පන්ථක තෙරණුවෝ විහාරයේ කිසිවෙක් නැතැ යි කීහ. එහෙත් බුදුරජාණන් වහන්සේ භික්ෂූන් ඇද්දැයි බලාගෙන එන ලෙස පණිවිඩ කරුවෙකු යැවූ හ. ඔහු යන විට විහාරය සංඝයාගෙන් පිරී තිබුණි. උන්වහන්සේලා ඇතැමෙක් චනපොත් කරති. කෙනෙක් හමදිති. කෙනෙක් බවුන් වඩති. මෙසේ විවිධ අය විවිධ දේ කරමින් සිටිති. දූතයා ආපසු දිව ගොස් ඒ බව දැන්වීය. එසේ නම් චුල්ලපන්ථක තෙරුන්ට තථාගතයන් වහන්සේ හඬ ගසන බව කියන්නැ'යි කියා යැවූහ. දූතයා ගොස් චුල්ලපන්ථක තෙරුන් කවුදැයි ඇසූ විට මම චුල්ලපන්ථකැ'යි මම චුල්ලපන්ථකැ'යි සියල්ලෝ ම කියන්නට වූහ. දූතයා නැවත පැමිණ ඒ බව දන් වූ විට මුලින් ම කතාකරන කෙනා සොයා බලා සිට අතින් අල්ලනැ'යි කීහ. ඔහු එසේ කළ විට සෙසු පිරිස අතුරු දහන් වූහ. චුල්ලපන්ථක හිමියන් පමණක් ඉතිරි විය. උන්වහන්සේ දූතයා සමඟ දනට වැඩියහ. එදා භුක්තානුමෝදනාව පැවරුණේ ද චුල්ල පන්ථක හිමියන්ට ය. උන්වහන්සේ මුළු මහත් ත්‍රිපිටකය ම අළලා අනුමෝදනා දේශනාව කළහ.

සතර පද ගාථවක් පාඩම් කරන්නට බැරි කෙනෙක් වරුවක් ඇතුළත සිව්පිළිසිඹියාපත් රහත් වී ත්‍රිපිටකය ම අළලා දහම් දෙසන්නට සමත් වීමේ මේ අපූරු සිද්ධිය ගැන එදා හවස දම් සභා මණ්ඩපයෙහි කතිකාවක් ඇති විය. එය

ඇසූ බුදුරජාණන් වහන්සේ ඉගෙනීමෙහි දුර්වලව සිටි චුල්ලපන්ථකට මෙබඳු මන්ත්‍රයකින් පෙරත් පිහිට වූයෙමියි කියා චුල්ල සෙට්ඨි ජාතකය වදාළහ.

අනතුරුව මාගේ සාසනයෙහි වීර්ය ආරම්භ කළ භික්ෂුව නොවරදවා ම ලෝකෝත්තර ධර්මයට හිමි කරුවෙක් වන්නේ යැයි වදාරා මේ ගාථාව දේශනා කළහ.

උට්ඨානෙනප්පමාදෙන සංයමෙන දමෙන ච
දීපං කයිරාථ මෙධාවී යං ඔඝො නාභිකීරතී

නුවණැත්තා, නොපසුබට වීර්යයෙන් ද, නොපමා බවින් ද සීල සංයමයෙන් හා ඉන්ද්‍රි දමනයෙන් ද කාම රාග, භව රාග, මිථ්‍යා දෘෂ්ටි සහ අවිද්‍යා යන මේ සැඩ පහර සතරට ගසා නොයන දිවයිනක් තනා ගත යුත්තේ ය.

## 22.4 නොහොබිනා සැණකෙළියක්

අවුරුද්දේ එක්තරා කාලයක සැවැත් නුවර අමුතු සැණකෙළියක් පැවැත්වේ. එය පවත්වන්නේ හික්මීමක් නැති ශීලයක් ගුණයක් නැති මිනිසුන් ය. ඒ උත්සවයේ දී බාල මෝඩ මිනිස්සු අළු ගොම වැනි දේ සිරුරෙහි ගා ගෙන සත් දවසක් පුරා අසභ්‍ය, තිරිසන් කතා කියමින් තැන තැන ගැවසෙති. දෙමාපිය, නෑ හිත මිතුරන්, දූ දරුවන් නොව පැවිදි උතුමන් සිටියත් ඔවුන්ට ලැජ්ජාවක් නැත. ගෙයක් ගෙයක් ගානේ යමින් ඔවුන් කියන නොහොබිනා කතා, අසභ්‍ය ගී සින්දු අසන්නට අකැමැති මිනිස්සු ඉක්මනින් කහවනු භාගයක් හෝ කහවනුවක් හෝ දී ඔවුන් මග හරිති.

මෙසේ හත් දිනක් ඉතා අමාරුවෙන් ගත කළ විළි බිය ඇති මිනිස්සු සත්වන ද බුද්ධ ප්‍රමුඛ සංඝයාට ආරාධනා කොට නුවර මැද මහ දානයක් දුන්හ. දන් වළදා අවසානයේ එකත් පසෙක ඉඳගත් මිනිස්සු ස්වාමීනි, අප මේ දවස් හත ගත කෙළේ ඉමහත් දුකකින්, මේ බාලයන්ගේ අසභ්‍ය

වචන අසන විට අපේ කන් පැලී යන්නා වගේ වුණා. ඒ කිසි කෙනෙකුට ඒ ගැන ලැජ්ජාවක් වත් තිබුණේ නැහැ. ඒ නිසාමයි අපි ඔබ වහන්සේලාටත් නගරයට පිවිසීමට ඉඩ නුදුන්නේ, අපත් ගෙවල්වලින් පිටතට ආවේ නැහැ'යි කීහ. මේ අසා සිටි බුදුරජාණන්වහන්සේ මේ ගාථාවලින් දහම් දෙසූ සේක.

පමාදමනුයුඤ්ජන්ති - බාලා දුම්මෙධිනො ජනා
අප්පමාදඤ්ච මෙධාවී ධනං සෙට්ඨං ව රක්ඛති

මෙලොව පරලොව යහපත නොදන්නා අනුවණ ජනයා කම් සැපයෙහි ඇලී, ප්‍රමාද වී මේ ආදීනව නොදැන එහි ම ප්‍රමාද වී කල් ගෙවති. දෙලොව දියුණුව දන්නා නුවණැත්තා පරපුරෙන් උරුම නිධානයක් මෙන් අප්‍රමාදය රැක ගනියි.

මා පමාද මනු යුඤ්ජෙථ මා කාම රති සන්ථවං
අප්පමත්තො හි ඣායන්තො පප්පොති විපුලං සුඛං

ප්‍රමාද වී හෙවත් කම්සැපයෙහි ඇලී ගැලී කාලය ගත නොකරන්න. කාමයන්ගේ ඇලීමෙන් ලබන සතුට ලබන්නට නොසිතන්න.කාමයන් විඳීමට පමා නොවී. අප්‍රමාදව කෙලෙස් දවමින් සිත දියුණු කරන පුද්ගලයා උතුම් වූ උදාර වූ නිවන් සැපතට පත් වන්නේ ය.

## 22.5 කඳුමුදුනේ සිට ලොව දකින්නා

වරක් මහා කාශ්‍යප මහරහතන් වහන්සේ රජගහ නුවර පිප්ඵලි ගුහාවේ වැඩ වසන සේක. දිවැසින් හෙවත් චුතූපපාත ඥානයෙන් සසර කම් සැප විඳ විඳ ප්‍රමාද වන සත්ත්වයන්, අප්‍රමාද වන සත්ත්වයන්, චුත වන සත්ත්වයන්, උපදින සත්ත්වයන් ආදී වශයෙන් සත්ත්වයන්ගේ විවිධ වෙනස්කම් බලමින් සිටිය හ. බුදුරජාණන් වහන්සේ දෙව්රම වැඩ සිටිමින් " මා පුතු කාශ්‍යප අද කෙබඳු විහරණයකින් වසන්නේද'යි දිවසින් බැලූ සේක. එවිට තෙරුන්වහන්සේ සත්ත්වයන්ගේ චුති උප්පත්ති පිළිබඳ ව දිවසින් බලමින් සිටින බව පෙනුණි.

අනතුරු ව ආලෝක දහරාවකින් තමන් වහන්සේ මහකසුප් තෙරුන් අබිමුවෙහි සිටින්නා සේ පෙනෙන්නට සලස්වා මෙසේ වදාළහ. කාශ්‍යපය, සත්ත්වයන්ගේ චුතවීම ඉපදීම බුදු කෙනෙකුටවත් සිය ඥානයෙන් දැක කෙළවරක් කිරීමට අසීරු ය. මවු කුසක පිළිසිඳ ගෙන නැවත මවටත් නොදැනෙන්නට චුත වී යන සත්ත්වයන්ගේ ප්‍රමාණය වුව ද අනන්ත ය. අප්‍රමාණ ය. ඔවුන් ගැන දැන ගැනීම පමණක් වුවත් ඔබේ නුවණින් නිම කළ නොහැකි ය. ඒ විෂය පිළිබඳ ව ඔබේ දැනීම ඉතා අල්ප ය. එසේ නම් සියලු දෙනාගේ චුතවන උපදින සියලු තොරතුරු දැන ගැනීම බුදුවරුන්ට පමණක් කළ හැකි දෙයකි,යි වදාරා නැවත මේ ගාථාව ද දෙසූ හ.

> පමාදං අප්පමාදෙන යදා නුදති පණ්ඩිතො
> පඤ්ඤාපාසාදමාරුය්හ අසොකො සොකිනිං පජං
> පබ්බතට්ඨො ව භුම්මට්ඨෙ ධීරො බාලෙ අවෙක්ඛති

නුවණැත්තා අප්‍රමාදයෙන් ප්‍රමාදය පහ කර දමයි. (පොකුණක තිබෙන පැරණි බොර වතුර තල්ලුකරගෙන පොකුණට එන අලුත් වතුර මෙන්) ඒ අප්‍රමාදී නුවණැත්තා දිබ්බ චක්ඛු ඥානය නැමැති ප්‍රාසාදය මුදුනට නැගී සෝකයෙන් තොර ව වෙසෙමින්, සෝක කරන අනුවණ ජනතාව දකින්නේ පර්වතයක් මුදුනේ සිටින්නෙක් බිම සිටින්නවුන් දක්නා සේ ය.

### 22.6 දුර්වල අශ්වයා අතර මග

එක්තරා යහළු භික්ෂූන් වහන්සේලා දෙනමක් බුදුරදුන්ගෙන් කමටහන් ගෙන අරණ්‍ය වාසයට ගියහ. එයින් එක් හිමි නමක් කල් ඇතුව ම දර ගෙන අවුත් ගිනි කබලක් සාදා ගෙන ළදරු සාමණේරයන් වහන්සේලා සමග අල්ලාප සල්ලාපයෙහි යෙදෙමින් ප්‍රථම යාමයෙහි ගිනි තපියි. අනෙක් හිමි නම අප්‍රමාදීව ලබා ගෙන ආ කමටහන මෙනෙහි කරමින් මහණ දම් පුරයි. ඒ අතර උන්වහන්සේ වරින් වර තම යහලු හිමියන්ට '' ඇවැත්නි, මෙලෙස කාලය විනාශ නොකරන්න. පමාවෙන අයට සතර අපාය තමා වසන ගෙය මෙන් ඉතා ළඟ තිබේ. බුදුවරු කපටිකමින් සතුටු කරවන්නට

නොහැකි ය. අප්‍රමාද වන්නැ'යි අවවාද කරයි. එහෙත් ඒ හිමියන් අවවාද නොඅසයි. අන්තිමේ දී මේ භික්ෂුව අවවාද දී හික්ම විය නොහැකි යැයි තේරුම් ගෙන උන්වහන්සේ කිසිත් නොකියා තමන් අප්‍රමාදීව මහණ දම් පිරුවේ ය.

අලස භික්ෂූන් වහන්සේ ප්‍රථම යාමයෙහි ගිනි තපිමින් සිට අනෙක් හිමියන් සක්මන් කොට සැතපෙන්නට ආ විට 'මහා අලසය' අරණ්‍යයට ආවේ වැටී නිදන්නට ද? බුදුන්ගෙන් කමටහන් ගෙනාවා නම් නැගිට ඒ මහණදම් පිරිය යුතුයි නේ ද කියා ඒ මහණදම් පුරණ භික්ෂුවට ම දොස් කියා තමා එළිවෙන තුරු සැතපෙයි. අනෙක් හිමියන් මධ්‍යම යාමයෙහි මදක් විවේක ගෙන අලුයම නැගිට නැවත මහණ දම් පුරයි. මෙසේ උන්වහන්සේ අප්‍රමාදීව විසීමෙන් වැඩි කල් නො යවා ම රහත් බවට පැමිණියේ ය. අනෙක් භික්ෂුව දිගට ම ප්‍රමාදයෙන් කල් ගෙවී ය.

වස් අවසානයෙහි දෙදෙනා වහන්සේ ම බුදුරදුන් හමුවීමට ගියහ. උන්වහන්සේ '' මහණෙනි. ඔබ අප්‍රමාදීව මහණ කමේ ඵල නෙලා ගත්තේ ද'යි ඇසූ හ. එවිට අලස භික්ෂුව අනේ, ස්වාමීනි, මේ හිමියන්ට මොන අප්‍රමාදයක් ද? ගිය දා පටන් ම පෙරළි පෙරළී නිදාගනිමින් කල් ගෙවී යැ'යි කීය. එවිට මහණ ඔබ කළේ කෙසේ දැයි බුදුරජාණන් වහන්සේ විමසූහ. "ස්වාමීනී මම කල් තියා ම දර ගෙනවුත් අඟුරු කබල සාදා ප්‍රථම යාමය ගිනි තපිමින් නොනිදා ම ගත කළෙමියි කීය"එවිට ඒ හිමියන් ඇමතූ බුදුරජාණන් වහන්සේ මහණ ඔබ ප්‍රමාදීව සිට අප්‍රමාදී වුනෙමියි කියන්නෙහි ය. අප්‍රමාදීව සිටි අය ප්‍රමාදී කරන්නෙහි ය ඔබ මගේ පුතු ඉදිරියේ බෙලසුන් අශ්වයකු වැනි ය. මේ භික්ෂුව ජව සම්පන්න අශ්වයකු වැනි යයි වදාරා මේ ගාථාව දේශනා කළහ.

අප්පමත්තො පමත්තෙසු සුත්තෙසු බහු ජාගරො
අබලස්සංව සීඝස්සො හිත්වා යාති සුමෙධසො

කම් සැපෙහි ඇලී ප්‍රමාද වන මිනිසුන් අතර කම් සැපෙහි නො ඇලෙන නොපමා පුද්ගලයා ද, කෙළෙස් නින්දෙන් නිදන්නන් අතර කෙලෙස් වලට වසඟ නොවී නිදිවරන පුද්ගලයා ද දුර්වල අශ්වයකු පසු කොට යන වේගවත් අශ්වයෙකු මෙන්, බුදුබණ ඉගෙනීමෙන් හා මාර්ග ඵල අවබෝධයෙන් ද ප්‍රමාදී අනුවණයන් පසු කොට වහා නිවන් පුරට යන්නේ ය.

## 22.7 මෛත්‍රියෙන් ජය ලැබේ

බුදුරජාණන් වහන්සේ විශාලා මහනුවර වැඩ වෙසෙන සමයක මහාලී නම් ලිච්ඡවී රජු උන්වහන්සේ බැහැදක " ස්වාමිනි ඔබ වහන්සේ නිතර වදාරන ශක්‍ර දේවේන්ද්‍රයා දැක තිබේද'යි ඇසීය. එවිට උන්වහන්සේ,

" මාතලී, මම සක්දෙව්රජ දැක ඇත්තෙමි. ශක්‍ර වීමට පිරිය යුතු සප්ත ව්‍රත පදයනුත් දනිමි. ශක්‍රයා ඒ තනතුරට පත්වූ සැටිත් දනිමි'යි වදාළ හ. එවිට මාතලි ලිච්ඡවි රජුගේ ඉල්ලීම පරිදි උන් වහන්සේ එම කතා පුවත වදාළහ.

### සප්ත වත පද - ශක්‍ර දේවේන්ද්‍ර වීමට පිරිය යුතු පිළිවෙත් සත නම්

1. දිවිහිමියෙන් මාපියන් පෝෂණය කිරීම
2. කුල දෙටුවන් පිදීම
3. මෘදු වචන කතා කිරීම
4. කේලාම් නොකීම
5. මසුරු නොවී ත්‍යාගශීලි වීම.
6. සත්‍ය කතා කිරීම
7. ක්‍රෝධ නොකිරීම

මේ සක් දෙවි රජ පදවිය ලැබුවේ කෙසේද යත්,

පෙර හෙතෙම මගධ රට මචල නම් ගම මඝ නම් තරුණයෙක් ව සිටියේ ය. හේ දිනපතා ගමේ කුලී වැඩට යයි. එහිදී තමාට ඉන්නට තැනක් සකස් කරගත්තේ ය. එහෙත් ඔහු එතනින් පලවා හැර වෙනත් කෙනෙක් එය අල්ලා ගත්තේ ය. නැවත හේ තවත් තැනක් පිළියෙල කරගත් නමුත් එයත් තව කෙනෙක් අල්ලා ගත්තේ ය. මෙය දිගින් දිගටම සිදු වන විට මඝ එය පින් කමක් කර ගත්තේ ය. සියලු දෙනාට ඉන්නට කමතක් තරම් බිමක් පිරිසිදු කර දුන්නේ ය. සීත කාලයට ගිනි දල්වා ඔවුන්ට පහසුව සැලසී ය.

මෙයින් පිනට දහමට හුරු වූ මඝ එතැන් සිට මාර්ගය සකස් කරන්නට පටන් ගත්තේ ය. ඒ දුටු තව කෙනෙක් පැමිණ " ඔබ කුමක් කරන්නේද'යි ඇසීය. " මම ස්වර්ගයට මාර්ගය තනමි'යි මඝ කීවේ ය. එය අසා ඔහු ද ඊට

එකතු විය. මෙසේ දිනෙන් දින ගමේ නිකරුණේ ගැවසෙමින් නොයෙකුත් අකටයුතු කම් කරමින් සිටි තරුණයන් රැසක් ඔහුට එකතු විය. අන්තිමේ දී මේ සියල්ලෝ තිස්තුන් දෙනෙක් වූහ.

අකටයුතුකම් කරන අය අඩු වීම නිසා වෙනදා ගම්මුලාදෑනියා ඔවුන්ගෙන් ගන්නා දඩ මුදල් ඔහුට නොලැබී ගියේ ය. මෙයින් කිපුණු ගම්මුලාදෑනියා රාජ ද්‍රෝහීන් පිරිසක් කැරලි ගසති'යි රජුට ගතු කීවේ ය. එයින් කිපුණු රජතුමා ඔවුන් ගෙන්වා ඇතු ලවා පාගවා මරන්නට නියම කළේ ය. තරුණ පිරිස කතිකා කරගෙන රජුටත්, ගම්මුලාදෑනියාටත්, ඇතුටත්, තමාටත් මෛත්‍රී කරන්න වූහ. ඇතු ඔවුන් ළඟටවත් ගෙන යා නොහැකි විය. පැදුරුවලින් වැසුවත් ඇතු ගියේ නැත.

අන්තිමේ දී ඔවුන්ට කතා කළ රජු මෙසේ වීමට ඔවුන් සතු බලය කුමක්ද'යි ඇසී ය. එවිට දේවයන් වහන්ස අපි හොරු නොව, ගම දියුණු කරන අය යි. මේ මුලාදෑනියා තමාට වූ අලාභය නිසා බොරු කීවේ ය. අපි සියලු දෙනාට මෛත්‍රී කළෙමු. ඇතු නොපැගුවේ එනිසා යැ'යි කීය.

ඒ ඇසූ රජු පැහැදී ඔවුන්ට ප්‍රශංසා කොට ඒ කටයුතු දිගටම කරගෙන යන්නට අවසර දුන්නේ ය. මුලාදෑනියා ඔවුන්ගේ සේවකයෙකු කොට පවරා දී ඇතුත්, ඒ ගමත් ඔවුන්ටම දුන්නේ ය. එතැන් පටන් ඔවුහු මං මාවත් තැනීම, ළිං පොකුණු කැණීම, විශ්‍රාම ශාලා තැනීම් ආදී පින්කම් කොට මිය පරලොව ගොස් තවුතිසා දෙව්ලොව උපන්නෝ ය. එයින් මඝ තරුණයා සක් දෙව් රජ විය. මේ පුවත වදාළ බුදුරජාණන් වහන්සේ මඝ ඇතුළු තිස්තුන් දෙනාගේ අප්‍රමාදී බව අගය කරමින් මේ ගාථාව වදාළ සේක.

> අප්පමාදෙන මඝවා - දෙවානං සෙට්ඨතං ගතො
> අප්පමාදං පසංසන්ති - පමාදො ගරහිතො සදා

මඝ මානවකයා හිංසා පීඩා නොතකා මංමාවත් තැනීම් ආදී වශයෙන් අප්‍රමාදීව කටයුතු කිරීම නිසා දෙව්ලොවට අග රජු බවට පත් විය. එබැවින්

බුද්ධාදී උත්තමයෝ අප්‍රමාදය ම අගය කරති. ආර්යයන් වහන්සේලා විසින් ප්‍රමාදය නිතර ම ගරහන ලද්දේ ය.

## 22.8 කෙලෙස් වනයේ ලැව් ගින්නක්

බුදුරජාණන් වහන්සේ දෙව්රම් වෙහෙර වැඩවසන සමයක එක්තරා හිමිනමක් බුදුරජාණන් වහන්සේ වෙතින් රහත් බව දක්වා කමටහන් ලබාගෙන වනගත විය. එහිදී කොතෙක් වැර වෑයම් කළත් රහත් වන්නට නොහැකි විය. උන් වහන්සේ නැවතත් බුදුරදුන් වෙත ගොස් කමටහන් පිළිබඳ අවුල් නිරවුල් කරගෙන එමියි සිතා දෙව්රම් වෙහෙර බලා පිටත් විය. වඩින අතර මග මහ ලැව් ගින්නක් පැතිර තිබුණි. උන්වහන්සේ දිව ගොස් ගස් කොළන් නැති මුඩු කඳු ගැටයකට නැගී කැළය දවන ගින්න දෙස බලා සිටියහ. එහිදී උන්වහන්සේට මෙසේ සිතුණි. මේ ගින්න ලොකු කුඩා ගස් කොළන් ආදී සියල්ල දවමින් යයි. එසේ ම ආර්ය මාර්ග ඥානය නමැති ගින්නෙන් සිතේ ඇති ලොකු කුඩා කෙලෙස් දවමින් යායුතු වන්නේ ය. ගඳ කිළියේ වැඩ සිටි බුදුරජාණන් වහන්සේ ඒ හිමියන්ගේ අදහස දැක උන්වහන්සේ ඉදිරියේ පෙනී සිට ඒ අදහස අනුමත කරන ගමන්ම මේ ගාථාව වදාළ සේක.

> අප්පමාදරතො භික්ඛු පමාදෙ භයදස්සිවා
> සංයොජනං අණුංථූලං ඩහං අග්ගීව ගච්ඡති

පමා වුවොත් නිරයට යතැයි කියා පමා වීමෙහි බිය දක්නා සුලු නොපමාව කල් ගෙවන භික්ෂූන් වහන්සේ ලොකු කුඩා ගහ කොළ දවමින් ඉදිරියට යන ගින්නක් සේ සසර බැඳ තබන ලොකු කුඩා සංයෝජන රහත් මර්ගය නමැති ගින්නෙන් දවමින් නිවීමට යයි.

## 22.9 සැනසීම නම තෘප්තියයි

සැවැත් නුවර සමීපයෙහි එක්තරා නියම් ගමක ඉපදුණු කුල පුත්‍රයෙක් බුදුසසුනෙහි පැවිදි උපසම්පදාව ලැබී ය. ලද දෙයින් සතුටු වන විවේකීව

ගතකරන වීර්ය සම්පන්න කෙනෙකු වූ උන්වහන්සේ නිගමතිස්ස නමින් හඳුන්වනු ලැබී ය. නිගමතිස්ස හිමියන් සැමදා පිඬුසිඟා ගියේ තමන්ගේ නෑදෑයන් වෙතට ම යි. අනේපිඬු සිටුතුමා ආදී අය නිතිපතා මහ දන් පවත්වද්දී, කොසොල් රජතුමා වැනි ඇත්තන් අසදෘශ මහ දන් දෙද්දිත් උන්වහන්සේ කිසි දවසක සැවැත් නුවරට නොවඩින්නේ මන්දැයි භික්ෂූන් වහන්සේලා අතර කතා බහක් ඇති විය. මේ පුවත බුදුරජාණන් වහන්සේට ද සැළ විය. උන්වහන්සේ ඒ හිමියන් කැඳවා මහණ සැබෑද ඔබ මේ කියන ලෙස නෑයන් සමග ඇලී ගැලී වසන්නෙහිදැ'යි විමසූහ. එවිට නිගමතිස්ස තෙරණුවෝ '' ස්වාමීනී මගේ ඥාතීන් සමග ඇලීමක් නැත, මට ඒ මිනිසුන්ගෙන් ප්‍රමාණවත් ආහාර ලැබේ. එය කටුක වුවත් ප්‍රණීත වුවත් මගේ යැපීමට ප්‍රමාණවත් නිසා වෙනත් ආහාර සෙවීමක් මට අවශ්‍ය නැත. එහෙයින් වෙන කිසි තැනකට නොයමි. ඒ හැර ඔවුන් සමග මගේ කිසිදු බැඳීමක් නැතැ'යි කීහ. එවිට උන්වහන්සේට සාධුකාර දුන් බුදුරජාණන් වහන්සේ මහණ මා වැනි ආචාර්ය වරයෙකු ඇති ඔබ මෙසේ අල්පේච්ඡ වීම පුදුමයක් නොවේ. මේ අල්පේච්ඡ විය යුතු බව මාගේ බුද්ධ වචනය යි. එය මගෙන් ලැබෙන දායාදය යි. වදාරා මේ ගාථාව දේශනා කළ සේක.

අප්පමාදරතො භික්ඛු පමාදෙ භයදස්සිවා
අභබ්බො පරිහානාය නිබ්බාණස්සෙව සන්තිකෙ

පමා වීමෙන් මෙලොව පරලොව විය හැකි බිය දකින, නොපමාව කල් ගත කරන භික්ෂූන් වහන්සේ සමථ විදර්ශනා භාවනාවන්ගෙන් හෝ මාර්ග ඵලාදියෙන් පිරිහිමට ඉඩ ඇත්තෙක් නොවන්නේ ය. කෙළෙස් සංසිඳුවා පිරිනිවනට ම ළඟා වන්නේ ය.

# 23 මංගල සූත්‍රය

පාරායන පිරිවෙනේ ධර්ම සාකච්ඡාව පැවැත්වෙන තුන්වන සතියේ සිකුරාදා දිනයි. රාත්‍රි 7 ට ඇරඹෙන සාකච්ඡාව රාත්‍රි 10ට නිමා වෙයි. එදා සාකච්ඡාවේ මාතෘකාව වූයේ '' සුභ අසුභ සහ මංගල කරුණු ගැන මහජන මතය'යි. සාකච්ඡාව මෙහෙය වූ පරිවෙණාචාර්ය අත්ථදස්සි හිමියෝ සුභ අසුභ ලෙස මහජනයා පිළිගන්නා කරුණු ගැන සභාවෙන් කරුණු විමසූහ. එහිදී සභාවේ සිටි හිමිවරුන් අතරින් කිහිපදෙනෙකු ඉදිරිපත් කළ අදහස් කිහිපයක් මෙසේ සැකවින් දැක්වේ.

සාරද හිමි :

අවසරයි ! මට පෙනෙන හැටියට නම් සුභ අසුභ පල විපාක නොසොයා මිනිසුන්ගේ කිසිවක් සිදුවන්නේ නැහැ. දරුවාට නම් තබන අකුරෙ පටන් සෑම දෙයකට ම සුභ අසුභ පලාපල සොයනවා බත් කැවීම, අකුරු කීම, ගෙට මුල් ගල තැබීම, ගෙවැදීම, පමණක් නොවෙයි මිනියක් එසවීම පවා සිදුවන්නේ පලාපල බලලා, නැකතකට.

රේවත හිමි :

මා කියන්නේ මේ පිළිබඳ තවත් පැත්තක්, ඒ තමයි සුභ අසුභ නිමිති, හුනෙකු හැඬීම, හූණන් ඇඟ වැටීම, බස්සෙකු හැඬීම, කපුටන් කෑ ගැසීම, බල්ලන් උඩු බිරීම, බළලුන් පොර කෑම වැනි අසුභ යැයි සම්මත නිමිති බොහෝ තිබෙනවා.

සීවලි හිමි :

අවසරයි ! ස්වාමින් වහන්ස ! මටත් ඒ ගැනම තවත් කාරණා එකතු කරන්න පුලුවන්. ගමනක් යන විට හමුවන නිමිති ගැනත් බොහෝ දෙනා

ළඟ නොයෙකුත් විශ්වාස පවතිනවා. පෙර මගට හිස් කළයක් ගෙන ඒම වැනි සමහර සළකුණු වගේ ම හමුවන පුද්ගලයන් අනුවත් බොහෝ දෙනා සුභ අසුභ සොයනවා. ගමනක් යන විට හමු නොවිය යුතු යැයි ගම්වල පිළිගත් අයත් ඉන්නවා. මේ අතරට හිස මුඩු කළ අපත් හසු වෙනවා. ඒ වගේ ම තමයි මඟ සුලඟක් හැමීම, මඟ වැස්සක් ඇද වැටීම, හොඳ සුවඳක් දැනීම, දිය පිරි කළයක් හමුවීම වාගේ දේවල් ගමන සුභයැයි පෙන්වන සළකුණු ලෙස සලකනවා.

මේ සියල්ල සාවධාන ව අසා සිටි මුලසුනෙහි වැඩ හුන් අත්ථදස්සි හිමියෝ සභාව අමතා මෙසේ පැවසුවා. " සුභ අසුභ පලාපල පිළිබඳ වැදගත් කාරණා රාශියක් ඉදිරිපත් වුණා. රට තොට ගැන සමාජය ගැන මේ ඇත්තන්ගේ සැලකිල්ල විපරම බොහෝම ඉහල යි. ඔය සුභ අසුභ කථාව අද ඊයේ ඇතිවුන එකක් නොවෙයි. බුදුරජාණන් වහන්සේගේ කාලයේ දීත් මේ වගේම ඇදහිලි තිබුණා පමණක් නොවෙයි ඒ ගැන මහා ආන්දෝලනයක් මහා කෝලාහලයක් ඇතිවුණා. එදත් මේ වගේ ම සුභ වැඩකදී ඇසට මුණ ගැසෙන සුභ නිමිති මංගල යැයි කෙනෙක් කීවා. එහෙම කිව්වේ **දිට්ඨ මංගලිකයෝ**, ඒ වේලාවට ඇසෙන නිමිති මංගල යැයි **සුත මංගලිකයෝ** කීවා. ඒ වගේම නාසයට, දිවට, ශරීරයට, ඒ මොහොතේ දැනෙන නිමිති සුභ හෝ අසුභ වන බව **මුත මංගලිකයෝ** කීවා. ඔවුනොවුන් මේ පිළිබඳ වාද විවාද කළා මිසක් කිසිම කෙනෙකුට නිගමනයකට එන්න බැරි වුණා. මෙය මුළු දඹදිව ම පැතිර ගියා. මේ මංගල කෝලාහලය භූමාටු දෙවියන්ගෙන් ආකාශස්ථ දෙවියන්ටත් එතනින් චාතුර්මහාරාජිකාදි දිව්‍ය ලෝකවලට පමණක් නොවේ අකනිටා බඹලොව දක්වාත් පැතිර ගියා. අන්තිමේ දි සක්දෙව් රජතුමාගේ ඉල්ලීම පරිදි මෙය විමසීමට එක්තරා දිව්‍ය පුත්‍රයෙක් දෙව්රම් වෙහෙරට පැමිණියා. ඒ දෙවියා එක්තරා රාත්‍රියක තමා ගේ සුන්දර ශරීර ප්‍රභාවයෙන් මුලු මහත් දෙව්රම් වෙහෙර ම බබුලුවමින් පැමිණ බුදුරදුන් වැඳ එකත් පසෙක සිටගෙන මෙසේ ගාථාවකින් විමසා සිටියා.

බහූ දෙවා මනුස්සා ච
මඞ්ගලානි අචින්තයුං
ආකඞ්ඛමානා සොත්ථානං
බ්‍රෑහි මඞ්ගල මුත්තමං

බොහෝ දෙවියෝ ද මනුෂ්‍යයෝ ද උතුම් වූ මංගල කාරණා මොනවාදැයි සිතමින් පසු වෙති. දෙලොව සැප කැමති ඔවුන්ට උතුම් වූ මංගල කරුණු දේශනා කරන සේක් වා.

අසෙවනා ච බාලානං
පණ්ඩිතානඤ්ච සෙවනා
පූජාච පූජනීයානං
එතං මංගල මුත්තමං

(හුස්ම ගන්නා පමණින් ජීවත් වන) අනුවණයන් ඇසුරු නොකිරීම ද, (දොලාව දියුණුව දන්නා) නුවණැත්තන් ඇසුරු කිරීම ද, පිදිය යුත්තන් පිදීම ද යන මේවා උතුම් වූ මංගල කරුණු වේ.

පතිරූප දෙස වාසො ච
පුබ්බෙ ච කත පුඤ්ඤතා
අත්ත සම්මා පණිධි ච
එතං මංගල මුත්තමං

(පින් කර ගැනීමට) සුදුසු ප්‍රදේශයක වාසය කිරීම ද පෙර කරන ලද පින් ඇති බව ද තම ජීවිතය (ශ්‍රද්ධා සීලාදී ගුණ ධර්මයන්හි) මනා කොට පිහිටුවා ගැනීම ද යන මේවා ද උතුම් මංගල කාරණාවෝ වෙති.

බාහුසච්චඤ්ච සිප්පඤ්ච
විනයො ච සුසික්ඛිතො
සුභාසිතා ච යා වාචා
එතං මංගල මුත්තමං

අසා,දරා, ප්‍රගුණ කළ බොහෝ දේ ඇති බව ද, (ගිහි-පැවිදි ජීවිතයට අවශ්‍ය) ශිල්පවල දක්ෂ බව ද, විනය ගරුක ව මැනවින් හික්මුණු බව ද, (සතරාකාර වාක් දුශ්චරිතයන්ගෙන්) මිදී යහපත් වචන කතා කරන බව ද උතුම් මංගල කාරණාවෝ ය.

මාතා පිතු උපට්ඨානං
පුත්තදාරස්ස සංඞගහො
අනාකුලා ච කම්මන්තා
එතං මංගල මුත්තමං

මව්පියන්ට උපස්ථාන කිරීම ද, අඹු දරුවන්ට සංග්‍රහ කිරීම ද, නිසි කලට නිසි පිළිවෙළට අනලස් ව, අකුසල් නොවන නිරවුල් දිවිපෙවෙත යෙදීම. යන මේවා උතුම් මංගල කාරණාවෝ වෙති.

දානඤ්ච ධම්ම චරියාච
ඤාතකානඤ්ච සංගහො
අනවජ්ජානි කම්මානි
එතං මංගල මුත්තමං

දන් දීම ද දස අකුසලයෙන් මිදී ධර්මනුකූල ව හැසිරීම ද ඥාතීන්ට සංග්‍රහ කිරීම ද (පෙහෙවස් සමාදන් වීම, උයන්වතු, ඒදඬු, පාලම් තැනීම ආදී) නිවැරදි කටයුතුවල යෙදීම ද යන මේවා උතුම් මංගල කාරණාවෝ වෙති.

ආරති විරති පාපා
මජ්ජපානා ච සඤ්ඤමො
අප්පමාදො'ච ධම්මෙසු
එතං මංගල මුත්තමං

පාපයෙහි නොඇලී ඉන් වැලකීම ද මදයට හා ප්‍රමාදයට හේතු වූ මත්පැන් පානය නොකිරීම ද කුසල් කර්මයන්හි අප්‍රමාද වීම ද මේවා උතුම් වූ මංගල කාරණාවෝ වෙති.

ගාරවො ච නිවාතො ච
සන්තුට්ඨී ච කතඤ්ඤුතා
කාලෙන ධම්ම සවණං
එතං මංගල මුත්තමං

(තෙරුවන්, මව්පියන් හා වැඩිහිටියන්) කෙරෙහි ගෞරව කිරීම ද යටහත් පැවතුම් ඇති බව ද ලද දෙයින් සතුටු වන බව ද කළගුණ දන්නා බව ද සුදුසු කාලයෙහි ධර්ම ශ්‍රවණය කිරීම ද යන මේවා උතුම් මංගල කාරණාවෝ වෙති.

ඛන්ති ච සොවචස්සතා
සමණානඤ්ච දස්සනං
කාලෙන ධම්ම සාකච්ඡා
එතං මංගල මුත්තමං

ඉවසීම ද කීකරු බව ද ශ්‍රමණයන් වහන්සේලා බැහැ දැකීම ද සුදුසු කලහි ධර්ම සාකච්ඡා පැවැත්වීම ද යන මේවා ද උතුම් මංගල කාරණාවෝ වෙති.

තපො ච බ්‍රහ්මචරියා ච
අරිය සච්චාන දස්සනං
නිබ්බාන සච්ඡිකිරියාච
එතං මංගල මුත්තමං

කෙලෙස් තවා ඉඳුරන් හික්මවා ගැනීම ද ලිංගික කාමයෙන් වෙන් වීම ද ආර්ය සත්‍ය අවබෝධ කිරීම ද රහත් වී නිවන සාක්ෂාත් කර ගැනීම ද යන මේවා ද උතුම් මංගල කාරණාවෝ වෙති.

ඵුට්ඨස්ස ලොක ධම්මෙහි
චිත්තං යස්ස න කම්පති
අසොකං විරජං ඛෙමං
එතං මංගල මුත්තමං

අට ලෝ  දහමෙහි යමෙකුගේ සිත කම්පා නොවේ ද ශෝක නැති, ඇලෙන කෙලෙස් දූවිලි නැති සසර රඳවන බැඳුම් නැති ඒ රහත් බව ද උතුම් මංගල කරුණකි.

එතා දිසානි කත්වාන
සබ්බත්ථමපරාජිතා
සබ්බත්ථ සොත්ථිං ගච්ඡන්ති
තං තෙසං මංගල මුත්තමන්ති

මේ මංගල කාරණා අනුගමනය කිරීමෙන්, බන්ධන මාරාදී සියලු මාරයන්ට නොපැරදී මෙලොව පරලොව යන හැම තැනදී ම සුවපත් බවට පත් වේ. එහෙයින් මේ කියන ලද කාරණාවෝ ඔවුන්ට උතුම් මංගල කාරණාවෝ වෙති.

## අභ්‍යාස

01. මංගල කාරණා තිස් අට අතුරින් ශිෂ්‍යයකු වශයෙන් ඔබ විසින් සම්පූර්ණ කළ හැකි කරුණු මොනවාදැයි වෙන් කර ලියන්න.

02. මෙම සූත්‍රයේ ඔබ කැමති ගාථාවක් ගෙන ශිෂ්‍ය සමිතියේ දී එහි ඇතුළත් මංගල කාරණා පිළිබඳ ධර්මානුශාසනයක් පවත්වන්න.

# 24 කය නම් අසාරය

## 24.1 භාවනාව හැඳින්වීම

මිනිස් සිතේ අකුසල් සිතිවිලි නම් ඉබේ පහළ වෙයි. කුසල් සිතිවිලි ඉතාම සැලකිල්ලෙන්, වෑයමින් පහළ කර ගත යුතු වෙයි. ආශාව, මසුරුකම, මානය, ඊර්ෂ්‍යාව, කුහක කම, කපටිකම වැනි අකුසල් සිතුවිලි රාශියක් තිබෙනවා. ඒ අකුසල් සිතිවිලි යටපත් කොට කරුණාව, මෛත්‍රිය , ඉවසීම, ශ්‍රද්ධාව, සිහිය, ලැජ්ජාව, භය වැනි හොඳ කුසල් සිතිවිලි උපදවා ගැනීමට සිත පුරුදු කරවීම භාවනාවයි.

**භාවෙති කුසලෙ ධම්මෙ ආසෙවති වඩ්ඪෙතීති භාවනා** යන ධර්ම පාඨයෙන් කියවෙන්නේ ඒ අදහස යි.

දුක. දුකට හේතුව, දුකින් මිදීම, දුකින් මිදීමේ මග යන සිව්සස් අවබෝධ කරගෙන සෝවාන්, සකදාගාමි, අනාගාමි, අරහත් යන සතරමග සතරපල පිළිවෙළින් ගමන් කොට නිවන් දැකීම බෞද්ධ අපගේ අරමුණ යි. ඒ සඳහා සීල, සමාධි, ප්‍රඥා යන තුන් ආකාරයෙන් (ත්‍රිශික්ෂාව) පිළිවෙත් පිරිය යුතු යි.

සීලයෙන්, කයින් හා වචනයෙන් දුසිරිතෙන් මිදී සංවර වෙයි. සමාධියෙන් කාමාශාව, කෝපය, කායික මානසික මැලිකම, සිතේ නොසන්සුන්කම හා නොකළ හොඳත් කළ නරකත් ගැන පසුතැවිල්ල කිසිවක තීරණයක් නැති සෑම දෙයක්ම සැක කරන ගතිය යන මේ කුසලයට යහපතට, දියුණුවට බාධාකරන ( නීවරණ ) ධර්ම යටපත් වෙනවා, සිත පිරිසිදු වෙනවා, එකග වෙනවා, එසේ පිරිසිදු වූ සිතේ ප්‍රඥාවෙන් ඉහත සඳහන් කළ චතුරාර්ය සත්‍යය හා අනිත්‍ය, දුක්ඛ අනාත්ම යන ලොව නියම ලක්‍ෂණ තුනත් අවබෝධ වෙනවා.

මෙයින් සමාධි, ප්‍රඥා යන අංග දෙකට ම භාවනාව අවශ්‍ය යි. එයින් සමාධිය ලැබෙන භාවනාව සමථ භාවනාව යි. ප්‍රඥාව ලැබෙන භාවනාව විදර්ශනා භාවනාව යි. සමථ භාවනාව පමණක් වැඩීමෙන්

රූපාවචර ධ්‍යාන හා අරූපාවචර ධ්‍යාන ලබා බඹලොව ඉපදිය හැකි යි. නිවන් අවබෝධ කළ හැක්කේ විදර්ශනා භාවනාවෙන් පමණ යි. ඒ නිසා මේ සමථ භාවනා ක්‍රම ලෝකයේ නොයෙක් ආගම්වල කොතෙකුත් තිබෙනවා. එහෙත් විදර්ශනා භාවනාව ඉගැන්වෙන්නේ බුදු දහමේ පමණ යි.

සිහි කල්පනාවෙන් තොර ව කටයුතු කිරීම නිසා මිනිසා පව් කරනවා, අපාගත වෙනවා, තමා කරන්නේ කුමක් ද, මෙය කිරීමෙන් ලැබෙන පල විපාක මොනවාද, මෙය කළ යුතුද, නැද්ද, යන මේ ආකාරයෙන් හිතා බලා කල්පනාවෙන් වැඩ නොකිරීම නිස යි ලෝවැසියා සියලු විපත් සිදු කරගන්නේ. එනිස යි නිවන අපගෙන් බොහෝ දුරස් වන්නේ. මෙය වලක්වා ගෙන, දුකින් මිදී නිවන් දැකීමට නම් හැම දෙයක් ම සිහි කල්පනාවෙන් කරන්නට පුරුදු විය යුතු යි. එයට යි සතිපට්ඨානය කියන්නේ, ඒ කීවේ ඒ භාවනාව ම තවත් ආකාරයකින්.

මේ සතිපට්ඨානය අපගේ එදිනෙදා ජීවිතයටත් ඉතා ප්‍රයෝජනවත්. මෙලොව දියුණුවට කරගන්නා අධ්‍යාපන ආදී කටයුතු වගේ ම පරලොව සඳහා කරගන්නා වත් පිළිවෙත් පිරීම්, සීල භාවනාදී කටයුතුත් රැසක් තිබෙනවා. මේ සියලු කටයුතු මැලි කමක් නැතිව, ක්‍රමවත් ව, උනන්දුවෙන් කිරීමට, අවබෝධයෙන් නිවැරදි ව කිරීමට භාවනාව ඉතාම උපකාරී වෙනවා. එසේ වන්නේ භාවනාව සිත පිරිසිදු කරන නිස යි. සිත ක්‍රියාශීලී කරන නිස යි.

එනිසා භාවනාව දෙලොව ම දියුණුවට උපකාර වන මානසික පුහුණුවක්. විශේෂයෙන් භික්ෂූන් වහන්සේට භාවනාව අනිවාර්යෙන් පුරුදු කරගත යුතු දෙයක්. උන්වහන්සේ සමාජය යහමගට මෙහෙයවන, ආදර්ශ සම්පන්න නායකයෙක් උන්වහන්සේ තුළ හික්මීම, සංවරය අවබෝධය, ඉවසීම, කලබල නොවීම, කල්පනාවෙන් වැඩ කිරීම, තැනට සුදුසු විදියට වැඩ කිරීම, කාර්යශීලි වීම, මිනිසුන් තේරුම් ගැනීම වැනි හැකියාවෙන් ඉහළින්ම තිබිය යුතුයි. ඒ සියලු හැකියාවන් දියුණු කරගැනීමට මේ භාවනා ක්‍රම වැඩීම, අභ්‍යාස කිරීම අනිවාර්යයෙන් කළ යුතුයි. එ නිසා අප කුඩා කල සිට ම භාවනාවට හුරුපුරුදු විය යුතු යි.

## 24.2 කායගතා සතිය

පිරිවෙනේ සඳුද දවසේ අවසන් කාලච්ඡේදයේ සීනුව නාද වුණා. දැන් භාවනා වේලාව යි. භාවනා ගුරු හාමුදුරුවන් සමග දෙවන ශ්‍රේණියේ අප සියලු දෙනා ම පත්කඩත් රැගෙන විහාර මන්දිරයට ගියා.

භාවනා හාමුදුරුවෝ පත්කඩය එළාගෙන බද්ධ පර්යංකයෙන් වැඩ හුන්නා. අප සියලු දෙනාත් උන්වහන්සේ ඉදිරියේ පත්කඩ එළාගෙන බද්ධ පර්යංකයෙන් ඉඳ ගත්තා. උන් වහන්සේ සුපුරුදු මට සිලිටි සන්සුන් ස්වරයෙන් අප ඇමතුවා.

'' තෙරුවන් සරණයි, පින්වත් පොඩි හාමුදුරුවනි, අද අප මෙනෙහි කරන්නට යන්නේ අපේම මේ සිරුර ගැන යි. ඒකට කියන්නේ '' **කායගතා සතිය**'' කියල යි.

පොඩි හාමුදුරුවනේ, කවුරුත් තමන්ගේ සිරුරට කැමති යි. එහෙම නේද? මේක හැඩ වැඩ කරගෙන ඉන්නත් කවුරුවත් කැමති යි. අප මහණ වෙලා හින්ද හැඩ වැඩ කරන්නේ නැහැ. ඒ වුණාට ගිහි පින්වතුන් එහෙම නොවෙයි. විශේෂයෙන් කාන්තාවො සමහර විට කෑම බීමටත් වඩා වියදම් කරන්නෙ හැඩට වැඩට ඒවට ගත කරන කාලයත් ඒ වගේ ම යි. ඒ, මේ සිරුරට තිබෙන ආශාව නිස යි. ඒ වගේ ම වැඩි දෙනෙක් තමන්ගෙ සිරුර හැඩයි කියල ආඩම්බර වෙලා ඉන්නෙ, ඒකට කියන්නේ ''මානය'' කියලයි.

පොඩි හාමුදුරුවනේ, ඊළඟට ඔය බණින, ගහන ඇනුම් පද කියන හැම දෙයක් ම වදින්නෙ මේ සිරුරටයි. අපට නොවෙයි. නමුත් අප හිතාගෙන ඉන්නෙ මේ සිරුරයි, අපයි දෙකම එකයි කියල. ඒ නිසා ඒ වෙලාවට අපට තරහ එනව. ඒ තමයි ද්වේශය. අනෙක් අය මට වඩා ලස්සන නම් මට වඩා හැඩට, පිළිවෙළට ඉන්නව නම් තමන්ට ඒක උහුලන්න බැරි වෙනව. ඒ තමයි ඊර්ෂ්‍යාව.

බලන්න පොඩි හාමුදුරුවනේ. මේ විදියට මේ සිරුර නිසා අපේ හිත කොතරම් නරක් වෙනවද, කොතරම් කිළිටි වෙනවද කියල ඒවට තමයි **කෙලෙස්** කියන්නෙ. මේ කෙලෙස් හින්ද අප හරියට අමාරුවෙ වැටෙනවා. අපට ඕනම කරන දේ තමයි **සීලය**, ඒක රැකගන්නත් බැරි වෙනව.

පව් කරනවා, එහි විපාක ගැන හිතෙන්නෙ නැහැ. මේ සිරුර කවල පොවල සතුටු කරන එක ගැනමයි හිතන්නෙ. නිවනක් ගැන නම් මතක් වෙන්නෙවත් නැහැ. ඒ හින්ද තමයි මේ සිරුරට මාරයෙක් කියල කියන්නෙ ඒ තමයි '' ඛන්ධ මාර '' පඤ්චස්කන්ධය කියන්නෙත් මේ සිරුරටම නේ, ඒ නිස යි '' ඛන්ධ මාර ''කියන්නෙ.

අප මේ සිරුර ගැන හරිහැටි නොදන නොසැලකිල්ලෙන් ඉඳුරන් පිනවමින් විනෝදයෙන් හෝ අලසකමින් ජීවත් වුණොත් සසර දිගින් දිගට මීටත් වඩා දුක් විඳ විඳ ඉන්න වෙනව මිස මෙයින් මිදෙන්න නම් ලැබෙන්නෙ නැහැ.

'' අවසරයි, හාමුදුරුවනේ ඔහොම කියන කොට අපටත් බය හිතෙනව'' සීවලී පොඩි හාමුදුරුවෝ කීවා.

බොහොම හරි, පොඩි හාමුදුරුවනේ, එහෙම බය හිතෙන එක තමයි හොඳ. මනුෂ්‍යයෙක් වෙලා බෞද්ධයෙකුත් වෙලා, මහණ වෙන්නත් ලැබිල තිබෙන මේ මොහොත වරද්ද ගත්තොත් නැවත මේ වගේ වාසනාවන්ත අවස්ථාවක් කොතරම් කාලාන්තරයකින් ලැබේද කියල නම් කියන්න බැහැ.

'' එහෙම නම් හාමුදුරුවනේ, අප කොහොමද මේ සිරුර ගැන හරියටම දන ගන්නෙ? උදිත පොඩි හාමුදුරුවො ඇහුවා.

'' පොඩි හාමුදුරුවනේ, දනටමත් ඒක ඔබ වහන්සේලාට පාඩම්. ඒකට කියන්නෙ ද්වත්තිංසාකාරය කියල. දෙතිස් කුණප කියලත් කියනව.

'' හරි, හාමුදුරුවනේ, අපි දන්නව. ඔය කියන්නෙ '' අත්ථි ඉමස්මිං කායෙ '' කියන පාඨය නේද? උදිත පොඩි හාමුදුරුවො එක පාරම කීවා.

'' හරියටම හරි. ඒකෙදි මේ සිරුර කොටස් තිස් දෙකකට බෙදල පෙන්වනවා. හොඳයි, එහෙනම් අපි දන් බලමු ඒ තිස් දෙක මොනවද කියල.

පොඩි හාමුදුරුවනේ, අපේ මේ සිරුරේ තිබෙනවා.

1. කෙසා - කෙස්
2. ලෝමා - ලොම්
3. නඛා - නිය
4. දන්තා - දත්
5. තචො - සම
6. මංසං - මස්
7. නහාරු - නහර
8. අට්ඨී - ඇට
9. අට්ඨී මිඤ්ජා - අස්ථි තුළ තිබෙන ඇට මිදුළු
10. වක්කං - වකුගඩු
11. හදයං - හදවත
12. යකනං - අක්මාව
13. කිලොමකං - දළඹුව (පිත්තාශය)
14. පිහකං - බඩදිව ( ප්ලීහාව )
15. පප්ඵාසං - පෙනහැල්ල
16. අන්තං - කුඩා බඩවැල්
17. අන්තගුණං - මහබඩවැල්
18. උදරියං - බඩේ නොපැසුණු ආහාර
19. කරීසං - මල
20. මත්ථලුංගං - හිස් මොළ
21. පිත්තං - පිත
22. සෙම්හං - සෙම
23. පුබ්බො - සැරව
24. ලොහිතං - ලේ
25. සෙදො - ඩහදිය
26. මෙදො - සමත් මසත් අතර ඇති මේදය
27. අස්සු - කඳුළු
28. වසා - (නාස් පුඬු නළල වැනි තැන් වල පිපෙන) වුරුණු තෙල
29. ඛෙලො - කෙළ
30. සිංඝාණිකා - සොටු
31. ලසිකා - ( අස්ථි සන්ධි වල ඇති ) සඳ මිදුළු
32. මුත්තං - මූත්‍ර

'' අවසර යි හාමුදුරුවනේ. දැන් අප දෙතිස් කුණපස මොනවද කියල හඳුනා ගත්ත. මීළඟට මේකෙන් භාවනා කරන්නෙ කොහොමද කියල දැනගන්නයි ඕන'' නාරද පොඩි හාමුදුරුවො පැවසුවා.

'' පොඩි හාමුදුරුවනේ. අප මේ කරන්න යන්නෙ පිළිකුල් භාවනාව නේ, ඒ නිසා මේ දෙතිස් කුණපය පිළිකුල් වෙන්නෙ කොහොමද කියල මුලින් ම බලන්න ඕන. ඒක සලකා බලන ආකාර පහක් තිබෙනවා.

1. වණ්ණ - මේ කුණප කොට්ඨාසවල පැහැය ම පිළිකුල් - අපේ කෙස් ලොම් බල්ලෙකු ගෙ බළලෙකුගෙ තරම්වත් ලස්සන නැහැ. අනෙක් ඒවත් එහෙමයි.

2. **සණ්ඨාන** - බලන්න, මොණරපිලක්, ඇත් දළයක්, කොයිතරම් පෙනුම ද? අපේ මේ එක කොටසකවත් එහෙම හැඩරුවක් නැහැ. ඒවායේ රූප සටහනත් පිළිකුල්

3. **ගන්ධ** - ලොකයේ ඉහළ ම සුවඳ වර්ගයක් තමයි කස්තුරි. ඒවා ගන්නෙ මුවෙකුගෙන්, ගෝරොචන කියන සුවඳ වර්ගය ගන්නෙ ගවයෙකුගෙන්. ගවයගෙ ගොම වේලල හඳුන්කූරු හදනව. ඒ වුණාට අපේ සිරුරෙ හැම දෙයක්ම ගඳයි. සුවඳක් ඇත්තෙ ම නැහැ. ඒ නිසා මේ දෙතිස් කුණප ගඳිනුත් පිළිකුල්.

4. **ආසය** - අපේ කෙස්වල පටන් හැම දෙයක් ම හැදෙන්නෙ, වැඩෙන්නෙ, ලේ, සෙම, පිත, මල, මූත්‍ර වගේ අපිරිසිදු දේ එක්ක එකටමයි. එනිසා මේවා හැදෙන විදිය බැලුවත් පිළිකුල්

5. **ඔකාස** - මේ සිරුර පිටින් පෙනෙන හැම තැනක් ම කෙල, සෙම්, සොටු, දහදිය ආදියෙන් අපිරිසිදු වෙලා තියෙන්නෙ. ඇතුළ ගැන කියන්නම දෙයක් නැහැ. මේ නිසා මේ කුණපයන් තිබෙන තැන් බැලුවත් පිළිකුල් සහගත යි.

මේ භාවනාව කරන විට එක් එක් කුණපයන් ගානෙ මේ කාරණා පහම මතක් වෙන්න ඕන. තමාගෙ සිරුර වගේ ම අනුන්ගෙ සිරුර ගැනත් මේ විදියටම හිතන්න පුරුදු විය යුතු යි. මෙහෙම පිළිකුල් බව මෙනෙහි කරන නිස යි මේ භාවනාවට '' පටික්කූල මනසිකාරය '' ( පිළිකුල් භාවනාව ) කියල කියන්නෙ.

## භාවනාව කෙරෙන ආකාරය - පළමු පියවර

මේ භාවනාවේ මුල්ම පියවර තමයි වචනයෙන් සජ්ඣායනා කිරීම. ත්‍රිපිටකය ම දන්න කෙනෙකු වුණත් මේ සජ්ඣායනාව කළ යුතු යි. ඒක මේ භාවනාවෙ විශේෂ ලක්ෂණයක්.

ඒ සජ්ඣායනාව පුරුදු කර ගැනීමේ පහසුවට මේ කුණප දෙතිස වර්ග හයකට බෙදා තිබෙනවා. ඒ ඒ වර්ග නම් කරන්නෙ එහි අවසන් කුණපයේ නමින්. මේ එක් එක් වර්ගයක් මුල සිට අගට (අනුලෝම වශයෙන්) කියමින් පුරුදු කරල, ඊළඟට අග සිට මුලට (ප්‍රතිලෝම) වශයෙන් කිය කියා පුරුදු විය

යුතුයි. තුන්වෙනුව මුල සිට අගටත් - අගසිට මුලටත් (අනුලෝම - ප්‍රතිලෝම වශයෙන්) සජ්ඣායනා කළ යුතු යි. එය හොඳට හුරු වන තුරු මාස ගණනක් වුවත් සජ්ඣායනා කළ යුතු යි.

## 1. තච පඤ්චකය (5)

අනුලෝම - කෙසා, ලොමා, නඛා, දන්තා, තචො
ප්‍රතිලෝම - තචො, දන්තා, නඛා, ලොමා, කෙසා

## 2. වක්ක පඤ්චකය (5)

අනුලෝම - මංසං, නහාරු, අට්ඨි, අට්ඨිමිඤ්ජා, වක්කං
ප්‍රතිලෝම - වක්කං, අට්ඨිමිඤ්ජා, අට්ඨි, නහාරු, මංසං

## 3. පප්ඵාස පඤ්චකය (5)

අනුලෝම - හදයං, යකනං, කිලොමකං, පිහකං, පප්ඵාසං
ප්‍රතිලෝම - පප්ඵාසං, පිහකං, කිලොමකං, යකනං, හදයං

## 4. මත්ථලුංග පඤ්චකය (5)

අනුලෝම - අන්තං, අන්තගුණං, උදිරියං, කරීසං, මත්ථලුංගං
ප්‍රතිලෝම - මත්ථලුංගං, කරීසං, උදිරියං, අන්තගුණං, අන්තං

## 5. මේද ඡක්කය (5)

අනුලෝම - පිත්තං, සෙම්හං, පුබ්බො, ලොහිතං, සෙදො, මෙදො,
ප්‍රතිලෝම - මෙදො, සෙදො, ලෝහිතං, පුබ්බො, සෙම්හං, පිත්තං

## 6. මුත්ත ඡක්කය (5)

අනුලෝම - අස්සු, වසා, ඛෙලො, සංඝාණිකා, ලසිකා, මුත්තං
ප්‍රතිලෝම - මුත්තං, ලසිකා, සංඝාණිකා, ඛෙලො, වසා, අස්සු

මෙහෙම එක් එක් වර්ගයක් වෙන වෙන ම තුන් ආකාරයකින් සිය දහස් වාරයක් කියල හොඳට ම ප්‍රගුණ වුණාට පසුව අප දෙවන පියවරට යනව.

## දෙවන පියවර

අප මෙතෙක් සජ්ඣායනා කළේ වර්ග හය වෙන වෙන ම. ඊළඟට තච පඤ්චකයත්, වක්ක පඤ්චකයත් දෙක ම එකට අරගෙන අනුලෝම - ප්‍රතිලෝම ක්‍රමයට තුන් ආකාරයෙන් සජ්ඣායනා කළ යුතු යි. එය හොඳට ම ප්‍රගුණ වුණාට පසුව පප්ඵාස පඤ්චකයක් එකතු කරගෙන සජ්ඣායනා කරනව. මේ විදියට අන්තිමේ දී වර්ග හය ම එකට අරගෙන දෙතිස් කුණපය ම අනුලෝම, ප්‍රතිලෝම, අනුලෝම - ප්‍රතිලෝම යන ක්‍රම තුනට නිරායාසයෙන් සජ්ඣායනා කරන්න පුරුදු විය යුතු ය.

ඉතින් පොඩි හාමුදුරුවනේ, මෙලෙස කායගතා සතිය හෙවත් මේ පිළිකුල් භාවනාව ප්‍රගුණ කිරීමෙන් අපට අපේ ශරීරයේ සැබෑ තත්ත්වය වැටහී සංවේගය ඇති වෙනව. ලාභයෙන් උඩඟු වීමත් හෝ අලාභයෙන් දුක් වීමත් නැති ව සියල්ල දරා ගැනීමේ ශක්තිය ලැබෙනව. සිහිකල්පනාව දියුණු වෙනව. චුල්ලපන්ථක හාමුදුරුවන්ට වගේ පහසුවෙන් නිවන් අවබෝධ කිරීමටත් මෙම භාවනාව උපකාරී වෙනව.

### අභ්‍යාස

1. අපේ සිරුර නිසා අපට කෙලෙස් උපදින ආකාර දෙකක් දක්වන්න.
2. මිනිස් සිරුරක රූප සටහනක් ඇඳ එහි දෙතිස් කුණපය තිබෙන තැන් සලකුණු කරන්න.
3. සිරුර අපට මාරයෙක් වෙන්නේ කෙසේද ඊට '' ඛන්ධ මාර '' කියන්නේ ඇයි ?

# 25 දැන දැන සිහියෙන් වැඩ කරමු

දෙවන ශ්‍රේණියේ අප සියලු දෙනා සුපුරුදු පරිදි භාවනා පාඩම සඳහා විහාර මන්දිරයට ගියා. භාවනා ගුරු හාමුදුරුවෝ ඒ වන විටත් විහාර මළුවේ සක්මන් කරමින් සිටියා. අප සියලු දෙනා උන්වහන්සේ අසල සිට ගත්තා. "තෙරුවන් සරණයි! පොඩි හාමුදුරුවරුනි, එහෙනම් ඔබවහන්සේලා මුලින් ම මා කරන දේ දෙස හොඳින් බලා සිටින්න" කියා උන්වහන්සේ නැවතත් සක්මන් කරන්නට පටන් ගත්තා. අප අසල නැවතුණු උන්වහන්සේ අපෙන් මෙසේ ප්‍රශ්න කළා.

"හොඳයි, මා මේ කුමක් ද කරන්නේ?

"හාමුදුරුවෝ සක්මන් කරනවා" අප සියලුදෙනා ම එකවර උත්තර දුන්නා.

"මට සීවලී පොඩිහාමුදුරුවෝ විතරක් උත්තර දෙන්න. අනෙක් අය අසා සිටින්න"

"පොඩිහාමුදුරුවනේ, දැන් මා මොකද කරන්නේ"? "හාමුදුරුවෝ ඉදිරියට වඩිනවා"

දැන් මා මොකද කරන්නේ? "ආපසු වඩිනවා"

දැන් මා මොකද කරන්නේ? අප දෙස බලා සිටිනවා.

දැන් මොක ද කරන්නේ? අහක බලා සිටිනවා.

දැන් මා මොකද කරන්නේ? හාමුදුරුවෝ අත දිග හරිනවා.

ඒ මොන අත ද? දකුණු අත.

දැන් මා මොකද කරන්නේ? දකුණු අත හකුලනවා.

ඔන්න පොඩිහාමුදුරුවනේ, අද පාඩම මේකයි.

මෙයට කියන්නේ සම්පජඤ්ඤ භාවනාව කියලා. ඒ කියන්නේ, කරන හැම දෙයක් ම දැන ගෙන සිහි කල්පනාවෙන් කිරීමයි. එහෙම නම් දැන් පොත අතට අරගෙන සතිපට්ඨාන සූත්‍රයේ එන මේ පාඨය අපි සජ්ඣායනා කරමු.

"පුන ච පරං භික්ඛවෙ භික්ඛූ අභික්කන්තෙ පටික්කන්තෙ සම්පජානකාරී හොති. ආලොකිතෙ විලොකිතෙ සම්පජානකාරී හොති. සංඝාටිපත්ත චීවර ධාරණෙ සම්පජානකාරී හොති. අසිතෙ පීතෙ ඛායිතෙ සායිතෙ සම්පජාන කාරී හොති. උච්චාර පස්සාවකම්මෙ සම්පජානකාරී හොති. ගතෙ ඨිතෙ නිසින්නෙ සුත්තෙ ජාගරිතෙ භාසිතෙ තුණ්හීභාවේ සම්පජානකාරී හොති"

"මහණෙනි, නැවත භික්ෂුව ඉදිරියට යාමෙහි දී ද, ආපසු ඒමෙහි දී ද, සිහිකල්පනාවෙන් කරන්නේ වෙයි. ඉදිරිය බැලීමෙහි දී ද වටපිට බැලීමෙහි දී ද, සිහි කල්පනාවෙන් කරන්නේ වෙයි. අත් පා දිග හැරීමේ දී ද, හැකිලීමෙහි දී ද, සිහි කල්පනාවෙන් කරන්නේ වෙයි. දෙපට සිවුරු පාසිවුරු දැරීමෙහි දී ද සිහි කල්පනාවෙන් කරන්නේ වෙයි. පිඬු වශයෙන් අනුභව කිරීමෙහි දී ද, පානය කිරීමෙහි දී ද. කැබලි වශයෙන් හපා වැළඳීමෙහි දී ද, පැණි සකුරු ආදිය ලෙවකා රස විඳීමෙහි දී ද, සිහිකල්පනාවෙන් ම කරන්නේ වෙයි. වැසිකිළි කැසිකිළි කිරීමෙහි දී ද සිහිකල්පනාවෙන් කරන්නේ වෙයි. ගමන් කිරීමෙහි දී ද, සිටී මෙහි දී ද, හිඳීමෙහි දී ද, නිදීමෙහිදී ද, අවදියෙන් සිටීමෙහි දී ද, කතාකිරීමෙහි දී ද, නිහඬව සිටීමෙහි දී ද සිහි කල්පනාවෙන් ම කරන සුලු වෙයි".

පොඩි හාමුදුරුවනේ අප අලුයම පිබිදීමේ සිට රාත්‍රී සැතපීම දක්වා නොයෙකුත් වැඩ කරනවා. ඒවා බොහෝ විට අප කරන්නේ සිහිකල්පනාවෙන් ම නොවෙයි. ඒ නිසා ඒවායේ අතපසු වීම්, වැරදීම් බහුල යි. වැඩ අපිළිවෙල යි. අපිරිසිදුයි. ප්‍රමාදයි. අමතක වීම් වැඩියි. එක ම දේ දෙතුන්පාර කරන්න වෙනවා. ඒ වගේ ම මහණකම වුණත් කරගෙන යන කොට සිහිකල්පනාව නැති වුණාම ශික්ෂා පද අමතක වෙනවා. මහමග යන කොට ඉන්ද්‍රිය සංවරය ගැන පවා සැලකිල්ල නැතිවෙනවා. තමන් කවුද ඉන්න තැන කොතන ද කරන දේ හරිද වැරදි ද, මා කරන දෙය මහණකමට ගැළපෙයි ද නොගැළපෙයි ද, දකින අය මොනවා හිතනවා ඇද්ද? වගේ දේවල් අමතක වෙලා යනවා. මේ නිසා අපට මහණකමේ ප්‍රයෝජනය මෙලොව දීත් නැතිවෙනවා පරලොව දීත් නැතිවෙනවා. මේ නිසා හැම දෙයක් ම සිහි කල්පනාවෙන් කිරීම පැවිදි ජීවිතයේ පුරුද්දක්, ඇබ්බැහියක් විය යුතු යි.

## පියවර 01 -

මේ සම්පජඤ්ඤ භාවනාවේ පළමුවෙනි පියවර නම් කරන කියන හැම දෙයක් ම දැනගෙන ම කිරීම යි.

මේ භාවනාවට සීමාවක් නැහැ. යාම් ඊම්, සිටීම් හිඳීම්, සැතපීම්, කෑම් බීම්, අතපය දිගහැරීම් හැකිළීම්, වැසිකිළි කැසිකිළි යාම් ආදී මෙකී නොකී හැම ක්‍රියාවක් ම කරන විට "මා කරන්නේ මෙය ය" යි දැනගෙන ම කළ යුතු යි. කථාකරන විට කියන හැම වචනයක් ම දැනගෙන ම පිටකළ යුතු යි. මේ අනුව මේ භාවනාවට අයිති නැති කිසිවක් අපේ ජීවිතයේ නැත. ඒ කියන්නේ ඒ හැම දෙයක් ම දැනගෙන කළ යුතු යි. තමා නොදැන කිසි ක්‍රියාවක් කිසි කථාවක් තමාගෙන් සිදුවන්නට ඉඩ නොදිය යුතු යි.

පැවිදි කෙනෙක් ගිහියන්ගෙන් වෙනස් වන ප්‍රධාන කාරණය මෙය යි. ගිහියන් සිහි කල්පනාව පුරුදුකරන අය නොවෙ යි. එහෙත් පැවිදි වූ අප එය අනිවාර්යයෙන් ම කළ යුතු දෙයක්. එහෙම නැති විට මහජනයා තුළ අප කෙරෙහි සැලකිල්ල ප්‍රසාදය අඩුවෙනවා. මෙය දැනට අපට නුහුරු නිසා මුලදී අපහසු වෙයි. කල්පනාවෙන් වැඩ කරගෙන ගියත් ටික වේලාවකින් කල්පනාව නැතිව යයි. එයින් පසුබට නොවිය යුතුයි. නැවත නැවත කල්පනාව අලුත් කර ගත යුතු යි. මෙය කාලයක් තිස්සේ පුරුදු කරන විට අපිට එය ඉබේම සිදුවන පුරුද්දක් බවට පත්වෙයි. එවිට ඔබ කාටත් ආදර්ශවත්, පිරිපුන්, ප්‍රියශීලී භික්ෂූන් වහන්සේ නමක් වනු නියත යි.

## පියවර 02 -

### චතුසම්පජඤ්ඤය

මෙසේ තමා කරන කියන දේ දැනුවත්ව ම කරන්නට හැකි තාක් පුරුදු වූ විට දෙවන පියවරට යා හැකි ය. එනම් තමා කරන කියන දේවල් අර්ථවත් ද නැද්ද, සුදුසු ද නැද්ද යන ආදී වශයෙන් හැම පැත්තකින්ම සලකා බලා කිරීම යි. එසේ සලකා බැලිය යුතු ආකාර හතරක් තිබෙනවා.

## 01. සාත්ථක සම්පජඤ්ඤය

තමන් කරන්නට යන දෙය තමාගේ භාවනාවට, තමාගේ මහණකමට හෝ තමාගේ ඉගෙනීමට ප්‍රයෝජනවත් ද නැද්දයි සිතා බලා ප්‍රයෝජනවත් නම් පමණක් කළ යුතු යි. නිදසුනක් ලෙස, සමහර තැන්වල පන්තියේ ගුරුවරයෙක් නැති විට කථාබහ කරන්න පටන් ගන්නවා. ඒ වෙලාවට ඒ කථාව ප්‍රයෝජනවත් ද නැද්දයි සිතිය යුතු යි. බුදුරජාණන් වහන්සේ වදාරා තිබෙන්නේ භික්ෂූන් එකතු වූ විට ප්‍රයෝජනවත් කථාවක් පමණක් කරන්න නැති නම් දැහැමි කල්පනාවකින් යුතුව නිහඬව සිටින්න කියා ය. ඒ නිසා ඒ කථාව නිෂ්ඵල නම් නිහඬ ව සිටීමට පුරුදු විය යුතු යි.

## 02. සප්පාය සම්පජඤ්ඤය

භික්ෂූන් වහන්සේගේ හැසිරීම් කථාබහ කෙබඳු විය යුතු දැයි දක්වෙන්නේ සේඛියාවල ය. ඒ නිසා තමන් යන එන හැම තැනකදී ම කරන කියන හැම දේක දී ම ඒවා තමාට ගැළපේ ද තැනට ගැළපේ ද මහණකමට සුදුසු ද විනය නීතිවලට අනුකූල ද තමා කරන භාවනාවට බාධාවක් ද නැද්ද කියා සලකා බලා කළ යුතු ය. කිව යුතු ය. එසේ නොවුන විට තමා නොදැනුවත්ව ම භාවනානුයෝගියෙක් නම් භාවනාවෙන් බැහැර වෙයි. භික්ෂූන් වහන්සේ නමක් නොදැනුවත්ව ම තම මහණ කමට අනුචිත දේ කිරීමට පෙළඹේ.

## 03. ගෝචර සම්පජඤ්ඤය

ගෝචර යනු තමා කරන මහණකමේ, තමා කරන භාවනාවේ, තමා කරන අධ්‍යාපනයේ සීමාව තුළ රැඳී සිටීමයි. බුදුරජාණන් වහන්සේ "ගොචරෙ භික්ඛවේ, චරථ සකෙ පෙත්ති විසයෙ" යනුවෙන් මහණෙනි, තමාට පිය උරුමයෙන් ලැබුණු ගොදුරු බිමෙහි හැසිරෙන්නැයි වදාරා තිබේ. එයින් අදහස් කළේ භාවනානුයෝගී භික්ෂූන් වහන්සේ සතර සතිපට්ඨානයෙහි යෙදී වාසය කළ යුතු බවයි. සාමාන්‍ය භික්ෂූන් වහන්සේ නමක් නම් මහණකමේ සීමාවන් වලින් පිට නොපැන සිටීමත් මේ ගොදුරු බිම හැසිරීම යන්නෙන් අදහස්වේ.

සීමාවෙන් පිට පැනීම ආකාර හතරකින් දැක්වේ.

01. භික්ෂූන් වහන්සේ නමක් තමාගේ කමටහන හෝ මහණකම ගැන සිහිකල්පනාවෙන් යුතුව ගමේ රටේ සමාජයේ වැඩට බසියි. එහි දී කමටහනත් මහණකමත් අමතක වී යයි. (හරති න පච්චාහරති)

02. තවත් භික්ෂුවක් මහණකමත් කමටහනත් අමතකව සමාජයේ වැඩට යයි. නැවත මතක් වී  මහණකමත් කමටහනත් රකින්නට පටන් ගනියි. (න හරති පච්චාහරති)

03. තවත් කෙනෙක් මහණකමක් කමටහනක් ගැන සැලකිල්ලක් නැතිව ම සමාජයේ වැඩට බසියි. කිසි දිනක එය මතක් වීමක්ද සිදු නොවෙයි. (න හරති න පච්චාහරති)

04. තවත් කෙනෙක් මහණකමත් කමටහනත් ගැන ඉමහත් සැලකිල්ලෙන් සමාජයේ වැඩවලත් යෙදෙයි. එහෙත් කිසිහේතුවක් නිසා තම මහණකම හෝ කමටහන අමතක නොකරයි. එයින් බැහැර නොවෙයි. (හරති පච්චාහරති)

මෙකී හතරවන භික්ෂූන් වහන්සේ නියම ගොචර සම්පජඤ්ඤයෙන් යුක්ත කෙනෙකි.

## 04. අසම්මොහ සම්පජඤ්ඤය

මෙලොව ජීවත්වන අප හැමදෙනාම වාගේ සිටින්නේ මුළාවකිනි. පළමුකොට ම මේ ශරීරය ගැනත්,  බාහිර ශරීර ගැනත්, වෙනත් දේපල වස්තු ගැනත් අපට තිබෙන්නේ මමය මගේ ය යයි ඇලීමකි. බැඳීමකි. එය සම්මොහයක් හෙවත් මුළාවකි. එසේ ම අප පොල්කටුවලින් වැලිකෙළි කරන දරුවන් වැනිය. සරු යැයි සිතා අප රැස්කරන්නේ නිසරු දේය. විඳින්නට කැමැති වන්නේ නිසරු රූප ශබ්ද, ගන්ධ, රස ආදියයි. සීලය, භාවනාව, භාෂා ශාස්ත්‍ර වැනි සරු දේ ගැන තිබෙන සැලකිල්ල ඉහත කී නිසරු දේට තරම් නැත. අප පරිහරණය කරන උපකරණ අපේ ලැගුම් ගෙය පුරවා තිබෙන බොහෝ දේ අපේ මහණ කමේ අගය, බරසාර කම,

අල්පේච්ඡකම පෙන්නුම් කරන දේ නොවේ. මෙයින් පෙනෙන්නේ අප කොයිතරම් මුළා වී ඇද්ද යන්න යි. මෙන්න මේ මුළාවෙන් මිදී මහණ කමත් කරගෙන භාවනා කමටහනෙහි යෙදීම අසම්මෝහ සම්පජඤ්ඤය යි.

## අභ්‍යාස

01. සිහිකල්පනාවෙන් වැඩ කිරීම භාවනාවක් ලෙස කරන්නේ කෙසේ දැයි විස්තර කරන්න.

02. සම්පජඤ්ඤ හතර ඔබ තේරුම් ගත්තේ කෙසේ දැයි වෙන වෙන ම දක්වන්න.

# 26 ජීවිතය අනියත යි මරණය නියත යි

අපේ ජීවිතය ඉපදීමෙන් ඇරැඹුණා මරණයෙන් කෙළවර වෙනවා. නිරිසතුන්, තිරිසනුන්, මිනිසුන්, දෙවියන්, බඹුන් යන තුන්ලොව ම වෙසෙන සත්වයන්ට මරණය පොදුයි. මරණයට වෙලාවක් තැනක් ලොකු පොඩි භේදයක් නැහැ. කාටත් ඕනෑම වෙලාවක ඕනෑම තැනකදී මරණය සිදු විය හැකි යි.

අපට මැරෙණ බව අමතක වුණාම අපේ ජීවිතමදය වැඩිවෙනවා. ජීවිතයමදය කියන්නේ අප ලේසියෙන් මැරෙන්නෙ නැහැ, අපට මැරෙන්න බොහෝ කල් තිබෙනවා එනිසා බිය නැතිව මේ ජීවිතයෙන් හැකි තරම් කම් සැප විඳිමු" කියන අදහස යි. මේ විදියට ජීවිත මදයෙන් මත් වුණු අය කිසිම භයක් සැකක් නැතිව පවුකම් කරනවා කාලය නිකරුණේ නාස්ති කරනවා. මෙලොව දියුණුවට අවශ්‍ය ඉගෙනීමේ වැඩ පවා අතපසු කරනවා, කල් දමනවා. ජීවිතයේ එදිනෙදා කළ යුතු දේ පවා අසලකමින් අත පසු කරනවා. මේ නිසා අප කවුරුත් මරණානුස්සතිය වැඩීමට පුරුදු විය යුතු යි.

තමාගේ මරණය ගැන සිහිවන විට සමහරුන්ට ඇතිවෙන්නේ බියක්. තමන්ගේ ප්‍රියයන්ගේ මරණ සිහි කිරීම දුකක්, සතුරන්ගේ මරණය සිහිකිරීම සතුටක්. නමුත් එසේ වීම මරණානුස්ති භාවනාව නොවේ. එසේ සිතෙන්නේ මරණය පිළිබඳ නුවණින් මෙනෙහි නොකිරීම නිසයි. ඒ නිසා මරණානුස්සති භාවනාවට පෙර මරණය ගැන නුවණින් වටහාගත යුතු යි. එය මෙසේ යි.

**පවාත දීප තුල්‍යාය සායුසනතතියාකඛයං**
**පරූපමාය සම්පසසං භාවයෙ මරණසසති.**

( අනුන්ගේ මරණ උපමා කරගනිමින් සුළං හමන තැනක දල්වන ලද පහනක් මෙන් තමාගේ ආයුෂ ද කොයි මොහොතක හෝ කෙළවර විය හැකියැයි මරණානුස්මෘතිය වැඩිය යුතු යි ).

මහාසම්පත්ති සම්පත්තා යථා සත්තා මතා ඉධ
තථා අහං මරිස්සාමි මරණං මම හෙස්සති

(ලොව ධනසම්පත්, බල සම්පත්, නැණ සම්පත් ලැබූ මහා උතුමන් පවා මැරුණා සේ ම මම ද මැරෙන්නෙමි. මට ද මරණය වන්නේ ය)

උප්පත්තියා සහෙවෙදං මරණං ආගතං සදා
මරණත්ථාය ඔකාසං වධකො විය එසති

(මේ මරණය මා පසු පස එන්නේ උපන් දා සිට ය. මැරීමට ඉඩක් සොයමින් අවි අමොරාගත් වධකයෙකු සේ මරණය මා ලුහුබඳින්නේ ය)

ඊසකං අනිවත්තං සතතං ගමනුස්සකං
ජීවිතං උදයායත්ථං සූරියො විය ධාවති

(උදාවූ තැන් පටන් අස්තයකරා ගමන් කරන සූර්යයා මෙන් ජීවිතය මොහොතක් හෝ නොනැවතී නිරතුරුවම නො පසුබට ව මරණය කරා ගමන් කරන්නේ ය)

විජ්ජුබුබ්බුළ උස්සාව ජලරාජී පරික්ඛයං
ඝාතකොව රිපූ තස්ස සබ්බත්ථාපි අවාරියො

(විදුලිය කෙටීමක් මෙන් ද, දිය බුබුලක් මෙන් ද, තණ අග පිණිබිඳක් මෙන් ද, දියෙහි ඇඳි ඉරක් මෙන් ද වහා නැසීයන මේ ජීවිතය පසුපස ඝාතකයෙකු සේ එන මරණය කිසි ආකාරයකින්වත් වැළැක්විය නොහැක්කේ ය)

සුයසත්ථාම පුඤ්ඤිද්ධි බුද්ධිවුද්ධෙ ජිනංච යං
ඝාතෙසි මරණං ඛිප්පං කාතු මාදිසකෙ කථා

(මහ කීර්තිමත්හු ද, ශක්ති සම්පන්නයෝ ද, පින්වන්තයෝ ද, ඍද්ධිමත්හු ද, නුවණින් අගතැන්පත් බුදුවරු ද, මරණය විසින් වහා නසා දමන ලද නම් මා වැන්නවුන් ගැන කවර කථා ද)

**පච්චයානඤ්ච වෙකල්‍යා බාහිර ජඣත්තුපද්දවා මරාමොරං නිමෙසාපි මරමානො අනුකඛණනිති**

(ක්ෂණයක් පසා මැරි මැරීයන මාගේ ජීවතය ආහාරාදී ප්‍රත්‍ය නොලැබීම නිසා හෝ බාහිර උවදුරකින් හෝ ශරීරය තුළ රෝග උවදුරුකින් හෝ, මොහොතකටත් අඩු කාලයක් තුළ සහමුලින් ම මැරීයාමට ඉඩ ඇත)

## මරණානුස්සතිය වඩන පිළිවෙළ

මෙසේ මරණය හොදින් වඩා ගෙන විවේක ස්ථානයක හිඳ මෙසේ කමටහන වැඩි යුතු ය.

**"අප්පකං ජීවිතං මනුස්සානං, පරිත්තං ලහුකං බහු දුක්ඛං බහූපායසං, මන්තාය බොද්ධබ්බං, කත්තබ්බං කුසලං, චරිතබ්බං බ්‍රහ්මචරියං නත්ථි ජාතස්ස අමරණං"**

මිනිසුන්ගේ ජීවත කාලය අල්ප ය. ටික ය කෙටි ය බොහෝ දුක් සහිත ය. බොහෝ පීඩාකර ය. ඒ බව නුවණින් වටහා ගත යුතුය. පින් කළ යුතුය. මහණ කමෙහි හොදින් හැසිරිය යුතුය. උපන් කෙනෙකුට නොමැරී සිටීමක් නම් නැත්තේ ය.

★ උදෑසන තණ අග තිබෙන පිණි බිඳුව හිරු උදාවූ සැණින් වියළී යන්නා සේ, මාගේ ජීවිතය තණ අග පිණිබිදුවක් වැනි ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

★ ධාරානිපාතයෙන් වසින විට නැගන දිය බුබුළු මොහොතකින් බිදී යන්නා සේ, මාගේ ජීවිතය දිය බුබුළක් බඳු ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

★ දණ්ඩකින් දියෙහි අඳින ඉරක් අඳින්නටත් පෙර මැකීයන්නා සේ, මාගේ ජීවිතය දියෙහි ඇඳි ඉරක් වැනි ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

★ කඳු මුදුනකින් ගලා බසින වේගවත් සැඩ පහර ඇති ගංගාවක් නවතින මොහොතක් නැත. එය දිගට ම යන්නේ ය. ගලා බසින්නේ ය. එසේ ම මාගේ ජීවිතය කඳුමුදුනකින් ගලන ගඟක් වැනි ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

★ ශක්තිමත් මිනිසෙක් දිව අගට කෙළ පිඬක් ගෙන වහා කෙළ ගසන්නා සේ, මාගේ ජීවිතය කෙළ පිඩක් හා සමාන ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

★ දවස පුරා රත් වී ගිනියම් වූ යකඩ තලියක දැමූ මස් වැදැල්ලක් සැණකින් දැවී අළු වී යන්නා සේ, මාගේ ජීවිතය ද මස්වැදැල්ලක් බඳු ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

★ වධයට ගෙන යන ගව දෙනක් ඉදිරියට තබන සෑම අඩියක් ම තබන්නේ මරණය ළඟට ය. එසේ ම මගේ ජීවිතය ද වධයට ගෙනයන ගව දෙනක් වැනි ය.

**" අද්ධුවං ජීවිතං ! ධුවං මරණං ! මරණ පරියොසානං මෙ ජීවිතං !**
ජීවිතය අනියත යි. මරණය නියත යි. මාගේ ජීවිතය මරණය කෙළවර කොට ඇත්තේ ය.

මෙසේ මරණානුස්මෘති භාවනාවේ යෙදෙන භික්ෂූන් වහන්සේ නිතර ම තමන්ගේ මෙලොව දියුණුව සඳහා ද පරලොව දියුණුව සඳහා ද අප්‍රමාදී වන්නේ ය. ප්‍රිය කරන පුද්ගලයන් හෝ දේවල් අහිමි වීම ගැන කම්පා නොවන්නේ ය. භවයෙන් භවයේ ඉපදීමෙහි ඇල්ම අඩු වන්නේ ය. ජීවිත තණ්හාව හා ජීවිත මදය සිදී යන්නේ ය. පාපය පිළිකුල් කරන්නේ ය. පිරිකර දේපල රැස්කරන්නෙක් නොවන්නේ ය. පිරිකර වස්තු පිළිබඳ මසුරු කම් නැතිවන්නේ ය. ඔහුට අනිත්‍ය යන හැඟීම, දුකය යන හැඟීම පුරුද්දට යන්නේ ය. අනාත්මය යන හැඟීම ද ඒ සමග ම වැටහෙන්නේ ය. මරණාසන්න මොහොතේ බිය තැති ගැනීම් නැති ව, සිහිමුළාවෙන් තොර ව කළුරිය කරන්නේ ය. නිවන් නොළදොත් මරණින් මතු සුගතියෙහි උපදින්නේ ය.

## අභ්‍යාස

01. මරණානුස්මෘති භාවනාව වඩන පිළිවෙළ වන පොත් කරන්න.

02. මරණානුස්මෘති භාවනාව වැඩීමෙන් ලැබෙන ආනිශංස පහක් ලියන්න.